සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2015 මාර්තු)

41 වෙනි කලාපය



## කල් ගිය අජීර්ණ නිසා හටගත් ආබාධවලට අහක දමන පාන් ලෙල්ලෙන් ප්‍රත්‍යක්ෂ ඔසුවක්...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-

# එදා අම්මා...



සසර සැරි සරන ගඳබුවෙකුට කරනා
එතෙර වන්න මග ලෙස මව් පිය සරණා
නිතර සිතා ඒ ගැන දරු දුක දරනා
කතරකට කෙතක් විය මව් ගුණ පුරනා

අළුයම අවදි වී පොල් අතු ගෙඩිද ටික
නෙළුවේ ඉතිරි කරනට ඉදිරියද දැක
ගැලු ඒ කඳුළු දහඩිය දරුවනද රැක
බැලුවේ හෙටක් ගැන සරලව හැළීන දුක



දර ටික කඩා කලගෙඩියට වතුර ඇදා
දොරකඩ පිහා පහනක් තෙරුවනට පුදා
වරදට ඔවා දී දරුවන් යසට හදා
මරණය පවා ඇය දැන ගෙන හිටිය එදා

පැලඉනි වැටට කළ කිසි අඩ දබර නැත
පළවෙනි තැනට සාමය සමගියද ඇත
සැලවුණ පිටත ගිනි ඇතුලට නොගෙන හිත
වැලකුණි ඇතුල ගිනි පිටතට දෙවන තැත





සමගිය සමාදානය ගම් වැසි අවටා
නොම විය කිසිත් අඩු ඇය වැඩි ගුණය වටා
තමනට අවැසි දේ පිරිමහ ගෙන ලොවටා
නම බැබලුවා ඇය මව් ගුණයම දවටා

පන් පැදුරකට කැටයම් කළ දහමෙ රටා
දන් බත උයා පිළිගැන්වූ විදිහ වටා
පින් ඇති සිතින් දිවි ගෙවි කල දවසෙ සිටා
තුන් ලොව වඳී හැළීනුව මව් ගුණයකටා

දරුවන් නොම යවා තරඟෙට ලොවෙහි ඇතී
විරුවන් කළා දහමින් දිවි ගෙවන නිතී
තෙරුවන් සරණ විත් සසරෙහි වැඩුව ගතී
දිරුවත් කුණු කයින් මතු සුගතියම වෙතී

දහමට අනුව දරුවන් හැදු වැඩු අම්මා
වහනට දැරි වෙහෙස දුසිරිත් නැත නිම්මා
අහනට දුන් වදන් මුදු ගුණයට නම්මා
සහයට නැගුණි බිළීනට මතු භව බැම්මා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# රහතුන්ගේ උදම් වැකි

**1 වන කොටස**



ති ලෝගුරු සම්මා සම්බුදු පියාණන් වහන්සේ ඉසිපතන මිගදායෙදි පළමු වරට ලෝකයට චතුරාර්ය සත්‍ය දේශනාව ධම්ම චක්කප්පවත්තන සූත්‍රයෙන් දේශනා කරද්දි, මනුස්සයන් අතරින් මුලින්ම කොණ්ඩඤ්ඤ තාපසතුමා දහම් ඇස පහළ කර ගත්තා. ඒ කියන්නෙ සෝවාන් ඵලයට පත්වුණා. ඊළඟට පිළිවෙලින් භද්දිය, වප්ප, මහානාම කියන තෙරුන් වහන්සේලාත්, අවසානයේ අස්සජි තෙරුන් වහන්සේත් සෝවාන් ඵලයට පත් වුණා. ඊට පස්සෙ අනත්ථ ලක්ඛණ සූත්‍ර දේශනාවෙන් පසුව මේ සියල්ලෝම අරිහතුන් වහන්සේලා බවට පත් වුණා. එතැනින් පටන් ගත් ආර්ය ශ්‍රාවක පරපුර, තමන් ලබපු ඵලය ගැන උදාන වාක්‍ය කියපු අවස්ථා ථේර ථේරි ගාථාවල සඳහන් වෙලා තියෙනවා. සමහර අරිහතුන් වහන්සේලා උන්වහන්සේලාගෙ පටිභාන ඥානය මගින් තමන් වහන්සේලා තුලින්ම නැගුණු උදාන වාක්‍ය කියපු අවස්ථා වගේම, බුදු පියාණන් වහන්සේ දේශනා කරපු දහම් කොටස් පවා මේ උදාන වාක්‍ය තුල තියෙනවා. අරිහතුන් වහන්සේලා පමණක් නෙවෙයි, බුදුන් වහන්සේත් බුද්ධත්වයෙන් පස්සෙ උදාන වාක්‍ය ප්‍රකාශ කරල තියෙන බව දහමේ සඳහන් වෙනවා.

ඊට කලින් දැනගන්න ඕන, මොකක්ද මේ උදාන වාක්‍ය කියන්නෙ කියල. ඇයි එහෙම දෙයක් උන්වහන්සේලා ප්‍රකාශ කරන්නෙ? හැම අරිහතුන් වහන්සේ නමක්ම එහෙම උදාන වාක්‍ය ප්‍රකාශ කරල නොතිබුණත්, බොහෝ අරිහතුන් වහන්සේලා වගේම බුදු පියාණන් වහන්සේලාත් මේ උදාන වාක්‍ය ප්‍රකාශ කරල තියෙනවා. මේකට උදාහරණයක් විදියට ලෞකික අත්දැකීමක් අර ගෙන බැලුවොත්, කෙනෙක් කුමක් හෝ තරඟ විභාගයකට බොහොම මහන්සි වෙලා පාඩම් කරනවා. නිදි මරා ගෙන අවශ්‍ය පොත් පත් ගෙනල්ල හොයල බලල තමයි ඒ වැඩේට සූදානම් වෙන්නෙ. ඉතින් විභාගෙට ඉඳගෙන හොඳින් ඒ විභාගෙත් ලියනවා. අවසානයේ විභාග දෙපාර්තමේන්තුවෙන් ඒ පුද්ගලයට දැනුම් දෙනවා, ඔබ ඒ තරඟ විභාගෙන් ඉහලින්ම සමත් වෙලා තියෙනව කියල.

දැන් අර තරම් වෙහෙස මහන්සි වුන කෙනාට කොච්චර නම් සැනසිල්ලක් හිතට එනවද? අනේ මම මහන්සි වුන තරමක් ආයෙ ඉතින් මට මහන්සි වෙන්න දෙයක් නෑ, ඒ විභාග ප්‍රතිඵලය නිසා මට මේ මේ දේවල් ලැබුන කියල ඉබේටම කියවෙන්න පුළුවන්. සමහරු ඒක ලොකු කමට කියන්නත් පුළුවන්. එහෙම ඒවට උදම් අනනවා කියල හෝ උදාන වාක්‍ය කියල කියන්න බෑ. ඒවට කියන්නෙ පුරාජේරු ලොකුකම් කියවනව කියල. ඒ කියන්නෙ, ''අනෙක් එවුන්ට පුළුවන්ද මම වගේ විභාග පාස් වෙන්න. මේව මේ ලේසියෙන් කරන්න බෑ.'' ඔන්න ඔය විදිහට කියන කතා උදාන වාක්‍ය හැටියට ගන්න බෑ. **ලෝක සම්මතයෙදි කෙනෙක් ආඩම්බරකමට උදම් ඇනීම කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහවලට අයිති දෙයක්. උදම් අනනවා කියල ලෝක සම්මතයේ කතාවට කිව්වට ඒවා උදාන වාක්‍ය නෙවෙයි. අවංකවම තමන්ට ලැබුන ජයග්‍රහණය, තමන් වෙච්ච මහන්සිය අනුව බලල හිතේ සතුටට කියන වචන තමයි උදාන හැටියට ගන්නෙ. එතනදි චිත්ත ප්‍රසාදයෙන්, යථාර්ථයෙන් වැදගත් දෙයක් තමයි ප්‍රකාශ වෙන්නෙ.**

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේත්, අනෙක් අරිහතුන් වහන්සේලාත් කල්ප ලක්ෂ ගණන් පෙරුම් පුරමින් වෙච්ච වෙහෙස මහන්සියේ ඵලය තමයි අවසානයේ ලබා ගත්තෙ. ඒ ලබපු සැනසීම නිසා ඇති වුන සතුට තමයි ඒ විදියෙ උදාන වාක්‍යයකින් ලෝකයට ප්‍රකාශ කරන්නෙ. ඒ වගේම පසේ බුදුවරයන් වහන්සේලාට දේශනා ශක්තිය නැති වුනත්, උන්වහන්සේලාටත් ඇති වෙන මානසික සුවය විස්තර කරන්නෙ මේ උදාන වාක්‍යවලින්. ඉතින් මේ ථේර ථේරි ගාථා තුලින් එන උදාන වාක්‍ය, උන්වහන්සේලා අවස්ථා තුනකදි ප්‍රකාශ කරපු හැටියට ගන්න පුළුවන්.

සමහර අරිහතුන් වහන්සේලා අරිහත් ඵලය ලබපු විගසම, ඒ ලබාගත්ත සැනසීම තුලින් ඇති වුන ප්‍රීතියෙන් උදාන වාක්‍ය කියපු අවස්ථා තියෙනවා. ඒ වගේම සමහර අරිහතුන් වහන්සේලා යම් කිසි අනිච්ච අරමුණක් දැකල උදාන වාක්‍ය ප්‍රකාශ කරපු අවස්ථා තියෙනවා. උදාහරණ විදියට දුක්ඛිත ප්‍රේතයෙක් දැකල, අනේ මෙහෙම දුක් සසරකින් අපි මිදුනනෙ කියල, ඒ ඇති වෙච්ච චිත්ත ප්‍රසාදයට උදාන වාක්‍යයක් කියනවා. ඒ කියන්නෙ අරිහත් ඵලය ලබල අතර මගදි මුණ ගැහෙන අවස්ථාවක් දැකල, මේ වගේ භයානක සසරකින් අපි මිදුන නේද කියල උදාන වාක්‍යයකින් චිත්ත ප්‍රසාදය ප්‍රකාශ කරන්න පුළුවන්. ඊට අමතරව තවත් යම් කිසි භික්ෂූන් වහන්සේ නමක් හෝ ගිහියෙක් ඒ භයානක සසරින් මිදෙන අවස්ථාවක් දැකල, ඒ කියන්නෙ අරිහත් ඵලයට හෝ වෙනත් මග ඵලයකට පත් වෙනව දැකල, මොහුත් මේ වගේ භයානක සසරකින් මිදුන නේද කියල ඒ සතුටට උදාන වාක්‍ය කියපු අවස්ථා තියෙනවා. ඒ වගේම උන්වහන්සේලා රාග, ද්වේශ, මෝහ මුළුමනින්ම ක්ෂය කිරීමෙන් මතු දුක් සියල්ල බිඳ හැරියත්, විපාකව ලැබුන කය නිසා පීඩා විඳිනවා. **ධර්මයේ සඳහන් උපමාවකට අනුව අරිහතුන් වහන්සේ නමක් පිරිනිවෙන දවස එනකල් බලාගෙන ඉන්නෙ, හරියට වෙහෙස මහන්සි වෙලා වැඩ කරන කම්කරුවෙක් තමන්ගෙ**

වැටුප් දිනය එනකල් බලාගෙන ඉන්නව වගේ. ඉතින් එහෙම පිරිනිවුනම තමයි උන්වහන්සේලා මෙච්චර කලක් කායිකව විඳපු දුකෙන් මිදෙන්නෙ. අන්න ඒ පිරිනිවෙන අවස්ථාවෙදි, මතු සියලු දුක් අහවර වෙන දවසනෙ කියල ඇති වෙන සතුට සොම්නස නිසා කියපු උදාන වාක්‍යත් තියෙනවා.

ඉතින් අරිහත් භික්ෂූණ් වහන්සේලාගෙ උදාන වාක්‍ය ථේර ගාථා වශයෙනුත්, අරිහත් භික්ෂුණීන් වහන්සේලාගේ උදාන වාක්‍ය ථේරී ගාථා වශයෙනුත් සඳහන් වෙනවා. ඒ වගේම බුද්ධ සාසනයේ යහපත උදෙසා කරන්න පුළුවන් කොටස් නවයෙන් එකක් විදියට තමයි උදාන වාක්‍ය සඳහන් වෙන්නෙ. ඒ කියන්නෙ නවාංග සාස්තෘ සාසනයේ එක කොටසක් හැටියට. සාස්තෘ දේශනා සියල්ලම එකට කැටි කරල ගත්තම මේ නව කොටසට අයිතියි. ඒ නවය පහත දැක්වෙනවා.

**1. සුත්ත**

අද සූත්‍ර කියල හඳුන්වන්නෙ මේ වගේ කොටස්. බුද්ධත්වයෙන් පස්සෙ පළමුව කරපු දේශනාවෙ පටන් මහා පරිනිර්වාණය දක්වා එක එක අවස්ථාවන්වලදි විවිධ පුද්ගලයන්ට බුදුන් වහන්සේ විසින් හෝ සැරියුත් මහරහතන් වහන්සේ විසින් හෝ මහා කොට්ඨිත මහ රහතන් වහන්සේ විසින් හෝ ධම්මදින්නා මහරහත් තෙරණිය විසින් හෝ එබඳු තවත් රහතන් වහන්සේලා විසින් කරපු දේශනා තමයි මේ කොටසට ඇතුළත් වෙන්නෙ. මුළු දේශනාවම සංක්ෂිප්ත කරල අවශ්‍ය මූලික කාරණා ටික අරගෙන හදපු කුඩා දේශනා තමයි මේවායේ තියෙන්නෙ. පෙළ දහමෙ එන මහා පරිනිබ්බාන සූත්‍රය, ධම්ම චක්කප්පවත්තන සූත්‍රය... ආදි නම්වලින් තියෙන්නෙ මේ සූත්‍ර.

**2. ගෙය්‍ය -**

සමහර සූත්‍ර දේශනාවල අවසානයේ හෝ මැද හෝ සුදුසු අවස්ථාවකදි දහම් කාරණාව මතක තියා ගන්න පුළුවන් ආකාරයට කරපු කෙටි ගාථා. ඒ කියන්නෙ මොනව හරි දේශනාවක් කරල ඒකෙ සාරාංශය අරගෙන ගායනා කරන්න පුළුවන් ආකාරයෙන් සකස් කරනවා. ගායනා ශෛලියෙන් තමයි ඒක දෙන්නෙ. එතනදි පුළුවන් තරම් සාරාංශ කරල තමයි ඒ දේශනාව ගන්නෙ. ගායනා ශෛලියෙන් දෙන නිසා තමයි ඒවට ගෙය්‍ය කියල කියන්නෙ. මොකද යම් කිසි දෙයක් ගායනා ශෛලියෙන් කරන කොට, වාක්‍යයකින් කියනවට වඩා ඒ කොටස මතක තියාගන්න ලේසියි. ඒ නිසා පහසුවට තමයි එහෙම ගන්නෙ. ඒ කියන්නෙ යමක් කෙටියෙන් මතක තියාගන්න කරන දේශනා.

**3. වෙය්‍යාකරණ**

යම් කිසි දහම් කරුණක් මාතෘකා කරගෙන ඒ දේශනාවෙ මාතෘකා දේශනා කළාට පස්සෙ, ඒ මාතෘකා එකින් එක අරගෙන විස්තරාත්මකව පහදා දීම තමයි මේ කොටසට අයිති වෙන්නෙ. ධර්ම චක්‍රය දේශනා කරපු අවස්ථාවෙදි කොණ්ඩඤ්ඤ බමුණා සෝවාන් වුනා වගේම, ඒ එකින් එක අනත්ථ ලක්ඛණ සූත්‍රය තුලින් විස්තරාත්මකව ගැඹුරින් විග්‍රහ කළාම උන්වහන්සේලා සියල්ල අරිහත් ඵලයට පත්වුනා. කෙටියෙන් කියනව නම්, යම් දහම් පදයක් අරගෙන විස්තරාත්මකව විස්තර කිරීම තමයි මේකෙන් අදහස් වෙන්නෙ.

**4. ගාථා**

ගාථාවල තියෙන විශේෂ ලක්ෂණය තමයි යම් කිසි රටාවක්, තාලයක් තිබීම. කොටින්ම සිංහලෙන් කවි කියල සඳහන් වෙන්නෙත් මේ ගාථා කියන කොටස. හරියට දහම් කවි වගේ. උන්වහන්සේ යම් සිද්ධියක් මුල් කර ගෙන කෙටි ගාථා එකක් හෝ දෙකක් දේශනා කරල නිශ්ශබ්ද වෙනවා. ධම්ම පදය මේ ගාථාවලට හොඳ උදාහරණයක්. මෙතනදි ගෙය්‍ය වගේ නෙවෙයි, සම්පූර්ණ දේශනාවම ගාථාවෙන් තමයි කරන්නෙ.

**5. උදාන**

බුදුන් වහන්සේ ඇතුළු අරිහතුන් වහන්සේලා යම් කිසි ප්‍රසාද ජනක අවස්ථාවකදි, ඒ කියන්නෙ සතුටට සොම්නසට පත් වෙච්ච අවස්ථාවකදි කරපු ප්‍රසාද වාක්‍ය මේ උදාන කියන කොටසට අයිති වෙනවා. බුදුන් වහන්සේ හෝ අරිහතුන් වහන්සේ නමකගෙන් සතුටක් සොම්නසක් ඇති වුන අවස්ථාවකදි, විශේෂයෙන් අරිහත් ඵලය ලබපු අවස්ථාවෙදි හෝ පිරිනිවෙන අවස්ථාවෙදි පිට වන වචන, වෙනත් සාමාන්‍ය ලෝකයාගෙන් පිටවෙන වචන වගේ වැඩකට නැති වල්පල් නෙවෙයි. අනිවාර්යෙන්ම වැදගත් දහම් කරුණක්මයි උන්වහන්සේලාගෙ මුවින් පිටවෙන්නෙ. උන්වහන්සේලා අනිත් හැම අවස්ථාවකදිමත් එහෙමයි. ඒ නිසා තමයි උදාන වාක්‍ය සාස්තෘ සාසනයට අයිති වෙන්නෙ.

**6. ඉතිවුත්තක**

ඉතිවුත්තක කියන්නෙ, බුදු රජාණන් වහන්සේගෙ දේශනාවලින් අදහස් කරන දේ මේ විදියයි කියල තහවුරු කරල දරා ගැනීම පිණිස සිහියෙ රඳවා ගත යුතු විශේෂ දහම් කොටසක්. ගෞතම බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ මේ ඉතිවුත්තක කුජ්ජුත්තරා උපාසිකාව විසින් දරාගෙන මතක තියා ගෙන තියෙනවා. ඉන්පසු ඒ මතක තියාගත්ත කොටස වෙනත් කෙනෙකුට දේශනා කරන්නත් පුළුවන්.

**7. ජාතක**

ජාතක කියල හඳුන්වන්නෙ භාග්‍යවතුන් වහන්සේගෙ අතීත ජීවන තොරතුරු ඇතුළත් කතා. ඒ තොරතුරු සූත්‍ර දේශනාවල, බුද්ධ දේශනාවල දහම් කරුණු හා සම්මිශ්‍රව දේශනා කරල තියෙනවා. ජාතක පාළියේ තියෙන්නෙ මේ වගේ කතා.

**8. අද්භූත ධම්ම**

බුදු කෙනෙකුගෙ ජීවිතය තුළ සහ ලෝකය තුළ තියෙන ආශ්චර්ය, අද්භූත දේ බුදු රජාණන් වහන්සේ නමක් විසින් හෙළිදරව් කරනවා. සාස්තෘ සාසනයට අයත් අද්භූත ධම්ම කියල සඳහන් වෙන්නෙ ඒවා. ඍද්ධි ප්‍රාතිහාර්ය පෑ අවස්ථා මේ කොටසට අයිති වෙනවා.

**9. වේදල්ල**

මේකෙන් බොහෝ විට අදහස් කරන්නෙ, කෙනෙක්ගෙ කුමන හෝ ප්‍රශ්නයක් දහම් කරුණු ඇසුරෙන් විසඳා දීම. වේදය හෙවත් විද්‍යාව අලලා කියන අදහස තමයි මේ කියන්නෙ. ඒ කියන්නෙ විද්‍යානුකූල මාධ්‍යයක් අරගෙන පෙන්වා දීම. උන්වහන්සේ ප්‍රශ්න අහන ගමන්, පිළිතුරු දෙන ගමන්, ඒ වගේම අහපු කෙනාගෙත් ප්‍රශ්නවලට පිළිතුරු දිදී කරන දහම් සාකච්ඡා මේ කොටසට අයිති වෙනවා.

ඉතින් ඒ ඒ ඉන්ද්‍රිය අනුව අරිහතුන් වහන්සේලා කරපු උදාන වාක්‍ය විවිධාකාරයි. ඉදිරි කලාපවලින් උන්වහන්සේලා එකින් එක කරපු ඒ උදාන වාක්‍ය දහමට ගලපල නිවන් මග වඩන ආකාරය බලාපොරොත්තු වෙන්න.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ථේර ථේරී ගාථා ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**

**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# ධම්ම පදය තුලින් නිවන් මග

**8 වන කොටස**

අරිහතුන් වහන්සේලා විඳින නිවන් සුවයත්, උන්වහන්සේලා බාහිර වේදනා ආදියට දක්වන අකම්පා භාවයත් විස්තර කෙරෙන කෙටි ගාථා පෙලක් වන අරහත්ත වර්ගයේ එන ගාථාවකින් තමයි මේ විස්තරය ඉදිරිපත් කරන්නෙ. ඉතින් උන් වහන්සේ මේ ගාථාව දේශනා කරන්න හේතු වුනේ ජීවක වෙද මහත්තය අහපු පැනයක් මුල් කරගෙන. බුදුන් වහන්සේ දවසක් ගිජ්ජකූට පර්වතය පාමුලින් වඩිද්දි, දේවදත්ත තෙරුන් උන් වහන්සේගෙ හිස මතට ගලක් පෙරලුවා. මේ ගල තවත් ගල් දෙකක වැදිල නතර වුනා. නමුත් ඒකෙන් ගැලවිලා ආපු පතුරක් උන් වහන්සේගෙ සිරි පතුලෙ වැදිල තැල්මක් ඇති වුනා. ඒ තැල්ම උඩ ලේ කැටියක් ඇති වුනා. මේ කාරණය බුදුන් වහන්සේ නමකගෙ ලේ සෙලවීම කියන ආනන්තරීය පාප කර්මයක්, මහ පොලොව නුහුලන අපරාධයක්. අවිද්‍යාව නිසා, දේවදත්ත තෙරුන්ගෙ තිබුන මුලාව නිසා කරගත්ත මහ පාපයක්.

මේ ගැන විස්තර වෙද්දි සමහර පොත්පත්වල සඳහන් වෙනවා, බුදු පියාණන් වහන්සේගෙ සිරි පතුල කැපිල එතනින් ලේ එළියට ආව කියල. නමුත් උන් වහන්සේගෙ බුද්ධ ශරීරය තුවාල කරල ලේ එළියට ගන්න සමතෙක් මේ තුන් ලෝකෙම නෑ. බුදුන් වහන්සේ අනන්‍ය සතුන් වෙනුවෙන්ම සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයකටත් වඩා දන් පින් දීල, තමන්ගෙ දරුවන් වගේ ලෝක සත්වයා කෙරෙහි අනුකම්පාවෙන්ම පාරමිතා පිරුවා. ඒ මහා පාරමිතා ශක්තියෙන් හටගත්ත සර්වඥතා ඥානය දරාගන්න සුදුසු බුද්ධ ශරීරය, උන්වහන්සෙගෙ අවසරයකින් තොරව කිසිම බාහිර කෙනෙකුට තුවාලයක් කරල ලේ පිටතට ගන්න බෑ. කොටින්ම මදුරුවෙකුටවත් උන්වහන්සේගෙ ශරීරය විදල ලේ බොන්න බෑ. ඒ තරම් ඒ පාරමිතා ශක්තිය බලවත්. ඒ නිසා මෙතනදි ඇති වුනේ තැල්මක්, ඒ තැල්ම උඩ ලේ කැටියක් ඇති වුනා. ජීවක වෙද මහත්තය ඒ ලේ කැටිය ඉවත් කරන්න කටයුතු කළෙත් උන් වහන්සේගෙ අවසරය පිට.

ඉතින් උන්වහන්සේට බෙහෙත් කරන ජීවක වෙද මහත්තය, ඒ තැල්මෙන් ඇතිවුන ලේ කැටිය දිය වෙන්න බෙහෙතක් බැන්දා. ඒක ටිකක් සැර බෙහෙතක්. යම්කිසි වෙලාවක් තියල නියමිත වෙලාව ආවම ඒ බෙහෙත ඉවත් කරන්න ඕන. නැත්නම් එතන හම අර බැඳපු බෙහෙතට පිච්චිලා මහත් වේදනාවක් දෙනවා. ඉතින් ජීවක වෙද මහත්තය ඒ බෙහෙත බැඳල බුදුන් වහන්සේගෙන් අවසර අරගෙන වෙනත්



ලෙඩෙක් බලන්න ගියා. එතකොට හවස තමයි ඒ බැඳපු බෙහෙත නැවත ගලවන්න තිබුණේ. නමුත් ජීවක වෙද මහත්තයට හරියට ඒ වෙලාවට එන්න බැරි වුනා. ඇතුලු නුවරට එන ගේට්ටු වහල තිබ්ච්ච නිසා ඇතුලට එන්න බැරි වුනා. උදේට තමයි ගේට්ටුව අරින්නෙ, එතකල් නුවරට ඇතුල් වෙන්න බෑ. ඉතින් හරිම කනස්සල්ලෙන් කල්පනා කළා. ''හරි වැඩේ දැන් බුදුන් වහන්සේගෙ සිරි පතුලට බැඳපු බෙහෙත ගලවන්න වෙලාව, ගැලෙව්වෙ නැත්නම් උදේ වෙනකල් උන්වහන්සේට මහත් වේදනාවක් එන්න පුළුවන්. මට යන්න විදිහකුත් නෑ.'' මෙහෙම හිත හිතා හිටියා.

සියල්ලෙන් සියල්ල දකින බුදුන් වහන්සේගෙ ඥානයට කිසි දෙයක් වහන්න බෑ. උන්වහන්සේට ජීවක වෙද මහත්තයගෙ මේ සිතිවිල්ල ඒ වෙලාවෙම තේරුණා. ඒ නිසා උන්වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට කිව්වා, ජීවක වෙද මහත්තයට ඇතුලු නුවරට වෙලාවට එන්න බැරි වුනා, දැන් ගේට්ටුව වහල, වෙද මහත්තය දැන් හිතුවා බෙහෙත ගලවන්න වෙලාව හරි කියල, ඒ නිසා මේක ගලවල දාන්න කියල. ඉතින් බෙහෙත ගැලෙව්වම අර තැල්මෙ ලකුණක්වත් නෑ, හොඳටම සනීප වෙලා. දැන් උදේ පාන්දර ජීවක වෙද මහත්තය දුවගෙන ඇවිත් බුදුන් වහන්සේට කාරණය සැල කරල ඇහුවා, ඔබ වහන්සේ රෑ පුරාම දාහයෙන් වේදනාවෙන්ද වැඩ හිටියෙ කියල. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ ජීවක වෙද මහත්තයට මෙන්න මේ විදිහට උත්තරයක් දුන්නා. ''මගේ දාහය වේදනාව දුරු වුනේ එදා බෝ මැඩදි.'' ඒ උත්තරය දීල මෙන්න මේ ගාථාව දේශනා කළා.

**ගතද්ධිනෝ විසෝකස්ස**
**- විප්පමුත්තස්ස සබ්බධි**
**සබ්බ ගන්ථප්පහීණස්ස**
**- පරිළාහෝ න විජ්ජති**

මේ ගාථාවේ සරළ සිංහල තේරුම, සසර කතර මග ඉක්මී, පහ වූ ශෝක ඇති (ස්කන්ධ ආදී), සියලු තැන්හි නො ඇලී එයින් මිදුනු (අභිධ්‍යා කායගන්ථාදී), සියලු ග්‍රන්ථ ප්‍රහීණ කළ රහත් උතුමන්ට චෛතසික පරිදාහයක් (සිත් තැවුලක්) නැත්තේය.

ඉතින් උන්වහන්සේ දේශනා කරපු කාරණය පැහැදිලියි. මුලින්ම උන්වහන්සේ දුන්න පිළිතුර අරගෙන බැලුවොත්, ''මගේ දාහය වේදනාව දුරු වුනේ එදා බෝ මැඩදි'' එදා බෝ මැඩදි කියල උන්වහන්සේ අදහස් කළේ මොකක්ද? බෝ මැඩදි සිද්ධ වුනේ මොකක්ද? ඊට කලින් උන්වහන්සේට තිබුන දාහය වේදනාව මොකක්ද ? මෙන්න මේ කාරණා ටික තේරුම් ගත්ත නම්, මේ ගාථාවෙන් උන්වහන්සේ පෙන්වපු අරිහතුන් වහන්සේ විඳින මානසික සුවය අනුමාන කරන්න පුළුවන්. හරියට ලුණු ස්වල්පයක් දිව ගාපු කෙනෙක්, මහ සාගරයේ තියෙන ලුණු රස මෙහෙම වෙන්න ඇති කියල අනුමාන කරනව වගේ. තමන්ගෙ ඥානය අනුව, මිම්ම අනුව ඒ හිතන එක හරි. ඥාන මට්ටම වෙනස් වෙන විදිහට අනුමානය වෙනස් වෙන්න පුළුවන්. නමුත් වැරදි නෑ. ඒක හරියටම හරි. ඒකයි මේ ධර්ම මාර්ගයේ තියෙන අද්භූත බව, ආශ්චර්යමත් බව. **අද්භූතයි කිව්වෙ, අත්දැකීම් නැති කෙනෙකුට හිතාගන්න බෑ කොහොමද එහෙම කියන්නෙ කියල.** නමුත් ඒක හරියටම හරි. ඒක තමයි පුදුමය,

ආශ්චර්ය.

ඉතින් උන්වහන්සේ ජීවක වෙද මහත්තයට කිව්වෙ, බෝ මැඩදි හෙවත් ලොව්තුරා බුද්ධත්වය ලැබුනට පස්සෙයි උන්වහන්සේ තුල තිබුන දාහය වේදනාව දුරු වුනේ කියල. මෙතන කියන්නෙ සර්වඥතා ඥානය ගැන නෙවෙයි, ලැබුන අරිහත් ඵලය ගැන, අරිහත් ඵලයෙන් පසුව ලැබුන සැනසීම ගැන. බුද්ධ දේශනාව අනුව රාගය ක්ෂය වීම නිවන, ද්වේශය ක්ෂය වීම නිවන, මෝහය ක්ෂය වීම නිවන. මේ රාග, ද්වේශ, මෝහ සහමුලින්ම ක්ෂය වුනාමයි සෝපාදිසේස නිවන් සුවය ලැබෙන්නෙ. ඒ කියන්නෙ මනස තුල රාග, ද්වේශ, මෝහ අංශු මාත්‍රයක්වත් නෑ, බිංදුවටම බැහැල, ශුන්‍ය වෙලා. එතකොට මේකෙන් මැන ගන්න පුළුවන්, උන්වහන්සේ අදහස් කළේ කායික දාහය නෙවෙයි කියල. හේතුව රාග, ද්වේශ, මෝහ ඇතිවෙන්නෙ කෙනෙකුගෙ කයේ නෙවෙයි හිතේ.

කෙනෙකුට යම් ප්‍රියමනාප දෙයක් ලැබුනම හරි සුවයි. නමුත් ඒකට උරුම ලක්ෂණයක් තියෙනවා. ඒ තමයි ජරාවට සහ මරණයට පත්වීම. ඉතින් ජරාව, මරණය එන තැන ඊළඟට නිතැනින්ම එන්නෙ සෝක (තමන් බලාපොරොත්තු වෙච්ච සුවය ක්ෂයවීම), පරිදේව (කලින් තිබ්ච්ච සුවය ක්ෂය වීම යළි යළිත් හිතන කොට එන දාහය දෙගුණ වීම හෙවත් දෙගුණ වන පර්යාය), දුක්ඛ දෝමනස්ස (මනස දෙවෙනි ඇසුරක් අල්ල ගැනීම නිසා එන දාහය, තමන් අල්ල ගත්තු දේට විරුද්ධ දෙයක් නැගෙන කොට ඒ විරුද්ධ දේට පහර ගහන්න අල්ල ගන්න දෙවෙනි ඇසුර), උපායාස (දැඩි ලෙස වෙහෙසට පත්වීම. වෙහෙස කියන්නෙ ඒ කාරණය දරාගන්න බැරිව බිම පෙරළෙනවා, කෑ ගහනවා, පපුවෙ අත ගහ ගන්නවා. දැඩිව ඇසුරු කිරීම නිසා එන වේදනාව තමයි මේ) කියන මානසික අපහසුතාවයන්. අනේ මට නැති වුනානෙ, මේක කැඩුනනෙ, බිඳුනනෙ කියල ශෝක වෙනවා. ඊට පස්සෙ හඬා වැලපෙනවා, දුක් වෙනවා, නුරුස්සන ගති එනවා, නැවත නැවත ගොඩ නගන්න වෙහෙසෙනවා. අල්ල ගත්ත දෙයක් නැති වෙනකොට පපුව පිච්චෙන්න ගන්නවා. දැන් මේ කාරණා සේරම එන්නෙ, තමන්ගෙ ශරීරයටද නැත්නම් හිතටද කියල කෙනෙකුට තේරුම් ගන්න පුළුවන්. ශාරීරික වේදනාවට වඩා මානසික වේදනාව කොච්චර බලවත්ද කියල දැනගන්න උපමාවක් පෙන්වන්න පුළුවන්.

කෙනෙක් තමන්ගෙ අම්මයි තාත්තයි සුඛෝපභෝගී ගෙදරකට ගෙනිහින් ඒ ගෙදර හොඳ සුව පහසු ආසනවල ඉන්දවල, ඒ මුළු ගෙදරම වායු සමනය කරනවා. ඉතාම රසවත් ආහාර පාන ඉදිරියෙන් තියල ඒවා කන්න බොන්න සලස්වනවා. ඉතින් මේ දෙමව්පියන්ගෙ කයට කොච්චර පහසුවක් සහනයක් දැනෙන්න ඕනද? දැන් ඒ පහසුකම් ඒ විදිහටම තියල, ඒ දෙමව්පියන්ගෙ දරුවෙක් ඉදිරියට ගෙනල්ල අමානුෂික විදිහට පහර දෙනවා. දැන් අර දෙමව්පියෝ කොහොම හැසිරෙයිද? කයේ පහසුව කිසිම අඩුවක් නෑ. නමුත් අර විදියට පහර දෙනකොට ඒ දෙමව්පියෝ පපුවට ගගහ, අනේ අපිට මේ මොන ගින්දරක්ද දෙන්නෙ කියල හඬා වැලපිලා සාප කරල පොලොවෙ පස් කන මට්ටමට එන්නෙ නැත්ද ? හැබැයි අර පහසුකම් කිසිවක් අඩු කළෙත් නෑ, දෙමව්පියන්ට අත තිව්වෙත් නෑ. නමුත් අර දරුවට පහර දෙනකොට, මොන තරම් දාහයක් වේදනාවක් ඒ දෙමව්පියෝ විඳිනවද? ඒ වගේම ඒ පහසුකම් එහෙම්ම තියෙද්දි රූපවාහිනියක් වගේ දෙයකින් තමන්ට කිසිම සම්බන්ධයක් නැති ළමයෙකුට පහර දෙන දර්ශනයක් පෙන්නුවොත්, ඒ අයගෙ හැසිරීම කොහොම වෙයිද? වැඩිම වුනොත් ඒ වෙලාවට, අනේ පවු තිරිසන්නු වගේ අර ළමයට ගහනව කියල වචනයක් දෙකක් කියල නිකන් ඉඳියි. ඊට අමතරව හිතට අර වගේ වේදනාවක්, දාහයක් එන්නෙ නෑ, මොකද තමන්ගෙ කෙනෙක් නොවන නිසා.

ඉතින් ඉහත සිද්ධි දෙකේදීම කයට ලැබුන පහසුව එක වගේමයි. ළමයින්ට අමානුෂික විදියට පහර දීමත් එක වගේමයි. ඒත් එක ළමයෙකුට පහර දෙනකොට අර දෙමව්පියන්ට ඇති වුන වේදනාව දාහය දරාගන්න බැරි වුනා. ඇයි එහෙම වුනේ කියල ඒ දෙමව්පියන්ගෙන් ඇහුවොත් මොනවා කියයිද ? මගේ දරුවට පහර දෙන කොට මම කොහොමද දරාගන්නෙ කියල කියයි. දැන් අර දරුව මගේ වුන නිසා තමයි පහර දෙනකොට එහෙම දාහයක් ආවෙ. මගේ නෙවෙයි නම් මට ප්‍රශ්නයක් නෑ. මගේ කියල ඒ ළමයව ඇඟට ගැට ගහල තියෙනවද ? නෑ, එහෙනම් කොහෙටද ගැට ගහල තියෙන්නෙ ? බොහොම දරුණු තැනකට තමයි ගැට ගහල තියෙන්නෙ කියල හිතාගන්න පුළුවන්. ඒ කිව්වෙ හිතටයි මේ ගැට ගහල තියෙන්නෙ. ඒ ගැටය තියෙනකල් ඒකත් එක්ක අනෙක් කෙළවරට සම්බන්ධ වෙලා තියෙන දේකට යම් කිසි අපරාධයක්, කැඩීමක්, බිඳීමක් වුනොත් දරා ගන්න බෑ. මෙන්න මේ කෙලෙස් ගැටය තමයි බුදුන් වහන්සේ එදා බෝ මැඩදි ලිහුවෙ.

ඉතින් මේ කෙලෙස් ගැටවලට තමයි ඉහත ගාථාවෙ ''ග්‍රන්ථ'' කියල කිව්වෙ. සබ්බ ගන්ථප්පහීණස්ස - සියලු ග්‍රන්ථ ප්‍රහීණ කළා කියන අදහස තමයි එන්නෙ. ඔය වගේ දරුවන්, යාන වාහන, ගේ දොර, ඉඩ කඩම් ඒ හැම දෙයක්ම, මගේ කියන තැනට ගැට ගහල තියෙන්නෙ. ඒ ගැට ගහල තියෙනකල් අග හෙල්ලෙන කොට මුල ඇදුම් කනවා, වේදනා දෙනවා, දාහයට පත්වෙනවා. ඒ ගැටය ලිහුවම අග කොච්චර හෙල්ලුනත්, අග ගැට ගහල නැති නිසා ඇදුම් කන්න, දාහයට පත්වෙන්න දෙයක් නෑ. අන්න ඒ නිසයි බුදුන් වහන්සේ ජීවක වෙද මහත්තයට කිව්වෙ, මගේ දාහය වේදනාව එදා බෝ මැඩදීමයි නැති වුනේ කියල. ඉතින් ඇස රූපයට ගැට ගැහිල ඒ ගැන හැඟීමක් ඇතිවෙලා ජාතියක් හදනවා. මේ ජාතිය ජරාවට, මරණයට පත්වුනාම, දාහයට වේදනාවට පත්වෙනවා. කන ශබ්දයට, දිව රසයට, නාසය ගඳ සුවඳට, ශරීරය ස්පර්ශයට, මන ධර්මයට ඔය ආකාරයෙන්ම ගැට ගැහෙනවා. ඔහොම ගැට ගැහෙන ක්‍රම හතරක් තියෙනවා

පළමු එක අභිධ්‍යාකාය ග්‍රන්ථය. ඒ කියන්නෙ දැඩි ලෝභය නිසා හට ගන්නා වූ ගැට සමූහය හෙවත් ගැටළු. යම් කිසි බාහිර ප්‍රියමනාප වස්තුවකට දැඩි ඇල්මක් ඇති වුනාම එන ගැටය තමයි මේ. ඒක ලිහන්න ලේසි පහසු නෑ. ඒ ඇති වෙච්ච කැමැත්ත, ඇල්ම නිසා ඊළඟට ඉබේටම ඇතිවෙන ගැටයක් තමයි ව්‍යාපාදකාය ග්‍රන්ථය. එහෙම නැත්නම් අර දැඩි ඇල්ම තිබුන දේ කැඩෙන කොට බිඳෙන කොට, එහෙම නැත්නම් කඩන කොට බිඳින කොට ඇතිවෙන තරහව. මගේ දේවල් කඩල බිඳල දැම්මට තෝ වැනසියන් කියල සාප කරනවා, තරහ යනවා. මේකට දොම්නස කියලත් කියනවා. කෙලින්ම අපාගත කරන්න පුළුවන් මහා බලවත් ගැට දෙකක් තමයි දැඩි ලෝභයයි, දැඩි ගැටීමයි කියන්නෙ. තවත් ගැහෙන ගැටයක් තමයි සීලබ්බතපරාමාසකාය ග්‍රන්ථය කියන්නෙ. මේකත් එක්තරා කෙලෙස් ගැටයක්. තමන් රකින සිල් වත ගැන හිත හිතා ඉන්නවා. හැබැයි අර කලින් ගැට වගේ නෙවෙයි මේකෙන් බොහෝ විට සුගතියක් ඇති කරනවා. ඒ කියන්නෙ නිවැරදි සිල් වතක් නම් විතරයි. බුද්ධ දේශනාවට අනුව සීලය දෙව් ලොවට ඉනි මගක්. නමුත් ඒකත් ගැටයක්. කවුරු හරි තමන්ගෙ සිල් වත රැක ගන්න බැරිවෙන්න වැඩක් කළොත්, කලින් වගේම දාහයට වේදනාවට පත්වෙනවා. එහෙම නැත්නම් ඒ සිල් වතට දොස් නැගුවොත්, අවලාද නැගුවොත් ඒකටත් ගැටෙනවා. ඒකත් දාහය වේදනාව ගෙන දෙන දෙයක්. මොකද ඒ කාලෙත් අජ ව්‍රත, ගෝ ව්‍රත ආදී වශයෙන් රකින විවිධ

# සිය දිවි නසා ගැනීම සම්බන්ධයෙන් වැඩි දුර පැහැදිලි කිරීම් ....

සිය දිවි නසා ගැනීම සම්බන්ධයෙන් සමාජයේ මේ වෙන කොට පවතින මත අතර විවිධ වැරදි මතත් තියෙනවා. ඒ අතරින් ආගමික මතවාද ගත්තම, සමහරු මේ සිය දිවි නසා ගැනීම බෞද්ධ වගේම සියලු ආගම් විරෝධී පාප ක්‍රියාවක් බවත් ප්‍රකාශ කරනවා. තමන්ගෙ පණ තමන්ටවත් අයිති නැති නිසා, බුදු දහමට අනුව සිය දිවි නසා ගැනීම පර පණ නසන ප්‍රාණ ඝාත අකුසල කර්මයක් බවත්, එවැන්නෙක් සිය දිවි නසා ගැනීමෙන් පසු අනිවාර්යෙන්ම සතර අපාගත වන බවට සඳහන් වැරදි මතත් ඒ අතර වෙනවා. ඒ අය ඒ සඳහා දක්වන එක තර්කයක් තමයි බොහෝ රටවල සිය දිවි හානි කර ගැනීම නීතියෙන් තහනම් ක්‍රියාවක් බවට ප්‍රකාශ කරල තියෙනවයි කියන කාරණය. සමාජයේ පැවැත්මට ඒ ඒ රටවල් අනුව පනවපු නීති රීති මොනව වුනත්, මනුස්සයින්ගෙ භෞතික මතවාද මොනව වුනත්, බුදු දහමේ පෙන්වන හේතු ඵල දහම අනුව මේ කාරණය විග්‍රහ කරල තේරුම් ගන්න ඕන. අද කතා කරන ප්‍රාණ ඝාත අකුසල කර්මයට සිය දිවි නසා ගැනීම අයිති නොවුනත් ඒක අවස්ථානුකූලව ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් සිද්ධ වෙන පාපයකට අයිති වෙන්න පුළුවන්. ඒ බව පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. මේ ඒ පිළිබඳව කෙරෙන වැඩිදුර විග්‍රහයක්.

ලෝභ, ද්වේශ, මෝහවලින් හට ගන්න ප්‍රධාන පවු මුල් 3 ක් තියෙනවා. ඒවා වර්ග කළාම ලෝභ සිත් 8 යි, ද්වේශ සිත් 2 යි, මෝහ සිත් 2 යි වශයෙන් අකුසල් සිත් 12 ක් තියෙනවා. යම් කෙනෙක් මේ මොනව හරි සිතක් මුල් කර ගෙන යථාර්ථවත් නොවන විදියට සිය දිවි හානි කර ගත්තොත්, ඒකෙන් ඒ අනුව පාපයක් සිද්ධ වෙනව මිසක් පර පණ නැසීමක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ කියන්නෙ **තමන්ගෙ ජීවිත ආසාව පරදවා යන ලෝභකම හෝ ජීවිත ආසාව පරදවා යන ද්වේශය හෝ ජීවිතය පවත්වා ගැනීමට කටයුතු කරන ක්‍රමවේදය නොවැටහීමේ මෝහය නිසා හෝ මේ කාරණා 3 උඩ පුද්ගලයෙක් තමන්ගෙ ජීවිතය දෙවෙනි කරන අවස්ථා 3 ක් එන්න පුළුවන්.** එතකොට ඒක ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් කරන සිය දිවි නසා ගැනීමක් වුනාම ඒකෙන් පවක් සිද්ධ වෙනවා. සාමාන්‍ය පුද්ගලයෙක්ගෙ සිය දිවි නසා ගැනීමක් තමයි මේ වගේ අවස්ථාවක බොහෝ කොටම අදාල වෙන්නෙ. කොටින්ම කිව්වොත් පෘතජ්ජන පුද්ගලයෙක්ගෙ යම් කිසි ආකාර දිවි නසා ගැනීමක් බොහෝ කොටම මේ කාරණා තුනෙන් එකකට තමයි අයිති වෙන්නෙ.

නමුත් ආර්ය භාවයට පත් කෙනෙකුගෙ (ලෝකෝත්තර දහම් අවබෝධය ලැබූවෙකුගෙ) සිය දිවි නසා ගැනීමක් ඒ වගේ කාරණයක් නිසා වෙන්න බෑ. මොකද සෝවාන් කෙනෙක් ගත්තත් ඒ පුද්ගලය සතර අපා ගත වෙන මට්ටමේ ලෝභ, ද්වේශ, මෝහ ප්‍රහීන කරල ඉන්නෙ. ඒ නිසා ආර්ය භාවයට පත් කෙනෙක්ගෙ සිය දිවි හානි කර ගැනීමකින් කොහෙත්ම සතර අපාගත වීමක් වෙන්න විදියක් නෑ. ආර්යෙකුගෙ නිගමනය ප්‍රඥාවෙන් කරන නිගමනයක්. ඒ වගේ නිගමනයක් ගැන සාමාන්‍ය ලෝකයාට තීන්දු දෙන්න බෑ. මොකද අනික් අයට ඒ දත්තය නැති නිසා. යම් කිසි කෙනෙකුට යමක් තේරුම් ගන්න නම් ඒකට අවශ්‍ය කරන දත්තයන් තියෙන්න ඕන. ඒක නැත්නම් ඒ කියන කාරණය වටහා ගන්න බෑ. ඒ නිසා තුන් ලෝකයේම අනන්ත සසරෙ මෙච්චර කලකට නොලබපු ප්‍රඥාවක් තමයි දහම් ඇස පහළ වෙච්ච ආර්ය උත්තමයෙක් ලබන්නෙ. මේ ආර්ය ප්‍රඥාව කියන එක සාමාන්‍ය ලෝකයාට ගෝචර නොවන අති දුර්ලභ දෙයක්. ඒ නිසා ඒ වගේ ප්‍රඥාවෙන් නිගමනය කරපු දෙයක් දිහා බලල, මේක මනුස්සයෙකුට නොගැලපෙනව කියල ඒ වගේ තීන්දු දෙන්න සාමාන්‍ය කෙනෙකුට මොනම ආකාරයකින්වත් බෑ. මොකද ඒ පුද්ගලය ඉන්න දෘෂ්ටියෙන් තමයි ඔහු ඒක විමර්ශනය කරල නිගමනය කරන්නෙ. ඒ නිසා ආර්ය පුද්ගලයෙක් විග්‍රහ කරන්න පෘතජ්ජන පුද්ගලයෙකුට බෑ. ආර්ය පුද්ගලයෙකුගේ සිය දිවි නසා ගැනීමක් ගැන පෘතජ්ජන මනසකින් විවේචනය කිරීම කොහෙත්ම සුදුසු නෑ. ඕව වෙන්න පුළුවන්ද ? ඔය වගේ දෙයක් කර ගන්න එක ගැලපෙනවද .... ආදී වශයෙන් ප්‍රශ්න කරන්න යෑම සුදුසු නෑ. මොකද ඒ කාරණය තවත් ආර්ය උත්තමයෙක් විතරයි දකින්නෙ.

ඒ නිසා තමයි ගෝධික හාමුදුරුවො සිය දිවි නසා ගන්න හදනව කියල මාර දිව්‍ය පුත්‍රය ඇවිත් බුදුන් වහන්සේට සැළ කළාම, ගෝධික

වැරදි සිල්වත් තිබුණා. ඒවට පහර වදින කොට දරාගන්න බෑ. ඒ වගේම අනෙක් ගැටය තමයි ඉදංසච්චාභිනිවේසකාය ග්‍රන්ථය. ඒ කියන්නෙ, ''මම තමයි ඇත්ත දන්නෙ, අනෙක්වා සේරම බොරු, ඇත්ත දැනගන්න ඕන නම් මගෙන් අහගන්න'' කියන අදහස. මේ අදහසේ ඉන්නකොට කිසි කෙනෙක් කියන දෙයක් පිළිගන්නෙත් නෑ. මේකත් දාහය වේදනාව ගෙනදෙන ගැටයක්. කවුරුහරි කිව්වොත්, උඹ නම් මහ බොරුකාරයෙක් මෙච්චර කල් මාව රැවැට්ටුව කියල, එතකොට ගැටෙන පැත්තට වැටෙනවා. ඒකෙන් දාහයට වේදනාවට පත්වෙනවා.

**ඉතින් ලෝකයේ ඇත්ත ඇති ආකාරයෙන්ම දැනගත්ත මොහොත තමයි අරිහත් ඵලය කියන්නෙ. ඒ මොහොතෙදි සියලු ගැට ලිහෙනවා.** ගැට ගැහිල තියෙනකල් අර කිව්ව විදිහට දාහය වේදනාව එනවා. ගැට ටික ලිහුන ගමන් සියලු දාහයන් වේදනාවන් ඉවරයි. සෝවාන් ඵලයෙදි සිල් වතක් රකින ගැටය ලිහෙනවා. සකෘදාගාමි ඵලයෙදි අභිධ්‍යා (දැඩි ලෝභය) දෝමනස්ස (දැඩි දොම්නස) කියන ගැට දෙක ලිහෙන මට්ටමට එනවා. ඒ කියන්නෙ තුනී වෙනවා. සෝවාන් වෙන කොට සතර අපාගත වෙන මට්ටමේ දැඩි ලෝභය සහ දෝමනස්සය තමයි නැති වෙන්නෙ. අනාගාමි ඵලයෙදි ඒ ගැට දෙකත් ලිහිල ඒ මට්ටමෙන් දාහය වේදනාව තුරන් වෙනවා. අරිහත් ඵලයෙදි සියලු ගැට ලිහිල සියලු මානසික දාහයන්ගෙන් වේදනාවන්ගෙන් නිවෙනවා. අනුපදිසේස පරිණිර්වානයෙදි විපාක වශයෙන් ලැබුන මස් ලේ කයේ තියෙන සියලු දාහ වේදනා නිවිල යනවා. ඒ කියන්නෙ ඉතිරිව තිබ්බච ස්කන්ධ දාහයත් නිවිල යනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - අරහන්ත වග්ගය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**

**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

මෝඩ වැඩ කරගන්නෙ නෑ, සුදුසු තැන සුදුසු වැඩේ කරගනියි, උඹේ වැඩක් උඹ බලා ගනින් කියල උන් වහන්සේ මාර දිව්‍ය පුත්‍රයාට උපදෙස් දුන්නෙ. එතකොට ඒ සිය දිවි නසා ගැනීමෙන් ගෝධික හාමුදුරුවන්ට පාපයක් සිද්ධ වුනේ නැති බව බුදුන් වහන්සේගෙ ඒ ප්‍රකාශයෙන් ඔප්පු වෙනවා. හැබැයි ඇයි ඒ පාපයක් නැත්තෙ කියල සාමාන්‍ය ලෝකයාට ප්‍රශ්න කරන්න බෑ. මොකද ගෝධික හාමුදුරුවො ප්‍රඥාවෙන් ගත්තු නිගමනය හරියටම දන්නෙ තුන් ලෝකෙ ඉන්න මහා ප්‍රඥාවන්තයා. ඒක ලොවුතුරා බුදුන් වහන්සේම දන්න දෙයක්. අනික් කෙනෙකුට නිගමනය කරන්න බෑ. ඒ නිසා එතැන ලෝභ, ද්වේශ, මෝහ සම්බන්ධ නොවී කරපු සිය දිවි නසා ගැනීමේ හේතුව දකින්නෙ උන් වහන්සේ. උන් වහන්සේ දකින ඒ හේතුව, වෙන්න පුළුවන්ද කියල ප්‍රශ්න කිරීම හරියට සාමාන්‍ය ළඳ බොළඳ ළමයෙක් ප්‍රඥාවන්තයෙක් විවේචනය කිරීම වගේ දෙයක්. අවුරුදු 3 - 4 ක ළමයෙක් තමන්ගෙ තාත්ත ඥානවන්තව කරන වැඩක් දැකල, ඔය මොන මෝඩ වැඩක්ද කියල විවේචනය කිරීම වගේ දෙයක් තමයි සාමාන්‍ය කෙනෙක් බුදුන් වහන්සේගෙ දෙයක් විවේචනය කරන්න යෑම. ඒක විශේෂයෙන්ම දැන ගන්න ඕන කාරණයක්. ඒ නිසා බුදුන් වහන්සේගෙ ප්‍රඥාවට සමාන කරන්න පුළුවන් නම් ඒ තවත් බුදුන් වහන්සේ නමක්ම පමණයි. රහතන් වහන්සේ නමකටවත් ඒක සම කරන්න බෑ. නමුත් බුදුන් වහන්සේ කියා දීපු යමක් ඒ ආකාරයෙන් වටහා ගන්න ආර්ය ප්‍රඥාව තියෙන අයට හේතු තියෙනවා. අනික් කෙනෙකුට ඒක නෑ. ඒ නිසා අනිත් අයට බුද්ධ දේශනාව ගැන සැකයක් ඇති වෙන්න පුළුවන්. මොකද ඒ අය නිගමනය කරන්න යන්නෙ ඒ අයගෙ මට්ටමින්.

ඊළඟට පෘතජ්ජනයගෙ මේ සිය දිවි නසා ගැනීම සමාජ සම්මත චාරිත්‍ර වශයෙන් කෙරෙන රටවල්, ගෝත්‍ර ආදියත් තියෙනවා. ඒකත් මෝහය නිසා කෙරෙන බොහොම තදබල දෙයක්. චාරිත්‍ර කියන ඒවාට වහල් වුනාම, ඒක මානය මුල් කර ගෙන ඒ ඒ පුද්ගලයන්ට දරන්න බැරි කාරණයක් වෙනවා. මානයත් සුළු පටු නෑ. මම මේ වගෙයි, මගේ අය මේ වගෙයි, අපේ චාරිත්‍ර මේ වගෙයි, ඒවාට වෙනසක් වුනොත් එහෙම අපිට ඉඳල වැඩක් නෑ .... ආදී වශයෙන් මෙහෙම අදහස් එනවා. සමහර විට ඒ වගේ තමන්ගෙ දෘෂ්ටිය, ලබ්ධිය තියෙන පිරිස් එකට එකතු වුනොත් එහෙම, ඒ පිරිසගෙ ඇති වන උද්වේගය නිසා සිය දිවි හානි කර ගන්න විරුද්ධ වෙන අයට විරුද්ධවත් සිය දිවි හානි කර ගන්න ඒ අය ලෑස්තියි. ඒ විදියට මරා ගෙන මැරෙන්නත් ලෑස්තියි. ඒ වගේ අවස්ථාවක් නිකං හැදෙන්නෙ නෑ. තමන්ගෙ දෘෂ්ටිය / ලබ්ධිය ගොඩනගා ගන්න තරමට ඒක බලවත් වෙනවා. මරාගෙන මැරෙන කල්ලි කියන්නෙත් ඒ වගේ එක ක්‍රමයක්. සමහරු වේදිකාවල ගිනි තියාගෙන මැරෙනවා. මොකද තමන්ගෙ දෘෂ්ටිය/ ලබ්ධිය නිසා ජීවිතය දෙවෙනි කරන තැනක් එනවා. ඒ දෘෂ්ටියට අදාල කාරණය පළවෙනි වෙලා ජීවිතය දෙවෙනි වෙනවා. ඒක ඇති වෙන්නෙත් පෘතජ්ජන ගතිය නිසාමයි. ඒ වගේ නොගැලපෙන චාරිත්‍ර අයිති වෙන්නෙ මෝහයෙන් කරන කටයුතුවලට. මෝහය පාපයත් එක්ක සම්බන්ධයි. ගැලපෙන චාරිත්‍රයක් නම් ඒක ලෞකික ඥානයට අයිතියි.



උදාහරණයක් විදියට යම් කිසි විදියක බාහිර හේතු උඩ යම් කිසි කෙනෙක් නොගැලපෙන විදියට නායකත්වයකට පත් වෙන්න පුළුවන්. ඒ කියන්නෙ බලපුළුවන්කම, හයිහත්තිය, මිල මුදල්, එකතු වෙලා ඉන්න පිරිස් බලය ආදී විවිධ හේතු උඩ හොරකමකට, වංචාවකට හෝ මොනව හරි සල්ලාලකමකට හෝ මිථ්‍යා මත වැපිරීමට හෝ ඊට අදාල ගති ලක්ෂණ තියෙන අයත් එකතු වෙනවා. එහෙම එකතු වුනාම ඒ අයගෙ බලවතා නායකයා බවට පත් කර ගෙන ඔහු වටා එබඳු පිරිසක් එක් රොක් වෙනවා. ඊට පස්සෙ ඒ අය එක කල්ලියක් විදියට කටයුතු කරනවා. ඒ වගේ කල්ලියක් හැදුනම, අපේ වැඩ පිළිවෙල අපට හොඳයි, මේකට විරුද්ධ වෙන හැම එකාටම අපි විරුද්ධයි ... ආදී වශයෙන් තද බල මතයක් හදා ගන්නවා. ඒක ආගමික භේද, කුලමල භේද, ජාති භේද වගේ නොයෙක් හේතු උඩ හට ගන්න පුළුවන් මූලයක්. ප්‍රධාන වශයෙන් ඒ වගේ දෙයක් මෝහ මූලිකයි. හැම වෙලේම ලෝභ - මෝහ, ද්වේශ - මෝහ, එහෙම නැත්නම් ප්‍රධාන වශයෙන් මෝහ විදියට තමයි අකුසල් සිත් එකතු වෙන්නෙ. එහෙම නැතිව ලෝභ සිත් විතරක් හෝ ද්වේශ සිත් විතරක් හෝ කවදාවත් හට ගන්නෙ නෑ. ඒ දෙකටම මෝහය මුල් වෙනවා. හැබැයි ඒ දෙකටම නැතිව මෝහය විතරක් මූලික වෙලා හට ගන්න අකුසල් සිත් කියල වෙනම කොටසක් තියෙනවා. ලෝභයෙන් කරන කටයුතුයි, ද්වේශයෙන් කරන කටයුතුයි දෙකම නැතිව, තනිකරම මෝහ මූලිකත්වයෙන් කෙරෙන කටයුතු තියෙනවා. කෙනෙකුට ඒ වගේ සිත් ඇති වෙන්නෙ මානයත් එක්ක.

සාම්ප්‍රදායික චාරිත්‍ර වශයෙන් පිරිසක්, මේ අපේ සිරිත් කියල සම්මත කර ගත්තම, මේ කාලෙ වෙන කොටත් ඒවා සමාජයේ තමන්ගෙ පිරිස අතරෙ සම්මත වෙලා මුල් බැහැ ගත්තම, ඒ සමාජයේ කෙනෙක් ඒකෙන් කොන් වුනොත් එහෙම, ඒ පුද්ගලයට ඒක දරන්න බැරි ලැජ්ජා තත්ත්වයක් ඒ සමාජය තුලින්ම ඇති වෙන්න පුළුවන්. හැබැයි දහමට අනුව ලැජ්ජා විය යුතු දේට නෙවෙයි මේ ලැජ්ජා වෙන්නෙ. අර මෝහයෙන් ගොඩ නගා ගත්තු සැකිල්ල (චාරිත්‍රය) කඩ වුනා කියල. උදාහරණයක් විදියට යමෙක් අවංකවම ස්වභාවිකවම යම් ලෝක සම්මත තරගයකින් පරාජය වෙලා, සුදුසු කෙනා ඒකෙන් ජය ගන්න පුළුවන්. හැබැයි මේ වෙලාවෙ පරාජය වෙච්ච කෙනා පරාජය භාර ගන්න ලැජ්ජයි. මොකද පෘතජ්ජන ස්වභාවය නිසා. නමුත් අවංකවම සත්‍යය යථාර්ථය තුලින් බැලුවොත්, දෙන්නගෙන් එක්කෙනෙක්වත් සත්‍යය තුළ පරාජය වීමක් වෙලා නෑ. **සත්‍යය තුළ පුද්ගලය පරාජය වුනයි කියන්නෙ, තමන් ධර්මය තුලින් වැනසිලා යන දෙයක් ඒ පුද්ගලය කරගත්තයි කියන එක.** මේ වගේ අවස්ථාවකදි යථාර්ථය දැක්ක කෙනෙක් නම් ඒ පුද්ගලය හිතන්නෙ මේ විදියට.

''මම දැනගත්තා මම පරාජය වුනේ නෑ කියල. මෙච්චර කල් පරාජය වෙලා හිටියෙ, ජය අරගෙන නෙවෙයි. ඒක මට තේරුනේ මේ කාරණය විස්තර කළාට පස්සෙ. ඒ නිසා මම දැන ගත්තා මෙච්චර කල් මුලා වෙලා හිටියෙ කියල. අද මම ඒ මුලාවෙන් නිදහස්. මට ජය අත් වුණා. ඒ ජය අත් වුනේ අද මේ යථාර්ථය පෙනිල මේ ලෝක සම්මතයේ ජය ගත්ත පුද්ගලය නිසා....'' මේ විදියට හිතල

තමන්ගෙ ප්‍රතිවාදියාටත් ප්‍රසංසා කරල තමනුත් ජය ගත්තෙක් බවට පත් වෙනවා. හැබැයි එහෙම හිතන්න පුළුවන් වෙන්නෙ යථාර්ථය දන්න වැටහෙන ඥානවන්තයෙකුට විතරයි. අන්න ඒ වගේ පුද්ගලයෙක් සිය දිවි හානි කර ගත්තත් අර වගේ ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් එන දෘෂ්ටියක ඉඳගෙන නෙවෙයි. නමුත් සාමාන්‍ය කෙනෙක් නම් පරාජයට අඬනවා, ජයග්‍රහණයට උඩ පනිනවා, සතුටු වෙනවා. සමහර විට පරාජය දරා ගන්න බැරිව සිය දිවි හානි කර ගන්නත් පුළුවන්. හැබැයි ලෝක සම්මතයේ ලබන ඒ ජය හෝ පරාජය කියන්නෙ යථාර්ථය නෙවෙයි. ඒවා එක එක දෘෂ්ටි, ලබ්ධි. ඒ දෘෂ්ටි, ලබ්ධිවල බැඳිච්ච අය තමයි ඔය වගේ විවිධාකාර අන්තවාදී අදහස් ගන්නෙ.

උදාහරණ විදියට ඉස්සර තිබිච්ච බමුණු මත පෙන්වන්න පුළුවන්. ඒ බමුණු මතයක් කැඩුණොත් එහෙම, ඒ බමුණු පරම්පරාවම මරාගෙන මැරෙන්න වුනත් ලෑස්තියි. ඒක ඒ කාලෙ බොහෝ කොටම තිබිච්ච දෙයක්. නමුත් බුදුන් වහන්සේගෙ පාරමිතා ශක්තිය නිසා ඒ වගේ බමුණන්ට උන්වහන්සේට කරදරයක් කරන්න බැරි වුණා. උන්වහන්සේගෙ පාරමිතා ශක්තියට, ආශිර්වාදයට කොටු වෙච්ච නිසා ශ්‍රාවකයන් වහන්සේ නමකටවත් කරදරයක් කරන්න අන්‍ය පිරිසකට ලේසියෙන් බැරි වුණා. මහ බලවත් පාප කර්මයක විපාකය මුගලන් මහ රහතන් වහන්සේට ආව වගේ අවස්ථාවක හැර එහෙම දෙයක් වෙන්නෙ නෑ. මුගලන් මහ රහතන් වහන්සේ ගත්තත්, උන්වහන්සේගෙ මූලික කටයුතු සියල්ල අවසන් කළාට පස්සෙ තමයි ඒ විපාකය ආවෙ. ඒ කියන්නෙ උන්වහන්සේ පහළ වුනේ මොකටද, ඒ දේ කරන්න පාරමිතා පුරාගෙන ආපු අවස්ථාවක උන්වහන්සේගෙ සේවය ඉටු වුනාට පස්සෙ තමයි ඒ කර්ම වේගය පළ දෙන්න ආවෙ. නමුත් ඒ විපාකය කල් තියා ආව නම් අර වැඩ කොටස ඉටු කර ගන්න බැරිවෙන නිසා ඒ වගේ විපාකයක් කල් තියා ඒම වළකිනවා.

ඒ වගේ සැරියුත් මහ රහතන් වහන්සේටත් කර්ම වේගයකින් ලෝහිත පක්ඛන්තිකා කියන රෝගය ආවෙ උන්වහන්සේගෙ අවසාන කාලෙ. මුල් කාලෙ ඒක ආව නම් උන්වහන්සේ ශ්‍රාවක පාරමිතා පුරාගෙන ආපු සේවය ඉටු කරන්න බැරිව යනවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවක පාරමිතා බලය නැගෙනවා. පාරමිතා පුරාගෙන ආපු රහතන් වහන්සේලා තමයි එදා වැඩ හිටපු අසූ මහ ශ්‍රාවකයන් වහන්සේලා කියන්නෙ. උන්වහන්සේලා ඒ පාරමිතා ගුණයෙන් රැකෙන නිසා කරදරයක් කරන්න බැරි වුණා. උන් වහන්සේලාගෙ සාසන සේවය කඩා කප්පල් කරන්න බැරි වුණා. නමුත් සාමාන්‍ය උදවියට නම් එදා තිබිච්ච බමුණු සමාජයට අනුව එහෙම අලුත් සම්ප්‍රදායක් / චාරිත්‍රයක් ගොඩනගන්න බෑ. එදා තිබිච්ච බමුණු සම්ප්‍රදාය ඒ තරම් බලවත් වුනා. මෑත කාලයක් වෙනතුරු වුනත් මේ වගේ මත කොයි තරම් තිබුනද ? සමහර අය ලෝකය ගෝලාකාරයි කියන එක පිළිගන්නෙ නැතිව, ලෝකය පැතලියි කියන මතය මුල් කරගෙන, ඒ තිබිච්ච දෘෂ්ටිය කොච්චරද කියනව නම්, ලෝකය ගෝලාකාරයි කියපු අය මැරුව කියලත් සඳහන් වෙනවා. එතකොට බලන්න වෙනස. ඒ තමයි දෘෂ්ටිගත / ලබ්ධිගත මතවාදවල භයානකත්වය. ඒ නිසා ඒ වගේ පුද්ගලයින්ට මාන්නයක් එනවා. ඒකට මෝහයත් එකතු වෙනවා. ඒ වගේ ලබ්ධියක්, දෘෂ්ටියක් හැම වෙලේම මෝහයත් එක්ක සම්බන්ධයි.

**මෙතනදි දෘෂ්ටිය කියන්නෙ යම් කිසි ආකාරයක වැරදි දැකීම. ලබ්ධිය කියන්නෙ ඒ වැරදි දැකීමට බැඳීම, ඒකෙ එල්බ ගැනීම. ඒ නිසා යමක් වැරදියට දැකල ඒකට බැඳුනොත් තමයි ලබ්ධියක් වෙන්නෙ. ඒ ලබ්ධිය ඉවත් කර ගත්තෙ නැත්නම්, ඔසවා ගත් බරක් බහා තියනව වගේ අපාගත වෙනව කියල ධර්මයේ පෙන්වපු තැන් තියෙනවා. එතකොට දෘෂ්ටිය කියන එකට වඩා ලබ්ධිය කියන එක බලවත්.**

ඒ වගේම මේ සිය දිවි හානි කර ගැනීම කියන කාරණයත් බහු හේතුක මිසක් ඒක හේතුක නෙවෙයි. දෘෂ්ටියක්, ලබ්ධියක් නිසා කර ගන්න සිය දිවි නසා ගැනීමක් පෙර කර්ම විපාකයකින්ම එන එකක් නෙවෙයි. මේ භවයෙදිම ගොඩ නගාගත්තු එකක්. හැබැයි ඒක කර්ම පථයක් නොවුනට කර්මයක් උපනිශ්‍රය වෙලා සිද්ධ වෙන දෙයක්. නමුත් ප්‍රධාන කාරණය වෙන්නෙ ඒක නෙවෙයි. කෙනෙකුට සසර පුරුදු තියෙන්න පුළුවන්. හැබැයි තිබිච්ච පළියටම ඒව මතුවෙන්නෙ නෑ. අනුශය වශයෙන් තියෙනවා. අනුශය කියන එක ඊට අදාළ පරිසරයක් හැදුනම තමයි ඒ පිරිසත් එක්ක මතු වෙලා එන්නෙ. එතකොට ඒ පුද්ගලය ලබ්ධියක් / දෘෂ්ටියක් ගොඩ නගනවා. ඒ ලබ්ධිය / දෘෂ්ටිය නිසා සිය දිවි හානි කර ගැනීම, පෙර භවයෙන් ආපු කර්ම ශක්තිය නිසාම සිද්ධ වෙන දෙයක් නෙවෙයි. මේ දෘෂ්ටියේ / ලබ්ධියේ ස්වභාවයක් තියෙනවා. බැරි වෙලා හරි තමන්ගෙ දෘෂ්ටියට / ලබ්ධියට පහර වදින කොට ඒක ගොඩ නැගෙන්නෙ කුමන අරමුණක් මුල් කර ගෙනද, ඒ අරමුණ ඉටු වුනොත් ඒ පුද්ගලය සිය දිවි හානි කර ගන්නෙ නෑ. ඒ නිසා තමයි සමහරු මතයක් විදියට කියන්නෙ, සිය දිවි නසා ගන්න උත්සාහ කරපු කෙනෙක් ඒකෙන් බේර ගත්තොත්, නැවතත් ඒ පුද්ගලයා සිය දිවි නසා ගන්න උත්සාහ කරන්නෙ නෑ කියල. හැබැයි ඒ පුද්ගලය ඒකෙන් බේර ගන්න නම්, ඒ අරමුණ ඉෂ්ට වෙන්න ඕන. එහෙම ඉටු වුනොත් අර කියපු මතය හරි.

උදාහරණයක් විදියට සමහර ස්ත්‍රී පුරුෂ ප්‍රේම සම්බන්ධතා ගත්තොත්, ඒ අයට මේ ජීවිතය පිළිබඳ අත්දැකීම් නෑ. ඒ අය ඉන්නෙ හරියට සුරංගනා ලෝකයක සුර කුමරියෙකුයි, සුර කුමරෙකුයි වගේ. මල් වත්තක අත් වැල් බැඳගෙන රවුම් ගහගෙන සන්තෝසෙන් ඉන්නව කියල හිතාගෙන ඉන්නව මිසක්, එයින් එහාට සුන්දර ලෝකෙක ඇත්ත අත්දැකීම් ඒ අයට නෑ. ඒ නිසා අර වගේ මවා ගත්තු සුන්දර මායා ලෝකයක තමයි ඒ අය ඉන්නෙ. නමුත් ඒ දෙන්නට විවාහ වෙන්න ඉඩ නොදීම නිසා සිය දිවි හානි කරගන්න ලෑස්ති වුනා කියල කිව්වොත් සහ ඒ නිසාම යම් කිසි විදියකින් ඒ අයගෙ කැමැත්තට විවාහ වෙන්න ඉඩ සැලැස්සුවොත් එහෙම, කවදාවත් ඒ හේතුව නිසා ඒ අය වහ බොන්නෙ නෑ, දිවි හානි කර ගන්නෙ නෑ. හැබැයි ඊට පස්සෙ වැඩිකල් යන්න පෙර, ඒ හිතා ගෙන හිටපු සුරංගනා ලෝකෙ නෙවෙයි ඇත්ත කියල ඒ අයට වැටහෙනවා. දූන් ඇත්ත ලෝකෙට දෙන්නම මුහුණ දෙනවා. එතකොට දකිනවා, අපි මවා ගෙන හිටියෙ සුරංගනා ලෝකයක් කියල. දූන් ඒ අය කියනවා, එදා දැකපු සුරංගනා ලෝකය ඇත්ත වශයෙන්ම එහෙම එකක් නෙවෙයි කියල. දූන් ඒ අය මොනවද කියන්නෙ ? ''මම මේ බවක් දන්නව නම් මේකිව ගන්න වහ බොනව නෙවෙයි, පැත්ත පළාතෙවත් යන්නෙ නෑ.'' එක් කෙනෙක් මෙහෙම කියනවා. ''මේ බවක් දැන ගෙන හිටිය නම් මම මේකත් එක්ක යන්න බැරි වුනා කියල වහ බොන්න තියා මේක ඉන්න පැත්ත පළාතෙවත් පස් පාගන්නෙ නෑ.'' අනිත් කෙනා මෙහෙම කියනවා. අවසානයේ දෙන්න වෙනම තීරණ 2 ක් ගන්නවා.

මේ නිසා තමයි හුග දෙනෙක් කියන්නෙ පළවෙනි ප්‍රේම සම්බන්ධය කඩා ගන්න හුගක් අමාරුයි කියල. දෙවෙනි තුන් වෙනි එක නම් ප්‍රශ්නයක් නෑ දරන්න පුළුවන් කියනවා. මොකද පළවෙනි ප්‍රේම සම්බන්ධය කැඩෙන්නෙ ඊට විරුද්ධ දෙයක් ඒ අයගෙ මනසට ආවට පස්සෙ. එහෙම දෙයක් ආවෙ නැත්නම් ඒක කැඩෙන්නෙ නෑ. කැඩෙන්න නම්, එක් කෙනෙකුට අනෙකගෙ මොනව හරි නොහොඹිනා වැඩක් අහු වෙන්න ඕන, එහෙම නැත්නම් යම් කිසි

උපක්‍රමයකින් හරි ඒ වගේ දෙයක් කරන්න ඕන. උදාහරණ විදියට කෙනෙක් කියනවා, මගෙ අවංක කෙල්ල කියල. අනික් කෙනා කියනවා, මගෙ අවංක කොල්ල කියල. දෙන්න ඉන්නෙ එහෙම සුරංගනා ලෝකෙක. දූන් මෙහෙම ඉන්න කොට මේ අයගෙ අදහස්වල හැටි දන්න තවත් කෙනෙක්, ඊට විරුද්ධ දෙයක් ඒ අය ගැන සම්බන්ධ කරල පෙන්වනවා. සමහර විට ඒක තවත් කෙනෙක් එක්ක තියෙන ප්‍රේම සම්බන්ධයක් කියල හිතුවොත්, දූන් එහෙම දෙයක් පෙන්නුවට පස්සෙ ඒ අය සැහෙන කාලයක් දරන්න බැරි වේදනාවකින් සිය දිවි හානි කර ගන්න මට්ටමේ මානසික දුක් විඳල අන්තිමට මෙහෙම හිතනවා. ''චපල පිරිමි'' එහෙම නැත්නම් ''චපල ගැහැණු'' දූන් මේ අදහසට බහිනවා. තවත් ටික කලක් යන කොට ''කොයි පිරිමියත් ඔහොම තමයි'' එහෙම නැත්නම් ''කොයි ගෑණිත් ඔහොම තමයි'' කියන මේ අදහසට බහිනවා. ඊට පස්සෙ කවද හරි අත්දැකීම් කොටසක් ආපු නිසා, අර කලින් බැහැගෙන හිටපු සුරංගනා ලෝකෙ දෘෂ්ටිය දූන් නෑ. ඒ නිසා ඒ පුද්ගලය දූන් වහ බොන්න, සිය දිවි හානි කර ගන්න යන්නෙ නෑ. මොකද දූන් අත්දැකීම් ලබල තියෙන්නෙ. මෙන්න මේ වගේ අවස්ථා තියෙනවා.

සිය දිවි හානි කර ගන්න හේතු වෙන කාරණය ඒ පුද්ගලයගෙ නොදැනුවත්කමේ එක්තරා අවස්ථාවක්. ඒක අත්දැක්කට පස්සෙ ඒ පුද්ගලයගෙ විසඳිය යුතු ප්‍රශ්නය ඒක විතරක් නම්, සිය දිවි නසා ගන්න තරම් බලවත් වුනේ ඒ කාරණය නම්, අනෙක්වා ඊට දෙවැනි නම්, දැනුත් ඒ පුද්ගලය දුක් වෙන්න අඬන්න පුළුවන්, රණ්ඩු වෙන්න පුළුවන්, ගහ බැන ගන්නත් පුළුවන්, නමුත් සිය දිවි හානි කර ගන්න තරම්, මිනී මරන්න තරම් දරුණු වෙන්නෙ නෑ. ඉතින් අන්න ඒ වගේ අය දැකල තමයි සමහර අය කියන්නෙ, එක පාරක් සිය දිවි හානි කර ගන්න ගිහින් බේරපු කෙනෙක් නැවතත් ඒකට පෙළඹෙන්නෙ නෑ කියල. නමුත් ඒක සමහර අවස්ථාවලදී විතරක් සිද්ධ වෙන එක කාරණයක් විතරයි.

අනෙක් කාරණය තමයි සිය දිවි හානි කර ගැනීමට කර්ම ශක්තිය බලපාන අවස්ථාත් තියෙනවා. කර්ම වේගයක් කෙනෙකුට එල දෙන්නෙ හැම වෙලේම නෙවෙයි. ගැලපෙන පසුතලයක් ආවම තමයි ඒක එල දෙන්නෙ. ජීවිතයෙ පසු තල කියන කාරණයත් විවිධාකාරයි. උදාහරණයක් විදියට යම් කිසි කෙනෙක් ළමයෙකුට ළමා අපචාරයකින් ජීවිතය හානි කළා නම්, ඒ පුද්ගලයටත් කවද හරි අත්භවයක ළමා වයසක ඉන්න කොට ළමා අපචාරයකින්ම ජීවිතය වැනසිලා ඒ විපාකය එල දෙන්න හේතු යෙදෙනවා. පෙර විපාකයක් එන කොට ඒ ස්වභාවයෙන්ම ඒ විදියටම තමයි එන්නෙ. ළමා අපචාරයකින් හෝ යම් කිසි විදියකින් බෙල්ල මිරිකල හරි ජීවිත හානියක් කළා නම්, එහෙම දේක සම්බන්ධයක් ඇදිල ආවොත්, ඒ පුද්ගලයටත් කවද හරි ඒ අනුසාර කාලයකදි තමයි එල විපාක දෙන්නෙ. කාගෙ හරි හොරකමක් කළා නම්, ඒකෙ විපාකය ප්‍රවෘත්ති විපාක වශයෙන් ඇදිල ආවොත්, ඒ පුද්ගලයගෙත් හදන හදන එක හොරු ගන්න හේතු යෙදෙනවා. මේ විදියෙ විවිධ ක්‍රමවලට එල විපාක එනවා. කර්ම විෂය අචින්ත්‍ය විෂයක් කියන්නෙත් ඒකයි. බොහොම සංකීර්ණයි. එල්ල කරල විපාක දෙන්න තියෙන ක්‍රමය මොකක්ද, ඒ ජාතියේ පරිසරයක් ආවම ඒක තමයි එල දෙන්නෙ.



ඒ නිසා කෙනෙක්ගෙ ජීවිතයක් කියන්නෙ උපන් දා පටන් මැරෙන කල් විවිධ වෙනස් පැතිකඩවල් ඔස්සේ ගෙවී ගෙවී යන එකක්. ගෙවිච්ච පැතිකඩක් ඒ ජීවිතයෙදි නැවතත් එන්නෙ නෑ. අවුරුදු 11 වසරෙ පරිසරය 12 වසරට ගියාට පස්සෙ නැවතත් ඒ මුළු ජීවිතයටම ලැබෙන්නෙ නෑ. 13 වසරට ගියා පස්සෙ 12 වසරෙ තිබ්බිච්ච පරිසරය නැවත කවදාවත් ආපහු එන්නෙ නෑ. පාසල් යන ළමයි ගැන කියල, අනේ ඒ කාලෙ හරි හුරතල් පොඩි එකා අරහෙම මෙහෙම කළානෙ කිව්වට ඒ පරිසරය නැවතත් එන්නෙ නෑ. පාසල් පරිසරය පාසල් යන කාලෙට විතරයි. පාසල් යන කාලෙ යම් කිසි විදියකින් කාගෙ හරි ඉගෙනීමට බාධ කළා නම්, ඒ පුද්ගලයටත් කවද හරි ජීවිතයක පාසල් යන කාලෙම ඉගෙනීමට බාධා වෙනවා. හැබැයි ඒ බාධාව රස්සාවක් කරන කාලෙ එන්නෙ නෑ. පාසල් යන කාලෙ අනුන්ට බාධා කරපු කෙනා රස්සාවක් කරන කාලෙ අනුන්ට උදව් කළොත්, ඒ පුද්ගලයගෙත් කවද හරි අත් භවයක පාසල් කාලෙ ඉගෙන ගන්න බැරිව මොනව හරි බාධා වෙලා, පුංචි රස්සාවක් එහෙම පටන් ගත්තම ඒකෙන් ජයග්‍රහණය කරන්න පුළුවන්.

ඒ වගේම කෙනෙක් පාසල් යන කාලෙ අනිත් අයට පොත් පත් එහෙම අරන් දීල ඉගෙන ගන්න උදව් උපකාර කරල, පස්සෙ කාලෙක රස්සාවක් කරන කොට අනිත් අයට පහර ගහල, ඒ අයගෙ රස්සාවල් බිඳල දාන්න වැඩ කටයුතු කරල තිබුන නම්, ඒකෙ විපාකය ඒ පුද්ගලයටත් කවද හරි එන්නෙ තවත් අත් භවයක රස්සාවක් ලැබුනට පස්සෙ. ඒ විපාකය පාසල් යන බාල කාලෙ එන්නෙ නෑ. ඒ කාලෙ හොඳට ඉගෙන ගෙන අධ්‍යාපනයෙන් ජයග්‍රහණ ලබනවා. රස්සාව කරන්න පටන් ගත්තට පස්සෙ බාධක එන්න පටන් ගන්නවා. කර්ම වේග එල දෙන්නෙ එහෙමයි. යම් කිසි පරිසරයක් ගොඩ නගල යමක් කළා නම්, එබඳු පරිසරයක් තියෙන කාලයක තමයි ඒකෙ විපාකය එන්නෙත්. එහෙනම් යම් කිසි කෙනෙක්ගෙ ජීවිතයක පසු තලයත් එක්ක ඒ ජීවිතයේ වයස සහ විපාක සම්බන්ධයකුත් තියෙනවා. අන්න ඒ සම්බන්ධයත් එක්ක තමයි මේ විපාක පසුතලය හැදිල එන්නෙ. පුතා තාත්තට පහර දුන්නෙ තාත්ත වයසට ගිය කාලයක නම්, පුතත් කවද හරි වයසට ගිය කාලයක තමයි තාත්තට වගේ ගුටි කන්න සිද්ධ වෙන්නෙ. ඒක වෙනත් කාලෙක එන්නෙ නෑ. ගැලපෙන කාලයකමයි එන්නෙ. හැබැයි මේ එක ක්‍රමවේදයක් විතරයි.

මුගලන් මහ රහතන් වහන්සේට හොරු ගහල තලපු කාලෙ බැලුවොත්, උන් වහන්සේ පෙර අත්භවයක තමන්ගෙ මහළු අම්මටයි තාත්තටයි පහර දීල තලපු එකේ ශේෂ මාත්‍රයක් විපාක විදියට ඇවිත්, උන් වහන්සේත් පශ්චිම අත් බැවේ අන්තිමට වයසට ගිය කාලෙ ආවට පස්සෙ තමයි හොරුන්ගෙන් තැලුම් කන්න සිද්ධ වුණේ. පුතා වෙලා තරුණ වයසෙදි මහළු අම්මටයි තාත්තටයි තලපු එකේ විපාකය ආවෙත් තමන් මහළු වුනාට පස්සෙ. ඒ වගේ යම් කෙනෙක්ගෙ වයසට අනුකූලව යමක් කළා නම්, ඒ කරපු පසුතලයටම අනුව විපාක දෙන්නත් පසුතලයක් හැදෙන්න හේතු වෙනවා. ඒ නිසා දූන් යම් කිසි විදියකින් කෙනෙක්ගෙ ජීවිතයක් හානි කරපු වයසක් තිබුණ නම්, මතු අත්බැවක ඒ ආසන්න වයසෙදිම ඒ පුද්ගලයටත් විපාක වශයෙන් සිය දිවි හානි කර ගන්න හෝ ඒ සඳහා මාර්ගයක් හැදෙන්න පුළුවන්. ඒකෙ විපාකය ඇදිල ආවොත් එහෙම, සිය දිවි

හානි කර ගන්නත් හිතෙන්න පුළුවන්. හැබැයි යම් කිසි ප්‍රයෝග සම්පත්තියකින් හෝ ඒ සිය දිවි නසා ගන්න අදහස ආපු කාල සීමාව ඉක්මවා දැම්මොත්, ඒ පුද්ගලයට ඒ වගේ කාලයක් ඒ ජීවිතයෙදි නැවත එන්නෙ නෑ. ඒ හේතුවෙන් නැවතත් සිය දිවි නසා ගන්න පෙළඹෙන්නෙ නෑ. මෙන්න මේ හේතුව හුඟ දෙනෙක් දන්නෙ නැති වුනත්, ඒ නිසා තමයි ඒ අය කියන්නෙ, යම් කිසි කෙනෙක් සිය දිවි නසා ගන්න ගිහින් වැළැක්වුවොත්, අනාගතයෙ දවසක ඒ පුද්ගලය ඒකට නැවතත් පෙළඹෙන්නෙ නෑ කියල. ඒ කියන්නෙ අර විපාක කාලය ඉක්මවා ගිය නිසා සිය දිවි නසා ගන්න අදහසක් එන්නෙ නෑ. සිය දිවි නසා ගැනීමට උත්සාහ කිරීමක් වළකින්නෙ ඔය විදියට. හැබැයි හැමෝටමත් නෙවෙයි, කර්ම වේගය අනුව කොටසකට විතරයි ඒකත් එහෙම වෙන්නෙ. නමුත් මේ ගැන කතා කරන මනෝ විශ්ලේෂකයො මේ කාරණය දන්නෙ නෑ. ඒ අය භෞතිකව පිරිත් පේන දේ විතරක් අරගෙන ඒ පේන අත්දැකීම විතරක් කියනවා. නමුත් එහෙම අත්දැකීමක් තියෙන නිසාම තමයි ඒ වගේ මතයක් ප්‍රකාශ කරන්නෙත්. එතකොට ඒක බොරුවක් නෙවෙයි. හැබැයි ඇයි කියල ඇහුවොත් හේතුව කියන්න දන්නෙ නෑ. ඇයි එහෙම වෙන්නෙ කියල ඇහුවොත්, ඒකට එක හේතුවක් විතරක් නෙවෙයි බලපාන්නෙ, ඒක බහු හේතුකයි.

සමහරෙක් කියනව, මම මෙහෙම යන්තරයක් හදල අහවලාගෙ අපල දුරු වෙන්න මෙහෙම කළා, සෙත් ශාන්තියක් කළා, ඊට පස්සෙ තමයි ඒ පුද්ගලය සිය දිවි හානි කර ගන්නෙ නැති වෙන්න ඒ අවස්ථාවෙන් නිදහස් වුනේ කියල. ඒ පුද්ගලය එහෙම හිතාගෙන ඉන්නවා. නමුත් එතනදි සිද්ධ වුනේ, ඒ යන්තරය හෝ සෙත් ශාන්තිය හෝ කියන ප්‍රයෝග සම්පත්තිය මුල් කර ගෙන ඒ විපාක අවස්ථාව ඉක්මවා යෑම. හැබැයි අවස්ථාව ඉක්මවා ගියාට පස්සෙ එහෙම දෙයක් නැවත වෙන්නෙ නැත්තෙ ඇයි කියන්න ඒ අය දන්නෙ නෑ. ඒ හේතුව තමයි ඉහතින් පැහැදිලි කළේ. හැබැයි ඒක හැම තිස්සෙම වෙනවත් නෙවෙයි. හේතු යෙදිච්ච හැටියට තමයි වෙන්නෙ. සමහර විට කෙනෙක් තවත් කෙනෙක්ගෙ ජීවිතය හානි කරන්න හත් අට වතාවක් උත්සාහ කරල තිබුණ නම්, පසු අත් භවයකදි ඒ පුද්ගලයටත් ඊට අදාල වයස් කාලවලදි හත් අට වතාවක්ම ඒ වගේ මාරකයක් ඇවිත් සිය දිවි නසා ගන්න කිහිප අවස්ථාවක්ම උත්සාහ කරන්න පුළුවන්.

එහෙම නැත්නම් ඒ හත් අට වතාව ඇතුළතදි සිය දිවි හානි කර ගෙන මැරෙන්නත් පුළුවන්. දුක් විඳීමත් ඊට අනුකූලවම ඒ විදියට එනවා. ලෝකයාට දුක් දීපු කාල සීමාවක් තිබුන නම්, ඒ කාලෙ වෙන කොට තමන්ටත් ඒ වගේ අවස්ථා යෙදෙනවා. හැබැයි ඒ හත් අට වතාවම ඉක්මවල කොහොම හරි ප්‍රයෝග සම්පත්තියකින් හරි බේරුනොත්, ඒ වගේ අවස්ථාවක් නැවත යෙදෙන්නෙ නැතිව යනවා. ඊට පස්සෙ යහපත නම් කළේ, මම බොහොම දුක් විඳල මහන්සි වෙලා තමයි ඒ කාලෙ හරි හම්බ කළේ, ඒ කාලෙ මම මැරෙන්නත් ගියා, දැන් තමයි මට කිසි ප්‍රශ්නයක් නැත්තෙ කියල ඒ පුද්ගලය එහෙම කියන්න පුළුවන්. නමුත් ඒ අර විපාක කාලය ඉක්මවා ගිහින් තමන් කරපු හැටියට තමයි එහෙම යෙදෙන්නෙ. ජීවිත හානි විතරක් නෙවෙයි, කෙනෙක්ගෙ දියුණුවටත් පිරිහීමටත් කර්ම ශක්තිය සහ තමන් කරපු ක්‍රියාවලිය බලපාන්නෙ ඔය විදියට. කලින් විස්තර කරපු විදියෙ දෘෂ්ටියක්/ ලබ්ධියක් මුල් වෙලා සිය දිවි නසා ගැනීමක් වෙන්නෙ, තමන් විසින්ම කර ගන්න ප්‍රයෝග විපත්තිය මුල් වෙලා. ඒ නිසා මේ විස්තර කළේ කාරණා 2 ක්. කර්ම ශක්තිය ප්‍රධාන වෙන සිද්ධාන්තය එකක්, කර්ම ශක්තිය දෙවෙනි වෙලා තමන්ගෙ දෘෂ්ටියෙන් ප්‍රයෝග විපත්තියක් හදා ගැනීම තව එකක්. ඒ නිසා තමයි මේ කාරණය බහු හේතුකයි කිව්වෙ. එක හේතුවකින් විසඳන්න බෑ. මේ හැම දෙයක්ම බහු හේතුකයි. එතනදි මොනව හරි එකක් මුල් වෙලා, ප්‍රධාන වෙලා අනික්වා උපනිශ්‍රය වෙනවා, දෙවෙනි වෙනවා.

ඒ නිසා ඒ වගේ කර්ම වේගයක් ඇවිත් කෙනෙක් සිය දිවි හානි කර ගන්නත් අතීත පසුතලයක් තියෙන්න ඕන. ප්‍රයෝග සම්පත්තියක් තියෙන කාලයක ඒ වගේ කර්ම වේගයක් ආවොත් ඒක වැහිල යනවා. ඒ නිසා තමයි සක්විති රජ කෙනෙක් පහළ වෙච්ච කාලෙක මොනම කෙනෙකුටවත් පංච දුෂ්චරිත කරන්න බැරිව යන්නෙ. ඒ කාලෙට සමාජය බොහෝ කොටම ආරක්ෂා වෙනවා. මාර්ග බාධක කරදර නෑ. බොහොම සශ්‍රීකත්වයක්, සම්පත්තියක් තියෙන කාලයක්. ඒ වගේ කාලයකට කෙනෙක්ගෙ තියෙන කර්ම වේගයක් වුනත් යටපත් වෙනවා. ඒ කියන්නෙ සක්විති රජ්ජුරුවන්ගෙ පුණ්‍ය ඍද්ධියට ඒ කර්ම වේගය මැඩ පවත්වන්න අවශ්‍ය පසුතලයක් හැදෙනවා. ඒ විදියෙ පසු තලයක් හැදීමත් එක හේතුවක්. ඒ පසුතලයෙදි තමයි ප්‍රයෝග සම්පත්තිය යෙදෙන්නෙ. ප්‍රයෝග සම්පත්තියෙන් ඒ අවස්ථාවෙ යහපතක් ඇදිල එනව මිසක්, සසරෙ කරපු අකුසල කර්මවල විපාක ඇදෙන්න විදියක් නෑ.

ඒ වගේම දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මීට පෙර ලිපියකින් විස්තර කරපු ගන්ධබ්බයෙකුගෙ දින 7 ක කාල සීමාව, මේ වගේ සිය දිවි හානි කර ගත්තු කෙනෙකුටත් ඒ වගේම බලපානවද කියල. ලෝභ, ද්වේශ, මෝහවලින් යමක් උපාදාන කර ගෙන සිය දිවි හානි කර ගත්තු කෙනෙක් මළාට පස්සෙ ගන්ධබ්බ ලෝකෙට ගියොත්, අර දින 7 ගෙවීමේ ක්‍රියාවලියට වඩා ප්‍රධාන වෙන්නෙ ඒ සිය දිවි නසා ගැනීම නැවත නැවතත් සිද්ධ කර ගැනීම. මොකද ඒ කර්ම වේගය එතනදි බලවත් වෙනවා. හැබැයි එතනදි උපාදාන නොවන මට්ටමක් ආවොත් ඒක බලවත් වෙන්නෙ නෑ. මේ දින 7 ක ක්‍රියාවලිය කිව්වෙ සාමාන්‍යයෙන් සාම්ප්‍රදායිකව වෙන දෙයක්. නමුත් කර්ම වේගය බලවත් වෙලා ආවොත් ඒ සාම්ප්‍රදාය අභිබවා ගිහින් සිය දිවි හානි කර ගැනීමේ පෙර අත්දැකීම බලවත් වෙන්න පුළුවන්. එතකොට පුද්ගලය කර ගත්තු දේ ප්‍රවෘත්ති විපාකයක් විදියට ඇදිල ඇවිත් විපාක දෙන්න පුළුවන්.

දැන් මස් ලේ කයින් මළාට, කාලයක් යන කල් ගන්ධබ්බ ලෝකෙ ගන්ධබ්බ කය මනුස්ස ලෝකෙදි වගේ වයසට යන්නෙ නෑ. ඒ නිසාම තමයි ඒ වයස තුළ ඒ අයට විපාක දෙන්න ඒ පරිසරය හැදෙන්නෙ. අපි හීනෙන් අපේ ශරීරය දැක්කොත් අපිට දැන් තියෙන වයසින්ම අපේ කය පේනව වගේ, ඒ ගන්ධබ්බයොත් මැරෙන්න පෙර හිටපු වයසින් ඒ විදියටමයි දැන් ඉන්නෙ. ඒ කියන්නෙ අපේ මනසෙ චිත්තජ රූප හැදිල තියෙන හැටි. මළාට පස්සෙ ගන්ධබ්බ වුනාම එන්නෙ ඒ වගේ ස්වභාවයක හිත්. කොණ්ඩෙ ඉදිල රැවුල පැහිල තියෙද්දි මළොත්, ඒ පුද්ගලය ගන්ධබ්බ ලෝකෙ ඉන්නෙත් ඒ විදියෙ කෙනෙක් වගේ. සරමක් බැනියමක් ඇඳල හිටිය නම් දැනුත් ඒ විදියටමයි ඉන්නෙ. එතකොට එහෙම ගන්ධබ්බ ලෝකෙ ඉන්න කොටත් ප්‍රවෘත්ති විපාකයක් ගෙවන්න තියේ නම් ඒකටත් කාලයක් තියෙනවා. එක්කො ගන්ධබ්බ ලෝකෙදිම ඒ විපාකය ගෙවනවා. එහෙම නැත්නම් මනුස්ස ලෝකෙදි කොටසක් ගෙවල ඉතිරිය ගන්ධබ්බ ලෝකෙදි ගෙවන්න වෙනවා. එහෙමත් නැත්නම් නැවතත් මනුස්ස අත්බැවක් ලබල ඒ අත්බැවේදි ගෙවන්න වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 41**

# උපාදානය බලවත් වුනාම මරණින් පසුවත් එන දාහ ගින්න ...



(පසුගිය කලාපයෙන් - සිය දිවි නසාගත් අය පරලොව ගිහින් විඳින දුක ....)

- වහරක අභයරතනාලංකාර හිමි

මේ ලෝකෙ මිනිස්සු ජීවත් වෙන කොට නොයෙක් දේවල් තණ්හාවෙන් ආසාවෙන් බඳාගෙන අල්ල ගෙන ඉන්නවා. ගේ දොර, වතු පිටි, යාන වාහන, අඹු දරුවො, මිල මුදල් ඒ අතරින් ප්‍රධාන තැනක් ගත්තත්, තවත් සමහරෙකුට ඒ සියල්ලටම වඩා වෙනත් දේකට හිත ගිහින් ඒ දේ උපාදාන වෙන්න පුළුවන්. සමහර විට ඒ වැඩියෙන්ම තණ්හා කරන දේ අනුන්ගෙ දෙයක් වෙන්නත් පුළුවන්. ඒ සියල්ලම බුදුන් වහන්සේ පෙන්වා තියෙන විදියට, ලෝක සත්වයා තණ්හාවෙන් බැඳෙන තැන් 108 න් කුමන හෝ තැනකට සම්බන්ධයි.

ඒ කියන්නෙ තණ්හා පච්චයා උපාදානං කියන කොට, තණ්හාව යම් ගණනක්ද උපාදානයත් ඒ ගණනමයි. ඒ විදියෙ මොනව හරි තමන්ගෙ හිත ගිය දේකට ලෝක සත්වයා දැඩිව ඇලුම් කරන්නෙ රූපයෙන්, ශබ්දයෙන්, ගන්ධයෙන්, රසයෙන්, ස්පර්ශයෙන්, ධර්මයෙන් හෝ මේ කිහිපයකින්ම හෝ මේ හයෙන්ම වෙන්නත් පුළුවන්. එතකොට ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන ඉන්ද්‍රියන්ට අරමුණු වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන කාරණා 6 කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කියන තුනෙන් බැඳෙන කොට 3 x 6 = 18 යි. ඊළඟට අධ්‍යාත්මික සහ බාහිර වශයෙන් බැඳෙන කොට 2 x 18 = 36 යි. ඊළඟට අතීත, වර්තමාන, අනාගත වශයෙන් බැඳෙන කොට 3 x 36 = 108 යි.

තමන්ට හිත ගිහින් උපාදාන කරගත්තෙ යමකටද, ඒ වෙලාවට කිසිම ලැජ්ජාවක් බයක්, ඉන්න තැනක් පිළිබඳ කිසි ගානක් නෑ. කොහොම හරි ඒකෙ ඇසුර ලබා ගන්නමයි ලෝක සත්වයා බොහෝ කොටම පෙළඹෙන්නෙ. මේ විදියට හැමෝම මොනව හරි දෙයක් අල්ල ගෙන හිටියත්, එතනදි තණ්හාවෙන් අල්ලා ගැනීම දැඩිව උපාදාන කර ගෙන හිටියොත් තමයි ගැටළුව එන්නෙ. ඒ කියන්නෙ මස් ලේ කයින් මැරිල ගිය දවසට ඊළඟ උප්පත්තියට බලපාන්නෙ අන්න ඒ උපාදානය. සමහර විට ඒ උප්පත්තිය, ඒ නිසාම සතර අපාගත වෙන්නත් පුළුවන්. එහෙම සතර අපාගත වෙලා, මේ ලෝකෙ ජීවත් වෙලා ඉඳෙද්දිට වඩා දුකක් දාහයක් එතැන් පටන් විඳවනවා. ඒ විතරක් නෙවෙයි ඒ පුද්ගලය සතර අපායෙ ඉඳගෙනත් ජීවත් වෙලා ඉන්න අයට කරදර කරන අවස්ථා තියෙනවා. සතර අපාගත නොවී ගන්ධබ්බ තත්වෙට පත් වෙලා ඉඳගෙනත් ඒ වගේ තත්ත්වයක් ඇති වෙන්න පුළුවන්. අන්න ඒ වගේ අනුන්ගෙ දේකට ඇළුම් කිරීම නිසා, මරණින් පසු ගන්ධබ්බ වෙලා තමනුත් දුකක් දාහයක් විඳින ගමන්, අනුන්ටත් දුක් කරදර දීපු කෙනෙක් සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන්ගෙ අත්දැකීමක් තමයි මේ විස්තර කරන්නෙ.

මේ සිද්ධිය නුවර පළාතෙ වෙච්ච දෙයක්. එක්තරා අසනීපයකින් පෙළිච්ච වයසක මනුස්සයෙක් එක්තරා රෝහලකට එක්ක ගෙන ආවා. මේ රෝහලේ බොහොම හොඳ කරුණාවන්ත තරුණ හෙද නෝන කෙනෙකුත් හිටියා. ඒ නෝන බොහොම ආදරෙන් කරුණාවෙන් තමයි හැම රෝගියෙකුටම කතා කරන්නෙ. කෑවද බිව්වද, සනීපද කියල අහල ඕවා එහෙමත් අතගාල තමයි යන්නෙ. රෝගීන්ගෙ හිත සනසන්න ඕන නිසා තමයි ඒ විදියට කතා කරන්නෙ. ඉතින් දැන් මේ රෝගියාටත් හරි ආසයි ඒ හෙද නෝනගෙන් ඇප උපස්ථාන ලබාගන්න, ඇයත් එක්ක කතා කරන්න. ඒ නිසා පොඩි අමාරුවක් ආවත් කෑ ගහල කතා කරන්නෙම ඒ නෝනගෙ නම කියල. දැන් ඉතින් පොඩි දේටත් ඒ හෙද නෝනම එන්න ඕන. නාවොත් පොඩි එකා වගේ නාහෙන් අඬනවා. වෙන කෙනෙක් ඇවිත් හරි යන්නෙත් නෑ. ඒ නෝනගෙ නම කියලම කෑ ගහනවා.

ඔහොම ඉන්න ගමන් මේ ලෙඩා අන්තිමට අසාධ්‍ය වුණා. දැන් අර හෙද නෝනට කතා කරනවා. ඉතින් ළඟට ඇවිත් මොකද කියල ඇහුවම, මට දොඩම් වීදුරුවක් හදල දෙන්න කිව්වා. හදල දුන්නට පස්සෙ පොවන්න කියලත් කිව්වා. පොවන කොට මේ මනුස්සය හීන් සීරුවෙ අත දික්කරල, වීදුරුවයි නෝනගෙ අතයි දෙකම අල්ල ගත්තා. අල්ල ගෙන ඔයත් බොන්න කියල අර නෝනට වීදුරුව දික් කළා. දැන් මේ නෝනට කරන්න දේකුත් නෑ, ලෙඩාගෙ හිත නරක් කරන්නත් බෑ. ඉතින් මොකද කළේ, අර ලෙඩා බීපු එකෙන්ම ටිකක් බිව්වා. දැන් බලන්න කොච්චර කරුණාවන්ත, ඉවසිලිවන්ත වෙන්න ඕනද ඒ වගේ දෙයක් කරන්න. නිකං කෙනෙක් නම් ඒ වගේ දෙයක් ලේසියෙන් කරන්නෙ නෑ. අන්තිමට අර නෝනගෙ අත අල්ලගෙනම මේ මනුස්සය ඇස් පියාගෙන මළා. එච්චරයි එතනදි වෙච්ච සිද්ධිය.

ඊට පස්සෙ ටික දවසක් යන කොට මේ නෝන රෝහලේ නිදාගෙන ඉන්න කාමරේ කොට්ටෙ යට අරුංගල් ජෝඩුවක්, රත්රන් මාල පොටක් වගේ විවිධ ආභරණ තියෙනවා. පස්සෙ හොයල බලන කොට කවුරුවත් අයිතිකාරයෙකුත් නෑ. කොහෙන් ගෙනත් දානවද දන්නෙත් නෑ. මේ නෝන මොකද කළේ, ඒ අහුවෙන භාණ්ඩ වෙනම ටින් එකකට දාල අරන් තිව්වා. ඒත් දවස ගානෙ අර කොට්ටෙ යට විවිධ දේවල් අහු වෙනවා. එන්න එන්නම ඒ වගේ දේවල් වැඩි වෙනවා. කොච්චර අරගෙන තිව්වත් ඊට පහුවදා බලන කොට අලුතින් මොනව හරි වටිනා දෙයක් ගෙනත් තියල. මෙහෙම ගිහින් අර ටින් එකත් අන්තිමට පිරුණා. කවුරුවත් දන්නෙ නෑ කොට්ටෙ යට ගෙනත් තියන කල්. මේ නෝන විවාහයකුත් කරගත්තෙ නැති

තරුණ කාන්තාවක්. ඉතින් ඔහොම ටික කලක් ගියාම ගෙදරින් විවාහ යෝජනාවකුත් ගෙනාවා. මේ නෝන විවාහ වෙන්න වැඩ කටයුතු ටික ලක ලෑස්ති කරන කොට මහ විසාල ප්‍රශ්න ගොඩක් එන්න ගත්තා. කවුදෝ පේන්නෙ නැති කෙනෙක් මේ නෝනව හූරනවා, විවිධ දේවල්වලින් ගහනවා. මේ වගේ එක දිගටම කරදර එන්න පටන් ගත්තා.

දූන් අර ගෙනත් දාපු රත්රන් භාණ්ඩ ආදියත් නැවත අදිනවා. ඒවා එකින් එක අඩුවෙන්න පටන් ගත්තා. අන්තිමට බලන කොට හිස් ටින් එක විතරයි ඉතුරු වුණේ. ඒ මදිවට එන්න එන්නම කරදරත් වැඩි වෙන්න පටන් ගත්තා. අන්තිමට ඔළුව කැරකෙන්න, කලන්තෙ හැදෙන්න පටන් ගෙන මේ නෝන විකාර දොඩවන්න ගත්තා. පස්සෙ රැකියාව කරගන්නත් බැරි වුනා. දන්න දේවල් ඔක්කොම කළත් ඒ තත්වය ඇර ගන්න බැරි වුණා. ඊට පස්සෙ ආවේස වෙන්න ගත්තම හොයල බලන කොට, අර මැරිච්ච ලෙඩා අමනුස්සයෙක් වෙලා මේ නෝනගෙ ඇඟට එනවා. ඇවිත් ආවේස වෙලා කියනවා, මේකි මගේ, එක එකාට ගෙනියන්න දෙන්න බෑ කියල. ගෙනිච්චොත් එහෙම මරනව කියල දොස් කියන්නත් ගත්තා. ඉතින් මේ නෝනව තමන්ගෙ භාර්යාව කර ගන්න බලාපොරොත්තුවෙන් තමයි අර රන් භාණ්ඩ ගෙනත් තිච්චෙ. අන්තිමට වෙන විවාහ යෝජනාවක් ආවට පස්සෙ, එහෙනම් උඹට දෙන්නෙ නෑ කියල තමයි අර ඔක්කොම නැවතත් ඇද්දෙ. දූන් ඉතින් මේ අයට කරන්න දෙයක් නෑ. කොහොම හරි මේක අයින් කරගන්නත් ඕන. ඉතින් විවිධ කට්ටඩියො අල්ලල ගුරුකම් කරන්න ගත්තත් ඒව එකක්වත් හරි ගියේ නෑ.

කොහොම හරි එක දවසක් කට්ටඩි මහත්තයෙක් ඇවිත් ගුරුකමක් කළා. එතකොට මේ අමනුස්සය ආවේස වෙලා කියන්න ගත්තා, දූන් මට යන්න තැනක් නෑ, එහෙනම් මං තොගේ ගෑණි ළඟට යනව කියල. කට්ටඩි මහත්තය ගුරුකම කරල ගෙදර ගිහින් බලන කොට එයාගෙ නෝනට මේ අමනුස්සය ආවේස වෙලා. දූන් ඉතින් ඒක අහක් කරන්න පුළුවන් තරම් උත්සාහ කළත් හරි ගියේ නෑ. පස්සෙ මොකද කළේ, හාමුදුරුවරු කිහිප නමක් වඩම්මවල පිරිතක් කියන්න ලෑස්ති කළා. හාමුදුරුවො ගෙදරට වැඩියට පස්සෙ මේ අමනුස්සය, කට්ටඩි මහත්තයගෙ නෝනට ආවේස වෙලා එක පාරටම හාමුදුරුවන්ට දොස් කියන්න ගත්තා. ''ඔය අහවල් එකානෙ, තොගේ හැටි මං දන්නෙ නැද්ද, තෝ අහවල් ගෑණිනෙ තියාගෙන ඉන්නෙ, තොට පුළුවන්ද පිරිත් කියන්න, මාව පන්නන්න....'' මේ විදියට හාමුදුරුවන්ට දොස් කියන්න ගත්තම, උන් වහන්සේලාත් වැඩේ නොකර යන්න ගියා. ඊට පස්සෙ ඒක දූනගෙන කවුරුවත් හාමුදුරු නමක්වත් වඩම්ම ගන්න බැරි වුණා.

ඊළඟට කොහේ හරි තියෙන ලොකු ආරණ්‍යයකට ගිහින් මේ කට්ටඩි මහත්තය එතන වැඩ හිටපු හාමුදුරුවන්ට විස්තරය කිව්වා, මෙන්න මෙහෙම දෙයක් තියෙනව හාමුදුරුවනේ, ඔබ වහන්සේට පුළුවන් නම් මේ වැඩය කරල දෙන්න කියල. කෝකටත් කමක් නෑ ඉතින් අපිට නම් බැරි කමක් නෑ ඕක කරන්න කියල, උන් වහන්සේලා පෝය ආදී වත් පිළිවෙත් කරල සුද්ද වෙලා මේ වැඩේට ගියා. ගිහින් ඉඳ ගත්තම අර අමනුස්සය කට්ටඩි මහත්තයගෙ නෝනට ආවේස වෙලා



අහනවා, ඔබ වහන්සේලා මොකටද ආවෙ කියල. අපි කාටත් යහපතක් කරන්න ආවෙ, අයහපතක් කරන්න නෙවෙයි, සියලු සතුන්ට යහපත, කරුණාව, මෛත්‍රිය පතුරුවන්න බුදු රජාණන් වහන්සේ දේශනා කරපු මේ ශ්‍රී සද්ධර්මය පිරිත් විදියට කියන්නයි ආවෙ කිව්වා. ඒක අහල මේ අමනුස්සය අඬන්න ගත්තා. ඔබ වහන්සේලා නිසා මට කියන්න දෙයක් නෑ කිව්වා.

එතකොට මේ අමනුස්සය අර දුසිල්වත් කියන හාමුදුරුවන්ගෙයි, සිල්වත් කියන හාමුදුරුවන්ගෙයි ඒ වෙනස දූන ගත්තෙ කර්ම විපාකජ ඍද්ධියෙන්. ඒක දූන ගන්න ධ්‍යාන ඕන නෑ. කර්ම විපාක වශයෙන් ලැබෙන්නා වූ ඍද්ධියක් තියෙනවා. ඒ ඍද්ධියට පේන දේවල් තියෙනවා. මේ වගේ බොහොමයක් අමනුස්සයින්ට තියෙන්නෙ කර්ම විපාක ඍද්ධි. ඒක සමහර තිරිසන් සතුන්ටත් පිහිටනවා. එතකොට අර සිල්වත් හාමුදුරුවන්ගෙ ගුණ දකින කොට අමනුස්සයට ඒ ගුණයට විරුද්ධ වෙන්න බැරිව යනවා. ඒ ගුණයට බය වෙනවා.

කොහොම හරි ඉතින් මේ හාමුදුරුවරු පිරිත් කිව්වා. කියන කොට මේ අමනුස්සය ආවේස වෙලා කෑ ගහන්න පටන් ගත්තා, අනේ මොනව කිව්වත් දාල යන්න නම් බෑ, මාව යවන්න නම් එපා කියල. එහෙම කියල අන්තිමට කිව්වා, කරදර කරන්න එපා මට එක අවස්ථාවක් දෙන්න කියල. මොකක්ද කියල ඇහුවම, මේ ශරීරයෙන් යන්නම්, හැබැයි අර ඉදිකඩින් එහාට ගියාට මට ඉදිකඩ ළඟට විතරක් ඇවිත් බලාගෙන ඉන්න ඕන කිව්වා. මම එතැනට ඇවිත් මේකිගෙ දිහා බලාගෙන ඉන්නවා, ඒකට නම් බාධ කරන්න එපා කිව්වා. ඒ විදියට අවුරුද්දක් ඉන්න පොරොන්දු වුණා. දූන් ඉතින් මේ අමනුස්සය ඒ කාන්තාවගෙ ශරීරයෙන් අහක් වෙලා, අර ආවේසය මුකුත් නැතිව ගියා. හැබැයි අමනුස්සය ඉදිකඩ ළඟට වෙලා මේ කාන්තාව දිහා බලාගෙන ඉන්නවා. නැවතත් ඇඟට එන්නෙ නෑ කියල පොරොන්දු වුනාට පස්සෙ පිරිත් කියල ඒ කටයුත්ත ඉවර කළා.

එතකොට මේ වගේ අවස්ථාවකදි ඒ කට්ටඩියන්ට වුනත් අමනුස්සයව ඒ අදාල වත්ත සීමාවෙන් විතරයි පන්නන්න පුළුවන් වෙන්නෙ. වත්ත සීමාවෙන් පිට ඉන්න කොට එතනිනුත් එහාට පන්නන්න අයිතියක් නෑ. මොකද එයින් එහාට පන්නන්න තැනක් නෑ. ඒ ස්ථාන පොදුයි. එහෙම නැත්නම් වෙනත් කෙනෙකුට අයිතියි. ඒ නිසා තමන්ගෙ වත්ත ඇතුළත විතරක් ඒ විදියට ආරක්ෂා කර ගන්න පුළුවන්. දූන් ඉතින් මේ අමනුස්සය අර කාන්තාව කෙරෙහි තිබ්බිච්ච තණ්හාව උපාදානය නිසා ඉදිකඩ ළඟට වෙලා බලාගෙන ඉන්නවා.

ඊළඟට හරියටම අවුරුද්දක් ගියාට පස්සෙ, නැවතත් මේ කට්ටඩි මහත්තයගෙ නෝනගෙ ඇඟට අර අමනුස්සය ආවේස වුණා. ඉතින් නැවතත් අර හාමුදුරුවන්ව වඩම්මවල පිරිත් කිව්වම ඇරිල ගියා. ගිහින් අවුරුද්දකින් පස්සෙ නැවතත් ආවා. ඔය විදියට අවුරුදු 3 - 4 ක් ගෙවිල ගියා. මේ කට්ටඩි මහත්තයට ඒ පැත්තෙ නගරයට කිට්ටුවෙන් කඩ කිහිපයකුත් තිබුණා. ඒ කාලෙ ඒකෙ නවාතැන් ගන්න කට්ටියක් ඇවිත් තියෙනවා. බලන කොට ඒ අයත් කට්ටඩි වැඩ කරන පිරිසක්. දූන් ඒ අය මේකෙ නැවතිලා ඉන්න කොට එක එක්කෙනා කරපු විවිධ දේවල් කතා වෙනවා. පස්සෙ ඒ කතාවක් ඇහිල මේ කට්ටඩි මහත්තය ගිහින් ඉඳගෙන, මටත් මෙහෙම ප්‍රශ්නයක් තියෙනවා, මොකද

කරන්නෙ කියල ඇහුවම, ඕක එච්චර දෙයක් නෙවෙයි, රත්තරං නූලකුයි මොනව හරි බඩු වගේකුයි ගේන්න කියල කිව්වා. ඒ අවශ්‍ය කරන දේවල් ගෙනත් ඒ අය ඒකෙන් මොනව හරි ගුරුකමක් කළාට පස්සෙ, ඒ කාන්තාව ආවේස වෙලා දරදඬු වෙලා සිහිය ඇවිත්, අර රත්තරං නූලට අමනුස්සය අල්ල ගත්තා. මීට පස්සෙ ආයෙ කරදර කරන්නෙ නෑ කියල අරගෙන ගියා. මොනව හරි ඒ අය දන්න උපක්‍රමයකින් තමයි ඒ විදියට අමනුස්සයව හිර කර ගත්තෙ.

ඉතින් මේ වගේ දේවල් අපි නොදන්නවට, මේ රටේ ලෝකෙ ඕන තරම් සිද්ධ වෙනවා. අර ස්ත්‍රියට තිබ්බ ඇලීමේ බරපතලකම උපාදාන කර ගත්තම සිද්ධ වෙච්ච දේක හැටි තමයි මේ. ඒ නිසා සමහර උදවිය වයසට ගිහිල්ල වුනත්, නැති බැරි විදියට හිටිය කියලත්, උදව් උපකාර කරන්න කියල හැමෝටම එක වගේ ළං වෙන්නත් බෑ. සමහර අවස්ථාවල අර වගේ වැරදියට හිටින්නත් පුළුවන්. සමහර උදවිය ආශිර්වාද කරනව වගේම දැඩිව ඇලුම් කරන අයත් ඉන්නවා. ඒ වගේ ඇලුම් කරන කෙනෙක් හිටියොත්, එහෙම අදහසක් ආවොත්, ඒක ලේසියෙන් අයින් කර ගන්න බැරිව යනවා. එහෙම වෙන අවස්ථා තියෙනවා.

එතකොට බලන්න වයසට ගිහින් ලෙඩ වෙලත් ඒ මනුස්සයගෙ හිත තිබුණෙ කොහෙද කියල. ඔහුට මේ හෙද නෝන කෙරෙහි මහ ලොල්කමක් ඇති වුණා. ඇයගෙ තිබ්බ ලෙන්ගතුකමට, කරුණාවට ඔහු තදින් ඇලුම් කළා. එතකොට හෙද නෝන කෙනෙක් විදියට නෙවෙයි ඇය දිහා බැලුවෙ, තමන්ට ඇය ස්ත්‍රියක් වශයෙන් කාමුක අදහසින් සලකනව කියල තමයි හිතුවෙ. අන්තිමට වයසයි, ලෙඩයි, ඉන්න තැනයි ඔක්කොම අමතක වෙලා හැඟීම් ඇවිස්සුණා. ඒ හැඟීමෙන්ම ඇයට ඇලුම් කළා. මරණ මොහොතෙදිත් ඒ හැඟීම තමයි මතු වෙලා ආවෙ.

ඒ වගේම මේ අමනුස්සය අර විදියට රත්තරන් භාණ්ඩ ගෙනත් දැම්මෙත් කාගෙන් හරි හොරකම් කර ගෙන. භෞතික ලෝකයේම කාට හරි අයිති රත්තරං බඩු අහු වෙන කොට මේ අමනුස්සය ඒව තමයි අරන් එන්නෙ. සමහර අමනුස්සයින්ට ඒ වගේ භෞතික භාණ්ඩ එහා මෙහා ගෙනියන්න පුළුවන්. එහෙම අවස්ථාවක් මම දැනුවත්ව අපේ හිතවත් පිරිසකටත් සිද්ධ වෙලා තියෙනවා. මම දන්න කියන එක්තරා පිරිසක් ප්‍රබල අමනුස්ස රැලක් එක්ක දේවාලයක් වගේ ස්ථානයක මොනව හරි කටයුත්තකට සම්බන්ධ වුණා. ඒ අවස්ථාවෙදි ඒ කටයුත්තට සම්බන්ධ වෙච්ච පිරිස ඊට අදාල පූජා ආදී කටයුතු සම්පූර්ණ කළේ නැති නිසා, අර සම්බන්ධ වෙච්ච අමනුස්ස පිරිසක් ඒ අයගෙ ගෙදරට ඇවිත් පැළ පදියම් වෙලා හිටියා. ඊට පස්සෙ මේ අමනුස්ස දෝසය අරින්න ඒ අය ඥාති බතක් දුන්නා. ඒ වගේ කටයුත්තක් අවසානයෙදි ඉතිරි වෙන ආහාර ඇතුළු භාණ්ඩ කොටස සොහොනක් වගේ තැනකට තමයි දාන්න කියල තිබුණෙ. නමුත් දාන් බලන කොට ඒ තියපු භාණ්ඩවලින් කොටසක් අඩුයි. තටුවට තියපු රෙදි ආදිය ඒකෙ තිබුණෙ නෑ. භාණ්ඩවලින් භාගයක්ම අඩු වෙලා. නමුත් ඉතින් බලන කොට ගත්ත කෙනෙකුත් නෑ. අරගෙන ගෙනිහින් දාපු තැනකුත් නෑ.

ඊට පස්සෙ ඉතිරි බඩු ටික ගෙනිහින් අර කියපු විදියට සොහොනකට දැම්මා. දාල ඉවර වෙලා ගෙදර ඇවිත්, හරි වැඩේනෙ වුනේ දැන් මේකට මොකද කරන්නෙ කියල කල්පනා කර කර නැවතත් අර සොහොනට බලන්න ගියා. දෙවෙනි වතාවෙදි සොහොනට ගිහින් බලන කොට අර කලින් නැති වෙච්ච බඩු ටික එතන තියෙනවා. හැබැයි ගෙනිච්ච කෙනෙක් හොයා ගන්න නෑ. එතකොට ඒකත් අර අමනුස්සයින්ගෙ වැඩක්. භෞතික වස්තු ඒ විදියට උස්සගෙන ගෙනියන ක්‍රම තියෙනවා. සමහර විට භෞතික වස්තු සමහර අමනුස්සයින්ගෙ අතට පත් වුනාම අතුරුදන් වෙනවා. නැවතත් තිව්වට පස්සෙ අර කලින් තිබ්බ විදියටම තියෙනවා. මොකද ඒ භෞතික වස්තුවේ තියෙන අංශු ඒ අමනුස්සයගෙ ශරීරයට අනුකූලව වෙනස් වෙන්න පුළුවන්.

මේ වගේ දෙයක් යම් කිසි ඍද්ධි බලයකින් කරන්න පුළුවන් අයත් ඉන්නවා. ධ්‍යාන අභිඤ්ඤා තියෙන රහතන් වහන්සේලාට, ඍෂිවරුන්ට තවත් කෙනෙක් ස්පර්ශ කරල, ඒ පුද්ගලයත් ඒ ආකාරයටම යම් කිසි තැනකට ගෙනියන්න පුළුවන්. බුදුන් වහන්සේ නන්ද කුමාරයව දෙව් ලොවට එක්ක ගෙන ගියෙත් මේ වගේ ක්‍රමයකට. ඒ වගේම මලියදේව මහරහතන් වහන්සේ සුළුගුළු උපාසකතුමාව අපායටත්, දෙව්ලොවටත් රවුමක් එක්ක ගෙන ගිහින් නැවත ආවෙත් ඒ ක්‍රමයට. එතකොට මේ මස් ලේ කය ඒ ඒ ලෝකෙට ගැලපෙන විදියට පරිවර්තනය වෙනවා. කොහේ ගියාද කියල කාටවත් හොයන්න බෑ. මොකද මේ මස් ලේ කය මේ විදියටම තියෙද්දි යනව නෙවෙයි. ඍද්ධි බලයෙදි ශරීරයේ පරමාණු ප්‍රසාරණය කිරීමේ ශක්තියක් ලබනවා. ඒ වගේ තමන් ඇසුරු කරන දේත් ප්‍රසාරණය කරන්න පුළුවන්. සංකෝචනය වෙන කොට තමයි ඒ වස්තුවේ පරමාණු ක්‍රියාවලිය ඝනීභවන වෙලා මස් ලේ ඇහැට පේන්න ගන්නෙ. උදාහරණයක් විදියට දූවිලි ටිකක් අර ගෙන සුළඟට විසිරෙව්වොත් අංශු ප්‍රසාරණය වෙලා ඇත් වෙනවා. එතකොට ඇස් දෙකට පේන්නෙ නෑ, අල්ලන්නත් බෑ. නමුත් ඒ දූවිලි ටික කැටි කළාම ඇස් දෙකින් දකින්නත් පුළුවන්, අල්ලන්නත් පුළුවන්. එතනදි පරමාණු භ්‍රමණය වන වේගය අඩු වැඩි වෙනවා. අන්න ඒ අඩු වැඩි වන වේගය අනුව තමයි පරමාණු සංකෝචනය හෝ ප්‍රසාරණය වෙලා පෙනෙන නොපෙනෙන මට්ටම් එන්නෙ. මනුස්ස ශරීරයක් හෝ භෞතික වස්තුවක් වුනත් මේ වගෙයි. ඒ වගේ අවස්ථාවකදී ඒ ශරීරය හෝ භාණ්ඩය ඒ විදියටම තියෙද්දි පරමාණු ප්‍රසාරණය වෙනවා. එතකොට පිටින් බලන කෙනෙකුට පේන්නෙ නෑ. ඒ වගේ සමහර ගෙවල්වල භාණ්ඩ හිටි ගමන් අතුරුදන් වෙනවා. නමුත් වෙච්ච දෙයක් පේන්න නෑ.

ඒ වගේ තවත් සිද්ධියක් මම දැනුවත්ව වෙලා තියෙනවා. ගම්පහ දිස්ත්‍රික්කයේ එක්තරා ගම් ප්‍රදේශයක තමයි මේ සිද්ධිය සිද්ධ වුණේ. ඒ පැත්තෙ ගෙදරක ස්වාමි පුරුෂයා මොනව හරි හිත් අමනාපෙකට බෙල්ල වැළලාගෙන මළා. පස්සෙ මේ පුද්ගලයා අමනුස්සයෙක් වෙලා ගෙදරට එන්න පටන් ගත්තා. දැන් මේ ගෙදර හරි පුදුම දේවල් වෙන්නෙ. බඩු මුට්ටු හිටිගමන් අතුරුදන් වෙනවා. අර මියගිය කෙනාගෙ අත් අකුරුවලින් ලියුම් කඩදාසි ලියල දාල යනවා. දාන කෙනෙක් පේන්නෙ නෑ, නමුත් ලියුම් කඩදහි වැටෙනවා. චූටි පුතා, සුදු පුතා කියල තමයි ඒ මියගිය කෙනාගෙ ළමයි දෙන්නට කතා කළේ. සමහර දවස්වලට ඒ ගෙදර පොරව අතුරුදන් කරල, සුදු පුතේ පොරව නෑ, පොරව දෙන්න නම් රුපියල් 100 ක් දීපන් කියල, අර මියගිය කෙනාගෙ අත් අකුරුවලින් ලියුම් කඩදහි කැල්ලක් දාල යනවා. ඊට පස්සෙ ගෙදර අය මොකද කරන්නෙ, රුපියල් 100 ක් අල්මාරියක් උඩ වගේ කොහේ හරි තැනක තියල පොරව ගෙනත් දෙන්න කියනවා. ආපු දිහාවක් නෑ ක්ෂණයකින් පොරව ගෙනත් දානවා. බලන කොට අර තියපු රුපියල් 100 ත් අතුරුදන් වෙලා.

ඊට පස්සෙ දවසක් ගෙදර පොඩි එකා බයිසිකලය පැද ගෙන යන කොට ටොපි පාර්සලයක් ඇගේ වැදිල බිම වැටුණා. මේ පොඩි එකා ඒක අහුල ගෙන ගෙදර ඇවිත්, තාත්ත මට ටොපි පාර්සලයක් දුන්න කියල අම්මත් එක්ක කිව්වා. මළ යකා දෙන ඒව කන්න එපා කියල අම්ම මේ ළමයට දොස් කිව්වා. එහෙම කිව්වම නැවත සැරයක් අර වගේ

ලියුම් කැල්ලක් ගෙනත් දැම්මා. ඒකෙ ලියල තියෙනවා, චූටි පුතේ උඹ බය නැතිව කාපන්, මම කඩෙන් සල්ලිවලට ගෙනාවෙ කියල. එතකොට අමනුස්සය කොහොමද මේක සල්ලිවලට ගෙනාවෙ ? සමහර විට කාටවත් හොයන්න බැරි වෙන්න මිනිස් වෙසක් අරගෙන යන්නත් පුළුවන්. එහෙම අවස්ථා තියෙනවා.

තවත් දවසක් මේ පොඩි ළමය ඉස්කෝලෙ යන්න ලෑස්ති වෙන කොට මොනව හරි හේතුවක් උඩ, ඉස්කෝලෙ යන්න එපා කියල අර වගේ ලියුම් කැල්ලක් ආවා. එතකොට අම්ම කිව්වා, පුතේ උඹ ඉස්කෝලෙ පලයන් කියල. ඊට පස්සෙ මේ ළමය යන්න ලෑස්ති වෙන්න හදන කොට ඒ ළමයගෙ ඇඳුම් ටික වතුරට දාල තිබුණා. ඊට පස්සෙ ළමයගෙ අම්ම කිව්වා, ඔය ඇඳන් ඉන්න ඇඳුම පිටින්ම පලයන් කියල. ඊළඟට තවත් ලියුමක් ආවා, ගියොත් ටීවී එක අහවලාට ගිහින් දෙනව කියල. ඒ කියන්නෙ ඒ මියගිය කෙනා දන්න කියන ඒ කාලෙ හිටපු කවුරුහරි කෙනෙක්. ඊට පස්සෙ බලන කොට ටීවී එක නෑ අතුරුදන් වෙලා. දැන් මේ ළමයට අම්ම කියනවා, යන්න එපා හිටපන් ටීවී එකත් නෑ කියල. ඒ නිසා ළමය ඉස්කෝලෙ නොගිහින් නැවතුණා. බලන කොට ටීවී එක තිබ්බ තැනම තියෙනවා. මේ අමනුස්සය කර්ම විපාක ඍද්ධියකින් තමයි මේ ඔක්කොම කරන්නෙ.

ඊළඟට තවත් දවසක්, තොපිට හොඳ වැඩක් කරනව කියල අර වගේම ලියුමක් දාල ගිහින් තිබුණා. අනිත් සැරේ බලන කොට, ගෙයි මැද සාලෙ කෙනෙක් මුත්‍රා කරල. බලන කොට උඩ ඉඳන් බිමට මනුස්සයෙක් මුත්‍රා කරනව වගේ මුත්‍රා වැක්කෙරෙනව පේනවා. හැබැයි කෙනෙක් නෑ. තොපිට ගේ හෝදන්න වැඩක් කරනව කියල තමයි මේ කියන්නෙ. ඊට පස්සෙ ගෙදර අම්ම ගේ හෝදනවා. ගෙදර අය මේ මියගිය කෙනාට විරුද්ධව වැඩ කරන කොට, ඒ අමනුස්සයත් එකට එක කරනවා. රෑට ගෙදර විදුලි එළිය දල්වන්න දෙන්නෙ නෑ, තරහයි. ගේ ඇතුලෙ එළිය නිවල පෝටිකෝව යටට ගිහින් බුදිය ගනින් කියනවා. ගේ ඇතුලෙ බුදිය ගත්තොත් කරදර කරනවා. ඉතින් කට්ටියත් එක්කම රෑට ගේ එළිය නිවල පෝටිකෝව යටට ගිහින් පැදුරු දාගෙන බුදිය ගන්නවා.

මොකද අමනුස්සයගෙ ගතිය අඳුර නිසා මේ විදුලි ආලෝකයෙන් එන කිරණ විසයි. ඒ ආලෝක කිරණ අමනුස්සයගෙ ශරීරයේ පරමාණු ශක්තියට ප්‍රතිචාර දක්වනවා. අමනුස්සයො වැඩි හරියක් අඳුරට ඇළුම් කරන්නෙ ඒ නිසා. එළිය එන කොට කොහේ හරි අඳුරු මුල්ලක හැංගෙනවා. ඉතින් විදුලි ආලෝකය හුඟක් සැර වැඩියි. පුංචි අඳුරු මුළු පවා ආලෝකමත් වෙනවා. එතකොට අමනුස්සයින්ට ඉන්න බෑ, පිච්චෙනවා. ඒ නිසා තමයි මේ අමනුස්සය ගෙදර විදුලි ආලෝකය පත්තු කරන්න දෙන්නෙ නැත්තෙ.

ඊට පස්සෙ කවුරුහරි ගෙදර අයට කියල තියෙනවා, අමනුස්සය හිතවත් කරගන්න කෑම එකක් දෙන්න කියල. ඒ නිසා මේ අය පොඩි දීසියකට කෑම එකක් බෙදල තියල, මේක කාල අපට කරදර කරන්න එපා කියල කිව්වා. ඊට පස්සෙ මේ අමනුස්සය ලියුමක් ලිය දැම්මා, බත් චුට්ටක් දාන්න මම බළලෙක් නෙවෙයි කියල. ඊළඟට ලොකු කෑම එකක් බෙදල දුන්නට පස්සෙ ඒ කෑම එකත් අතුරුදන් වුණා.



තව දවසක් බලන කොට ගෙයි තිබ්බ ගස්ලබු ගෙඩියකින් පළුවකුත් අරගෙන. මේ යකා නුදුන්නු ඒවත් කනව කියල ඒ ගෙදර ගෑණු මනුස්සය කිව්වා. පස්සෙ බලන කොට ගස්ලබු ගෙඩියෙ ඇට හැම තැනම විසි කරල ගිහින්. ඒ විසි කරපු කතාව කියන කොට, බලා ඉදෙද්දිම ඇට ටික එකට එකතු වෙලා එක පාරටම අතුරුදන් වුණා. ඉතින් මේ මහ ශක්තියක් තිබ්බ අමනුස්සයෙක්. ඔය වගේ ඇබැද්දි ගොඩක් තිබුණා. බලන කොට කවුරු හරි තරහකාරයෙක්, මේ අමනුස්සය අල්ල ගෙන මොනව හරි කොඩිවිනයක් කරල, ඒ කොඩිවිනයට බැඳිච්ච කෙනා තමයි මේ අමනුස්සයට බලය දෙන්නෙ. ඒ බලයයි, තමන්ගෙ කර්ම විපාක ඍද්ධි බලයයි අරගෙන තමයි මේ අමනුස්සය අර විදියෙ වැඩ කළේ. ඒ කියන්නෙ බන්ධනයක් තියෙන දේවතාවෙක් තමයි මේ අමනුස්සයට ඒ වගේ වැඩ කරන්න බල දෙන්නෙ.

යොමු කරල බලන කොට ඒ ගෙදර පිටිපස්සෙ තිබ්බ අඹ ගහක් මුල ගුප්ත ලෝකයේ අශ්ව කරත්තයක් තියෙනවා. ඒකෙ බන්ධනය කරපු දේවතාවෙක් ඉන්නවා. භූනියම් දේවතාවගෙ වාහනය තමයි අශ්ව කරත්තය. එතකොට මේ භූනියම් දේවතා බන්ධනයක් තමයි කරල තියෙන්නෙ. ඒ දේවතාව තමයි මේ අමනුස්සයට අණ පනවල බලය දෙන්නෙ. අර ලියුම් ලියන්න කොළ ගෙනියන්නෙත් එතනට. ආ ... ලියපන් කිව්වම ඒ අමනුස්සයට ලියන්න හැකියාව ලැබෙනවා. ලියන්න කොළ, පෑන් ආදිය ගන්නෙත් මේ භෞතික ලෝකෙන්මයි. ඒව කොහෙන් හරි හොයා ගන්නවා.

ඉතින් මේ මනුස්සය මැරිල ගිහිල්ලත් ඒ ස්ථානයට ලොකු උපාදානයක් තිබුණා. මොනව හරි ප්‍රශ්න ගොඩක් නිසා එල්ලිලා මැරිච්ච කෙනෙක්. මේ ගෙදර කවුරු හරි කොඩිවිනයක් කරල අවුරුදු ගාණක් තිස්සෙ ඒ කතාව පත්තරෙත් පළ කරල තිබුණා. මෙන්න මෙහෙම කරදරයක් තියෙනවා, දැහැමින් ඉදිරිපත් වෙන්න පුළුවන් කෙනෙක් ඉන්නව නම් ඉදිරිපත් වෙලා කරල දෙන්න කියල. ඉතින් ඕකට නොයෙක් අය ඉදිරිපත් වුණා. නමුත් කාටවත් ඒක කරන්න බැරි වුණා. ඊට පස්සෙ ඒ කාලෙ මම ඕකට ඉදිරිපත් වෙලා, ඒ මියගිය කෙනාගෙ තවත් විවාහ වෙච්ච දුවෙකුටත් කරදර තිබ්බ නිසා, ඇය හරහා දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කරල, නව ගුණවලින් සෙත් කරල තෙල් පහන් පත්තු කළා. එච්චරයි කළේ. ඒ සෙත් කරපු තෙල්වලින් පහන දවස් 3 ක් තිව්වම අර බන්ධනය කැපිල, තිබ්බ ප්‍රශ්න ඔක්කොම අතුරුදන් වුණා. අර විදියට අවුරුදු ගණනාවක් තිස්සේ ඔඩු දුවපු ප්‍රශ්නයක් තමයි මේ නව ගුණ බලෙන් විසඳුනේ.

ඉතින් මේ වගේ දේවල් මේ ලෝකෙ හරියට සිද්ධ වෙනවා. නමුත් ඉතින් හුඟක් අය ඒවායේ තියෙන හේතු ඵල සම්බන්ධය ලිහා ගන්න, දැන ගන්න බැරිව නොයෙක් භෞතික මත ප්‍රකාශ කරනවා, භෞතික දේවල් කරනවා. අන්තිමට මියගිහිල්ලත් මහ දාහයක් විඳිනවා. ජීවත් වෙන අයටත් කරදර කරල, මානසිකව කෙළවරක් නැති දුක් පීඩා විඳිනවා. ඒ නිසා මේ වගේ දේවල්වල ධර්මානුකූල පැත්ත දැන ගෙන ජීවත් වෙනව ඇරෙන්න, ධර්මානුකූල විසඳුම් දෙනව ඇරෙන්න, අනෙක් ඔක්කොම කරන දේවල් තාවකාලික පිළියම් විතරයි. උපාදානය තියෙන කල් කවද හරි නැවතත් ඇදිල එනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කල් ගිය අජීර්ණ නිසා හට ගත් සියලු ආබාධවලට අභක දාන පාන් ලෙල්ලෙන් ප්‍රත්‍යක්ෂ ඔසුවක්....

දැනට තියෙන ප්‍රධාන රෝගවලට මූල නිධානය හොයල, ඒ සඳහා ඉතාමත් ප්‍රත්‍යක්ෂ වටිනා ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. ඊට පෙර මේ මනුස්ස ශරීරයේ රෝග නිවාරණය සහ රෝග හට ගැනීමට හේතු වන ක්‍රියාකාරීත්වය සම්බන්ධයෙන් යම් පැහැදිලි කිරීමක් කළ යුතු වෙනවා. හැබැයි මේ පැහැදිලි කිරීම් බොහොමයක් මේ වෙන කොටත් වෛද්‍ය විද්‍යාවට හසුවෙලා නෑ. වෛද්‍ය විද්‍යාවට හසු නොවුනත් ඒ සම්බන්ධයෙන් වන ක්‍රියාවලිය පැහැදිලිව දැනගන්න පුළුවන් ක්‍රම වේදයක් යම් යම් භාවනා ක්‍රම ප්‍රගුණ කිරීම තුළින් සමාධි දර්ශනයට හසුකර ගන්න පුළුවන්. ඒ සඳහා හොඳම උදාහරණය තමයි පෙර හිටපු ඍෂිවරු. ඒ ඍෂිවරු එදා කිසිම පොතක් පතක් බලලවත්, භෞතික උපකරණ හෝ පර්යේෂණ යොදා ගෙනවත්, කාගෙන්වත් ඉගෙන ගෙනවත් නෙවෙයි ශරීරයේ රෝග නිධානයන් සහ ඒවාට ප්‍රත්‍ය වෙන බෙහෙත් ආදිය හඳුන්වා දුන්නෙ. යම් කිසි දියුණු අධ්‍යාත්මික ශක්තියක් උපයෝගී කරගෙන තමයි ඒ කටයුතු කළේ.

ඒ හා සමාන ක්‍රමයකට තමයි වහරක අභයරතනාලංකාර හිමියන් ශරීරයේ ක්‍රියාකාරීත්වය විස්තර කරල, ශරීරයේ හටගන්නා විවිධ රෝගාබාධයන්ට මූල හේතුව සහ ඖෂධ හෙළිදරව් කරන්නෙත්. ඒකත් එක්තරා සමාධිමය ඖෂධ ප්‍රතිකාර ක්‍රමයක්. මේ ආකාරයට වටිනා ඖෂධ හෙළිදරව් කිරීම් උන්වහන්සේ පටන් ගත්තෙ අද ඊයෙ නෙවෙයි. මහණ වෙන්න පෙර ගිහි වතක ඉන්න කොටත් මේ වගේ සමාධිමය ක්‍රමයකට ප්‍රතිකාර විධි සහ වටිනා ඖෂධ ක්‍රම හෙළිදරව් කරල අසාධ්‍ය මට්ටමේ රෝගීන් සැහෙන සංඛ්‍යාවකට ලබා දීල තියෙනවා. ඒවායේ ප්‍රතිඵලත් බොහොම සාර්ථක වෙලා තියෙනවා. උන්වහන්සේ ඒ කාරණය වැඩි ප්‍රසිද්ධියකින් තොරව සිදු කළ නිසා අදටත් ඒ ගැන බොහෝ දෙනෙක් දන්නෙ නෑ.

ඒ හැර උන්වහන්සේ කවදාවත් මේ වෛද්‍ය විද්‍යාව හෝ ඖෂධ ගැන කිසිම පොත පතකින් හෝ පිළිගත් ආයතනයකින් හෝ හදාරපු කෙනෙක් නෙවෙයි. අඩු ගණනෙ පාසල් යන කාලෙවත් විද්‍යා විෂයන් හදාරපු කෙනෙක් නෙවෙයි. ඒ නිසා බොහෝ කොටම මේ හෙළිදරව් කිරීම් කරන්න යොදා ගන්නෙත් සාමාන්‍ය ව්‍යවහාර භාෂාවෙ භාවිතා වෙන වචන. හැබැයි උන් වහන්සේ ගිහි කාලෙ කරපු ඒ බේත් හේත් කටයුතු දැන් කරන්නෙ නෑ. ඒ සියලු කටයුතු පළ පුරුදු වෛද්‍ය මණ්ඩලයකට භාර දීල ඒ සඳහා උපදෙස් දීල තියෙනවා. උන් වහන්සේ කරන්නෙ



සමාධියෙන් ඒ බෙහෙත් මතු කරල දීල, ඒවා සකස් කරන ක්‍රමවේදය සහ ලබා දෙන ආකාරය හඳුන්වා දීම පමණයි. ඒකත් එක්තරා සමාධියකින් කරන කටයුත්තක්.

ඒ වගේම මේ කරන හෙළිදරව් කිරීම් කොච්චර දුරට සත්‍යද කියන කාරණයත්, වෛද්‍ය විද්‍යාව සම්බන්ධව යම් දැනීමක් අවබෝධයක් තියෙන අයට තමන් දන්න කියන දේවල් තුළින් තේරුම් ගන්නත් පුළුවන්. ඊට අමතරව අවශ්‍ය නම් වෛද්‍ය විද්‍යාවට තවමත් සොයා ගන්න බැරි වුන මේ සමහර කරුණු කාරණා ගැන පර්යේෂණ කරල ඒවායේ සත්‍ය අසත්‍යතාවය හොයා ගන්නත් පුළුවන්. ඒ කොහොම වුනත් තවමත් මනුස්ස ශරීරයේ අති සූක්ෂම ක්‍රියාකාරීත්වය සම්බන්ධයෙන් බොහොමයක් කරුණු මේ වෙන කොටත් වෛද්‍ය විද්‍යාවට හසුවෙලා නෑ. ඒ නිසා වෛද්‍ය විද්‍යා කටයුතුවල යෙදෙන අයටත් මේ සම්බන්ධයෙන් තවත් දැනුවත් වෙලා, රෝගීන්ට ප්‍රතිකාර කරන්න මහත් පිටිවහලක් කරගන්න මේ හෙළිදරව් කිරීම් ප්‍රයෝජනවත් වේවි.

ඈත අතීතයේ පටන්ම යම් කිසි කාලයකට සැරයක් බඩ විරේක වෙන්න බේත් බොන සිරිතක් මිනිස්සු අතර තිබුණා. ඒ ක්‍රමයෙන් තමයි ශරීරයේ සාමාන්‍ය ක්‍රියාකාරීත්වය තුළින් ඉවත් නොවන විස අපද්‍රව්‍ය ශරීරයෙන් ඉවත් කරල සුද්ධ පවිත්‍ර කරල, ලෙඩ රෝග හැදෙන්න තිබුණ පසුතලය ඉවත් කරල දුන්නෙ. නමුත් දැනට වසර 30 - 35 ක් පමණ කාලයක පටන් මේ විරේක බේත් බීම අනවශ්‍ය දෙයක් විදිහට සලකල නවත්වල තියෙනවා. ඒක එච්චර අත්‍යවශ්‍ය දෙයක් නෙවෙයි කියල තමයි දැන් කියන්නෙ. දැනට වෛද්‍ය විද්‍යාවෙන් ප්‍රකාශ කරන්නෙ, කෙනෙක්ගෙ බඩේ (ආහාර මාර්ග පද්ධතියේ) ස්වභාවිකව හැදෙන සෙවෙල වගේ අපද්‍රව්‍ය, වැසිකිලි යනකොට ස්වභාවයෙන්ම ගැලවිලා යන නිසා ඒවා සුද්ධ කරන්න අමුතුවෙන් බේතක් අවශ්‍ය නෑ කියල. ඒ තමයි නවීන වෛද්‍ය විද්‍යාවෙ දැනට තියෙන මතය. එතකොට වර්තමාන ජන සමාජයත් බොහෝ කොටම බටහිර වෛද්‍ය විද්‍යාව මතම විස්වාසය තියල තියෙන නිසා, ඒ කාරණයම පිළිඅරගෙන මේ වෙන කොට බඩ විරේක වෙන්න බේත් ගැනීමක් බොහෝ කොටම සිද්ධ වෙන්නෙ නෑ. එන්න එන්නම ඒ ක්‍රමවේදය අභාවයට යමින් පවතිනවා. නමුත් ඒ කාරණයම තමයි දැනට බොහොමයක් නිධන්ගත රෝගවලට මුල් වෙලා තියෙන්නෙ. ඒ රෝග බහුල වෙලා තියෙන්නෙත් ඒ හේතුව නිසා. **අංශභාගය, දියවැඩියාව, පිළිකා, වකුගඩු ආබාධ, ශරීරය ඉදිමීම, තුනටියේ කැක්කුම්, අත්පා කැක්කුම්, සෙම නරක් වීමෙන් හටගන්නා බොහොමයක් රෝගවලට ප්‍රධාන වශයෙන්ම මුල් වෙලා තියෙන්නෙ බඩේ තියෙන විස අපද්‍රව්‍ය ඉවත් නොවීමේ හේතුව.**

හැබැයි මේ විස ඉවත් කරන්න, සතෙකුට හෝ මනුස්සයෙකුට ස්වභාවයෙන්ම ක්‍රමයක් හැදිල තියෙනවා. මවකට දරුවෙක් උපන්නම ලැබෙන පළමු මව් කිරෙ මේ බඩ විරේක කරවන ☞

රසායනයක් තියෙනවා. ඒ කාරණය ඔප්පු වෙන තැනකුත් තියෙනවා. කිරි හරක් හදනකොට පැටව හම්බවෙලා සති 2-3 ක් යනකල් ඒ කිරි, මනුස්සයින්ගෙ පාවිච්චියට ගන්නෙ නෑ. මොකද ඒ කිරි කැටි ගැහෙනවා. හේතුව පැටවගෙ බඩේ තියෙන විස අපද්‍රව්‍ය විරේක වෙලා ඉවත් කරන්න ඒ කිරේ තියෙන රසායනය අවශ්‍ය නිසා. ඒක මව්වරුන්ටත් තියෙනවා. නමුත් දැන් ඉන්න මව්වරුන්ට බොහෝ කොටම දරුවට අවශ්‍ය ප්‍රමාණයට මව් කිරි නෑ. ඒ වගේම කිරිවල තියෙන ඒ රසායන පෝෂ්‍ය පදාර්ථත් හිඟයි. ඒ නිසා දැන් දරුවෙක් උපන් කාලෙ ඉඳලම පිටි කිරි වර්ග තමයි දෙන්න වෙලා තියෙන්නෙ.

එතකොට දරුවෙක් මව් කුසේ වැඩෙනකොට ඉස්සෙල්ලම ඒ දරුවගෙ බඩේ කිරි මැලියම කියල දෙයක් හැදෙනවා. ඒක නිකන් ලාටුවක් වගේ. අන්න ඒ මැලියම දරුව බිහිවුනාට පස්සෙ, ඉස්සෙල්ලම ශරීරයෙන් ඉවත් වෙලා යන්න ඕන. මොකද ඒක ඉවත් වුනේ නැත්නම් ඒ මැලියම මුල් වෙලා ක්‍රමයෙන් ඒ වටා තවත් අපද්‍රව්‍ය බැඳිල බඩේ අජීර්ණ ඇති වෙනවා. මව් කිරේ තියෙන රසායනයෙන් තමයි ඒ කිරි මැලියම ඉවත් කරන්නෙ. ඉස්සර හිටපු මව්වරුන්ට හොඳට කිරි තිබ්බ නිසා, ඒ කිරිවල රසායන පෝෂ්‍ය පදාර්ථ අඩු නැතිව තිබ්බ නිසා ඒ කාලෙ අමුතුවෙන් යමක් දුන්නෙ නෑ. මව් කිරේ තිබ්බ ඒ රසායනයෙන් දරුවගෙ බඩ විරේක වෙලා ඒ මැලියම කියන අපද්‍රව්‍ය ඉවත් වුණා. ඒ හේතුවෙන් ඒ කාලෙ හිටපු දරුවන්ට ස්වභාවයෙන්ම බඩ විරේක වුණා. ඒ නිසා හුඟක් දුරට බඩේ අපද්‍රව්‍ය හිටින ඒ තත්ත්වය අඩු වුණා. ඒ නිසාම ලේසියෙන් ලෙඩක් හැදුනෙත් නෑ. නමුත් දැන් ඉන්න මව්වරුන්ට කිරිවල අවශ්‍ය පෝෂ්‍ය පදාර්ථ හරියට නැති නිසා මේ කාලෙ දරුවන්ගෙ ඒ මැලියම බඩේ ඉතුරු වෙනවා. ඊට පස්සෙ කල් ගත වෙනකොට සෙමට හේතු වෙන සෙම කාරක දේවල් බඩේ බැඳෙනවා. ඒවත් අර බඩේ තියෙන කිරි මැලියමත් එක්ක බැඳිල පසුව ක්‍රමයෙන් තවත් අජීර්ණ වෙනවා. බඩ වැල හා සම්බන්ධ නහරවල ඒ අපද්‍රව්‍ය බැඳිල ඒවත් හිර වෙනවා.

ඊළඟට බඩ වැලේ පවතින එක්තරා ස්වභාවික ක්‍රියාවලියක් තියෙනවා. දැනට පවතින වෛද්‍ය විද්‍යාවට හසු වෙච්ච කාරණාවලට වඩා ගැඹුරු දෙයක් මේ තුළ තියෙනවා. ශරීරයේ තියෙන සියලු ඉන්ද්‍රියන්ගෙ ඝනීභවන අපද්‍රව්‍ය කොටස ශරීරයේ සිව් අතරින් ගෙනියන එක්තරා රසායනික ද්‍රාවණයක් තියෙනවා. අපද්‍රව්‍ය ඒ ද්‍රාවණයේ දිය කරල ගෙනිහින් මහ බඩ වැලට තමයි ඇතුල් කරන්නෙ. මහ බඩ වැලේ ගුදිරි කියල කොටසක් තියෙනවා. ඒක ශරීරය ඇතුලෙ තියෙන අපද්‍රව්‍ය ඉවත් කරන පෙරහණයක් වගේ ක්‍රියා කරන්නෙ. එතකොට ඒ ගුදිරිවලට අර අපද්‍රව්‍ය ඇතුල් වෙලා ක්‍රමයෙන් වැඩෙනවා. ඒ නිසා අර ස්වභාවික ක්‍රියාවලිය කරන්න බැරිව යනවා. දරුවෙක් කුඩා කාලෙ පටන්ම සෙම වැඩි වෙලා ශරීරය මහත් වෙලා පපුවෙ සෙම, පීනස් අමාරු, නොයෙක් දුර්වලතා ආදී හුඟක් ලෙඩ රෝග ඇති වෙන්න මේ අපද්‍රව්‍ය රැඳීම හේතු වෙනවා. අපද්‍රව්‍ය ඉවත් කරන ක්‍රමය තමයි අද වෙන කොට මේ වැහිල තියෙන්නෙ. ඒක එක්තරා දිගු ක්‍රියාවලියක්. ඒ වගේම නිතරම වගේ සිද්ධ වෙන දෙයක්. හැබැයි මේ ක්‍රියාවලිය තවමත් නවීන වෛද්‍ය විද්‍යාවට අහු වෙලා නෑ. නමුත් ඒක අත්‍යාවශ්‍යයෙන්ම ශරීරයේ අපද්‍රව්‍ය පිටකරන ක්‍රමයක්. මේ ශරීරයත් ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන ද්‍රව ද්‍රව්‍ය, උෂ්ණය ගැබ්වෙච්ච ද්‍රව්‍ය, වායුමය ද්‍රව්‍ය සහ තද ද්‍රව්‍ය කියන ධාතු හතරකින් හැදිල තියෙන්නෙ. මේ ශරීරය හැම වෙලේම පිටකරන අපද්‍රව්‍යත් මේ ධාතු හතරෙන් තමයි හැදිල තියෙන්නෙ. ඒ සඳහා බහිස්‍රාවී පද්ධති හතරක් ශරීරය තුළ පිහිටල තියෙනවා.

මේ අපද්‍රව්‍ය ගත්තම ඝනීභවන අපද්‍රව්‍ය කොටසක් තියෙනවා. ඒ කියන්නෙ, වෙහෙස මහන්සි වෙන කොට, සෛල ගෙවෙන කොට, අපි කන බොන ආහාරවලින් ඇතිවන කාබනික ද්‍රව්‍යවලින් ඉවත්වෙන ඝනීභවන අපද්‍රව්‍ය කොටසක්. ඒ තමයි පඨවි ධාතුවෙන් එන ඝනීභවන කොටස. ඒ අපද්‍රව්‍ය පිටකරන මාධ්‍යය තමයි මහ බඩ වැල. ශරීරයේ තියෙන සිව් අතරින් ඒ අපද්‍රව්‍ය ද්‍රාවණයත් එක්ක හැම වෙලේම මහ බඩ වැලට යවනවා. එහෙම යවල මහ බඩ වැලේ තියෙන ජලය නැවත සෛලවලට යවල, නැවතත් පිරිසිදු ජලය උරාගෙන නැවත වරක් අර සිව් අතරින් ඉන්ද්‍රියන්ගෙ අපද්‍රව්‍ය කරා ගෙනිහින් නැවතත් ඒවාට මිශ්‍ර කරගන්නවා. ආපසු ඒ අපද්‍රව්‍ය අරගෙන ඇවිත් මහ බඩ වැලට යවල, බඩ වැල තුළින් තෙතමනය ආපසු ඇදල ගන්නවා. බඩ වැලේ රැඳෙන අපද්‍රව්‍ය ටික එකතු වෙලා තමයි මළපහ විදියට පිටවෙන්නෙ. ඒ තමයි පඨවි ධාතුවේ තියෙන අපද්‍රව්‍ය කොටස ඉවත් කරන ස්වභාවික ක්‍රමය.

මෙතනදි බොහෝ අය බඩ විරේක වෙනව කියන කොට හිතාගෙන ඉන්නෙ, කුඩා බඩ වැලේ තියෙන ජලය උරා ගන්නෙ නැතිව එහෙම්ම ආමාශයේ පටන් මහ බඩ වැලට ගිහින් පිටවෙනව කියල. නමුත් එහෙම දෙයක් නෙවෙයි මේ සිද්ධ වෙන්නෙ. මහ බඩ වැලේ ක්‍රියාවලියෙදි ජලය උරා ගන්න බවට දැන ගන්න තියෙන හොඳම සාක්ෂියක් තමයි, යමෙකුට වතුර බෝතල් බාගයක් වස්ති කරල දුන්නොත්, ඒ පුද්ගලයා නිදාගෙන ටික වෙලාවකින් බලන කොට ඒ වතුර ටික නැවතත් මළ මාර්ගයෙන් පිට වෙන්නෙ නෑ. ඒක ඇඟට උරා ගන්නවා. ඒ උරා ගන්නෙ මහ බඩ වැලෙන්. වස්ති කළාම ඒ වතුර කටින් පිට වෙන්නෙත් නෑ, එවෙලෙම මුත්‍රවලින් පිට වෙන්නෙත් නෑ. මහ බඩ වැලේ තිබ්බ වතුර ටිකට වෙච්ච දේකුත් නෑ. මොකද ඒක මහ බඩ වැල හරහා ශරීරයට උරාගෙන ලේ හරහා දාඩිය, මුත්‍ර ආදියෙන් තමයි පිට වෙන්නෙ.

ඊළඟට දෙවන මට්ටමේ ලවණ වර්ග වගේ ද්‍රව අපද්‍රව්‍ය ජලයේ දිය කරල ගෙනියන්න තවත් ක්‍රමයක් තියෙනවා. කලින් කියපු ඝනීභවන කොටස ජලයේ දිය වෙන්නෙ නැති නිසා තමයි මළපහ/අසූචි මගින් ගෙනියන්නෙ. ඊළඟ කොටස තමයි වකුගඩුවලින් පෙරල මුත්‍රාවලින් පිට කරන්නෙ. එතකොට ආපෝ ධාතුවට සම්බන්ධ බහිස්‍රාවී ඉන්ද්‍රිය පද්ධතිය තමයි වකුගඩු සහ මුත්‍රාශය කියන්නෙ. ලවණ වර්ග ඇතුළු ජලයේ දියවෙන ආපෝ ධාතුවට සම්බන්ධ අපද්‍රව්‍ය කොටස, වකුගඩුවලට ගෙනිහින් පෙරල මුත්‍ර මගින් පිට කරනවා. තුන්වනුව ශරීරයේ උෂ්ණ ධාතුවත් එක්ක සම්බන්ධ අපද්‍රව්‍ය තියේනම් ඒවා පිටකරන බහිස්‍රාවී පද්ධතිය තමයි හම. හමේ තියෙන දහඩිය සහ මේධ ග්‍රන්ථිවලින් තමයි ඒක කරන්නෙ. ඒ අපද්‍රව්‍ය හම හරහා දහඩිය සහ තෙල් විදිහට පිට කරනවා. හතරවනුව වායෝ ධාතුවට සම්බන්ධ අපද්‍රව්‍ය පෙණහැල්ලෙන් ප්‍රාස්වාස වාතය විදිහට ඉවත් කරනවා.

මෙන්න මේ ක්‍රම හතරෙන් තමයි ශරීරයක් අපද්‍රව්‍යවලින් තොරව නිරෝගීව තියා ගන්නෙ. හරියට වාහනයක් ක්‍රියා කරන කොට නිෂ්පාදනය වෙන ජල වාෂ්ප, තාපය, දුම, දූලි අඟුරු වගෙයි. ඒවා හරියට ඉවත් නොවුනොත්, සුද්ද නොකළොත් ඒ වාහනයෙ ආබාධ එනවා. ශරීරය ගත්තොත් අර ඝන අපද්‍රව්‍ය ගෙනියන මහ බඩවැලේ ගුදිරි, අජීර්ණ වෙච්ච අපද්‍රව්‍යවලින් වැහිල කල් යනකොට ඒ ඝනීභවන අපද්‍රව්‍ය ලේවල ඉතිරි වෙනවා. එතකොට සමහර විට ක්‍රියැටින් කියන අපද්‍රව්‍යය වැඩි වෙනවා. ඒකත් ඝනීභවන කොටසක්. ඒ කොටස වැහුණම මොකද වෙන්නෙ, දෙවන ක්‍රමයෙන් අපද්‍රව්‍ය පෙරන්න යන්නෙ වකුගඩුව හරහා. එතකොට වකුගඩුවට දරන්න බැරි අපද්‍රව්‍ය කොටසක් තමයි ඒකෙන් පෙරන්න ගෙනියන්නෙ. නමුත් ඊළඟට වෙන කරන්න දෙයක් නැති

නිසා, ඒ අපද්‍රව්‍ය වකුගඩු හරහාම පිට කරන්න, පුළුවන් තරම් වෙර දරනවා. මේ වෙර දැරීම මුල් කරගෙන හටගන්නා රෝගී තත්ත්වයක් තමයි රුධිර පීඩනය. මොකද ඊට පස්සෙ අපද්‍රව්‍ය ගිහින් නහරවල බැඳෙනවා. වකුගඩුවෙන් ඒ අංශු පෙරන්න බෑ, ලොකු වැඩියි. ඒවා ගිහින් නහරවල එකතු වෙනකොට ලාටුවක් වගේ බැඳිල නහර හිර වෙනවා, ගැට ගැහෙනවා. එතකොට ලේ ගමනය අඩු වෙනවා.

මෙතනදී තවත් දෙයක් සිද්ධ වෙනවා. මේ අපද්‍රව්‍ය ගෙනියනකොට නහරවල කේශනාලිකා කියල කොටසක් තියෙනවා. නාඩිවල තියෙන අතු බෙදිල ගිහින් තමයි ශිරාවට ලේ යවන්නෙ. ඒ කියන්නෙ ධමනිවලින් නාඩි කේශනාලිකා ඇති කරල, ඒ නාඩි කේශනාලිකා හරහා ගිහින් ශිරා කේශනාලිකාවලට යවනවා. ඊට පස්සෙ ශිරා කේශනාලිකාවලින් පොඩි පොඩි අතු එකතු වෙලා ඊට වඩා ලොකු නහර හැදිල ඒ ක්‍රමයට ගිහින් මහ ශිරාවලට සම්බන්ධ කරනවා. එතකොට ඊළඟ සැරේ හෘදය වස්තුව හරහා පෙණහැල්ලට තමයි පෙරන්න ගෙනියන්නෙ. මහ නහර ලොකු නිසා ඒවායින් සනීභවන අපද්‍රව්‍ය ගන්නකොට ඒ අපද්‍රව්‍ය වැඩි වුනත්, ඒවා හිර වුනත් එච්චර අමාරු නෑ. නමුත් සියුම් කේශනාලිකා හරහා යනකොට එහෙම නෙවෙයි. මේ සියුම් කේශනාලිකා කෝටි ගණනක් තියෙනවා. ඒවා තැනින් තැන හිරවෙන්න පටන් ගන්නවා. හිරවුනාට පස්සෙ අනෙක් කේශ නාලිකා නිතර නිතර ලියලල ඒවායින් අපද්‍රව්‍ය යවන්න හදනවා. නමුත් මේ අපද්‍රව්‍ය පිටකරන නියම ක්‍රමය තියෙන මහ බඩ වැල, අපද්‍රව්‍යවලින් වැහිල ගියාම ඒ අපද්‍රව්‍ය ගිහින් අලුතින් හදන නහරත් වහගන්නවා. ඒත් එක්කම ශරීරයේ ස්වභාවය තමයි තව තවත් අමතර කේශනාලිකා නිපදවීම. අන්තිමට ඒවත් සනීභවන අපද්‍රව්‍යවලින් හිර වෙලා එහෙම්ම නතර වෙනවා. මේ නිසා ශරීරය අක්‍රමික විදිහට මහත් වෙනවා. මහන්සිවෙලා වැඩක් පලක් කරන්න බැරිව යනවා. ලොකු රෝග මූලයක් තමයි මේ විදිහට හට ගන්නෙ.

එතකොට බාහිර අපද්‍රව්‍යවලින් නහර හුඟක් වැහෙනකොට නාඩිවලින් ශිරාවලට ලේ යවන්න තෙරපනවා. ඒ තෙරපීමේ වේගය වැඩි කරනකොට ශරීරයේ රුධිර පීඩනය වැඩි වෙනවා. ඊළඟට ශරීරය ඉදිමිලා වෙහෙස මහන්සිය වැඩිවෙනවා. ඒකට එක හේතුවක් තමයි මේ විස්තර කරපු ක්‍රියාවලිය. ශරීරයේ බොහොමයක් සියුම් කේශනාලිකා තියෙන්නෙ මොළය වටා තියෙන සිව්වල. මොළයට ඔක්සිජන් ගෙනියන, මොළයෙන් අපද්‍රව්‍ය බැහැර කරන සිව්වල මේ අපද්‍රව්‍ය ගිහින් හිර වෙනවා. එතකොට ළමයින්ට කල්පනා ශක්තිය අඩු වෙනවා. මොළයට අවශ්‍ය ඔක්සිජන් ප්‍රමාණය ක්‍රමයෙන් අඩු වෙන්න පටන් ගන්නවා. පීනස් අමාරු, සෙම් අමාරු, සුව නොවන සෙම්ප්‍රතිශ්‍යාව වගේ රෝගාබාධ එන්න පටන් ගන්නවා. මොකද ඒ රෝගාබාධවලින් උත්සාහ කරන්නෙ ඒ හරහා අපද්‍රව්‍ය පිටකරන්න. නමුත් උත්සාහ කළාට එහෙම පිට කරන්න විදිහක් නෑ. එතකොට ඒ අපද්‍රව්‍යත් ගල් වෙනවා. මෙතනදී නාඩි කේශනාලිකාවලින් ශිරා කේශනාලිකාවලට ලේ විදින ස්ථාන තමයි නිල කියල කියන්නෙ. මහන්සිවෙලා වැඩ කරනකොට මේ නිල තෙරපෙනවා. නිල වෙදකමින් කරන්නෙත් ඒ නිල උත්තේජනය කිරීමක්. ඒ උත්තේජනය කරන කොට ටික කාලයක් යනකල් සාර්ථකයි. එතකල් අපද්‍රව්‍ය පිට කර කර යවනවා. එතකොට තමයි යම් කිසි සුවයක් පෙන්වන්නෙ. නමුත් ඒක රෝගයට නියම ප්‍රතිකාරය නෙවෙයි, තාවකාලිකයි.

එතකොට මේ නිල ස්ථාන වැහෙනකොට ඒවා ඉදිමෙනවා. ශරීරය ඉදිමෙන්න පටන් ගන්නවා. වේදනාව



තදබල වෙනවා. කිසි වැඩක් කරගන්න බෑ. හතියි, මහන්සියි, කම්මැලියි, කල්පනා ශක්තිය, සිහි බුද්ධිය, ධාරණ ශක්තිය අඩු වෙනවා. මේ විදිහට මොළය හා සම්බන්ධ විසාල වැඩ කොටසක් අක්‍රීය වෙනවා. ඒ නිසා මොළය සම්බන්ධ වෙන හැම ඉන්ද්‍රියක්ම ක්‍රියා කරන්න අවශ්‍ය වෙන ස්නායු පද්ධතිවල ක්‍රියාකාරීත්වය අඩපණ වෙන්න ගන්නවා. හැබැයි ඒක ස්නායු රෝගයක් නෙවෙයි. නමුත් අද හිතන් ඉන්නෙ ඒකත් ස්නායු රෝගයක් කියල. ස්නායු රෝගවලට බොහෝ කොටම බේත් නෑ කියන අදහස තමයි අද බටහිර සහ ආයුර්වේද වෛද්‍ය ක්‍රම දෙකෙන්ම කියන්නෙ. නමුත් මෙතනදී මුලින්ම හටගන්නෙ ස්නායු රෝගයක් නෙවෙයි. ඒ ස්නායු ක්‍රියාත්මක කරවන්න අවශ්‍ය කරන මොළයේ ඉන්ද්‍රියන්ට අවශ්‍ය ඔක්සිජන් සහ පෝෂණය අඩු වීමක් තමයි සිද්ධ වෙන්නෙ. ඒ නිසා තමයි ස්නායු අක්‍රීය වෙන්නෙ. එහෙම නැත්නම් ස්නායු නරක් වෙලා නෑ, හොඳයි. නමුත් ඒ කාරණය ස්නායුවලට බලපාන්නෙ හුඟක් කල් ගිහින්. අන්තිමට ස්නායුවලට බලපානකොට තනිකරම නිකන් මන්ද බුද්ධිකයෙක් වගේ වෙනවා. ඒ වගේම අංශභාග වගේ රෝගී තත්ත්වයන්ට හැරෙන්න ගන්නවා. මොළයේ නහර පුපුරන්න ගන්නවා. ගෙඩි එනවා. කාලයක් යනකොට අර අපද්‍රව්‍ය රැඳිල ඒ තැන්වල හිර වෙන්න පටන් ගන්නවා. නමුත් මේ කාරණය තවමත් වෛද්‍ය විද්‍යාවෙන් අනාවරණය කර ගෙන නෑ.

ඊළඟට මේ ශරීරයේ එක්තරා විස බීජ කොට්ඨාසයක් තියෙනවා. හැබැයි ඒක ස්වභාවික දෙයක්. උදාහරණ විදිහට සෙම්ප්‍රතිශ්‍යාව කියන වෛරසය වගේ. ඒක ශරීරයේ ස්වභාවයෙන්ම වගේ තියෙන දෙයක්. ප්‍රතිශක්තිකරණය ලැබුවට පස්සෙ ඒකෙන් ශරීරයට මුකුත් ප්‍රශ්නයක් නෑ. හැබැයි ප්‍රශ්නයක් නෑ කිව්වට, ඒ ප්‍රතිශක්තිය වැඩෙන්න නම් ඒකට අවශ්‍ය කරන පසුතලයක් තියෙන්න ඕන. ඒ පසුතලය තමයි අර නිල කියන තැන්වල හැදෙන්නෙ. නමුත් මේ අපද්‍රව්‍ය කලක් අල්ලගෙන හිටියම ඒක බලාගෙන ගිහින් අර වෛරසය වැඩෙනවා. එතකොට ඒ වෛරසයයි, ශරීරයේ තියෙන අපද්‍රව්‍යයි එකතු වෙලා හැදෙන සංයෝගය මුල් කරගෙන තවත් සෛල කොටසක් නිපදවන්න පටන් ගන්නවා. ඊට පස්සෙ ශරීරයේ තියෙන ස්වභාවික සෛලවලින් විකෘති හැදෙන්න පටන් ගන්නවා. ඒවට පිළිකා සෛල කියල කියනවා. හැබැයි මේ පිළිකා සෛල කියන්නෙ අමුතු සෛල වර්ගයක් නෙවෙයි. නමුත් පරීක්ෂණවලින් බැලුවට පස්සෙ පිළිකා සෛල කියල තමයි පේන්නෙ. ඊට පස්සෙ ඒකට අමුතු සෛල වර්ගයක් කියල නමක් දානවා. නමුත් මේ අමතර සෛල හැදී හැදී වැඩෙනවයි කියන්නෙ, අර අපද්‍රව්‍යයි විස බීජයි දෙකේ ක්‍රියාකාරීත්වය නිසා ඒක විකෘති හැඩයක් ගන්නවා, මහත් වෙනවා. ඒ වගේම ඒවායේ ලේ ගමනාගමනයක් නැති නිසා බොහෝ කොටම සුදු පාටයි. ඒවට තමයි මේ පිළිකා සෛල කියල කියන්නෙ. නමුත් පිළිකා සෛල කියල වෙනම සෛල වර්ගයක් නෑ.

ඉතින් මේ සිද්ධිය නිසා ශරීරයේ සියුම් නිල තියෙන තැන්වල ඔය කියන පිළිකා එනවා. එතකොට ඒක පිළිකා රෝගයටත් මූලක් වෙනවා. රුධිර පීඩනයටත් මූලක් වෙනවා. අනික මෙහෙම ගියාම ශරීරයේ පුළුවන් තරම් පීඩනය වැඩි කරන කොට, ඒත් එක්කම අධික වේගයෙන් වකුගඩුවෙ තියෙන කපාටවලින් අපද්‍රව්‍ය තල්ලු කරන්න බලනවා. නමුත් තල්ලු කරන්න හැදුවට ඊට වඩා අති සියුම් මට්ටමක අපද්‍රව්‍ය ද්‍රාවණයක් විතරයි වකුගඩු හරහා පිට කරන්න පුළුවන් වෙන්නෙ. ඊට පස්සෙ මුත්‍රා සමග ප්‍රෝටීන් යන්න පටන් ගන්නවා.

මොකද සනීභවන අපද්‍රව්‍ය තල්ලු කරන්න හදන කොට සිදුරුවලින් ප්‍රෝටීන් යනවා.

තවත් පැහැදිලි කරනව නම් ජල අංශු පොඩියි, ක්‍රියැටින් අංශු ලොකුයි, ප්‍රෝටීන් අංශුවල ප්‍රමාණය මධ්‍යමයි. සනීභවන ක්‍රියැටින් අංශු ලොකු වැඩි නිසා, ඒවා තල්ලු කරන්න හදන කොට සෛලවල කපාට ලොකු වෙන්න ගන්නවා. ඒක වකුගඩුවේ රෝගී තත්ත්වයක් නෙවෙයි, ස්වභාවයක්. මොකද ක්‍රියැටින් කියන අපද්‍රව්‍යය කොහොම හරි ඉවත් කරන්න ඕන නිසා. නමුත් ඒක සාමාන්‍යයෙන් ඉවත් කරන්නෙ වකුගඩුවෙන් නෙවෙයි, මළ මාර්ගයෙන්. හැබැයි මහ බඩවැලේ ක්‍රියාකාරීත්වය අක්‍රීය වෙන කොට ඊළඟට වකුගඩුවේ ක්‍රියාකාරීත්වයෙන් තමයි ඒ අපද්‍රව්‍ය ඉවත් කරන්න උත්සාහ කරන්නෙ. ඉතින් ඒක තල්ලු කරන්න හදන කොට සෛලවල කපාට ලොකු වෙලා, මෙතෙක් කල් නොගිය ප්‍රෝටීන් අංශුත් යන්න පටන් ගන්නවා. ඒත් පූර්ණ මට්ටමට ක්‍රියැටින් යවන්න තරම් ඒවා ලොකු වෙන්නෙ නෑ. නමුත් පුළුවන් තරම් යවන්නමයි උත්සාහ කරන්නෙ.

ඒ නිසා මුත්‍රාවල ප්‍රෝටීන් වැඩි වෙනවා. මුත්‍රා පෙණ දාන්න පටන් ගන්නවා. දැනට තියෙන වෛද්‍ය විද්‍යාවෙන් ඒ තත්ත්වයටත් ප්‍රත්‍යක්ෂ බේතක් කියන්නෙ නෑ. මුත්‍රාවලින් ප්‍රෝටීන් යනව කියනව මිසක් ඒක කොහොම වෙනවද කියන්න දන්නෙ නෑ. ඒක ලේවලට එකතු වෙච්ච අපද්‍රව්‍ය නිසා ඇති වෙන සිද්ධියක්. මෙහෙම වෙන කොට අර කපාට ලොකු වෙලා තියෙනව මිසක් කුඩා වෙන්නෙ නෑ. හැබැයි පීඩනය වැඩි කරන කොට හිරවීම වැඩි වෙනවා. ඊට පස්සෙ ක්‍රමයෙන් වකුගඩුවේ ක්‍රියාකාරිත්වය අක්‍රීය වෙනවා. ඒ අක්‍රීය වීම නිසා වකුගඩුවේ මිලියන ගණනක් ඇති සිදුරු එකින් එක වැහෙන්න පටන් ගන්නවා. එතකොට වකුගඩු ක්‍රමයෙන් අක්‍රීය වෙලා නියම විදිහට ක්‍රියාකාරීත්වය නැතිව යනවා, දුර්වල වෙනවා.

මේ තත්ත්වය ඇතිවෙන්න එක හේතුවක් තමයි, අපි මොනව හරි ආහාරයට ගන්නකොට ඒ ආහාරයේ තියෙන යම් යම් විස රසායනිකයන් ශරීරගත වුනාම, ඒක ශරීරයට බාධකයක් නොවෙන්න ඒ වටා එක්තරා සෙම පටලයක් බැඳ ගන්නවා. ඒක අපිට පේන්නෙ නැති පැත්තක්. යම් කිසි සතෙකුට යමක් විස වෙනව කියන්නෙ, ඒවායේ තියෙන සංයුතියෙන් ඒ ස්ථානයේ තියෙන විස කපල කොටල දාන්න ශක්තියක් හැදෙනවයි කියන එක. යම් කිසි රළු දෙයක් ඇතුළු වෙච්ච ගමන්, විශේෂයෙන් මොළය වටා තියෙන සියුම් කේශනාලිකාවලට බාධා පැමිණෙනවා. ඒ වගේ අනෙකුත් ඉන්ද්‍රියන්ටත් බාධා පැමිණෙනවා. අන්න ඒ බාධා පැමිණීම නිසා තමයි විස වෙනව කියන්නෙ. එහෙම නැතිව නිකම්ම විසක් නෙවෙයි. රළු දෙයින් නහර තුවාල කිරීම, අවහිර කිරීම වළක්වන්න ශරීරයේ ස්වභාවිකව සිද්ධ වෙන ක්‍රියාවලියක් තියෙනවා.

එහෙම දෙයක් ඇතුල් වුනාම ඒ වටා සෙම පටලයක් බැඳිල ඒක බදාමයක් වගේ හදනවා. ඒක ටික කලක් යනකල් ලිස්සල යනවා. ඒකෙන් ශරීරයට කරදරයක් වෙන්න දෙන්නෙ නෑ. නමුත් ඒ වගේ රසායනික ද්‍රව්‍ය සහිත ආහාර දිගටම ගත්තම, ඒ අපද්‍රව්‍යත් ප්‍රමාණයෙන් වැඩි වෙනවා. එතකොට ඒ වටාත් අර විදිහට සෙම බැඳිල තව තවත් අපද්‍රව්‍ය වැඩි වෙනවා. සෙමක් වටා තවත් අමතර සෙමක් හටගන්න ඒක හේතුවක් වෙනවා. මේ සෙම හටගත්තම ඒකත් ගිහින් අර ගුදිරිවල අජීර්ණ වෙලා හිර වෙනවා. එතකොට අපද්‍රව්‍යවලින් අවහිර වන මේ ස්වභාවික ක්‍රියාවලියට ඒ කාරණයත් අර සියල්ලමත් බලපානවා. ඒ නිසා ශරීරය ඉදිමීම, වෙහෙස මහන්සිය වේගයෙන් වැඩි වෙනවා. ස්වභාවිකවම ඝන අපද්‍රව්‍ය පිටකරන්න තියෙන එකම දේ තමයි බඩ වැලේ තියෙන ගුදිරි. මේ හේතුව උඩ පළවෙනිම රෝග මූලය එන්නෙ බඩ වැලෙන්. ඉතින් මේ අපද්‍රව්‍ය ස්වභාවිකව ඉවත් කරන්න බැරි නිසා තමයි ඊළඟට බඩ විරේක වෙන්න බෙහෙත් ගන්නෙ. නමුත් මෙහෙම දෙයක් සිද්ධ වෙන බව අද ඉන්න අය දන්නෙ නෑ. මේ හේතුව නිසා දැන් යමෙකුට මහ බඩ වැලේ අපද්‍රව්‍ය ඉවත් කරන්න පොඩි බේතක් බිව්වම, ඒකෙන් මේ වගේ අපද්‍රව්‍ය දිය කරන්න බෑ. ඒක දිය කරල පොඟවල නැවත බඩ වැලට ඇදල ගන්න බෑ. ඒකයි තියෙන ගැටළුව. ඒකට තියෙන එකම ස්වභාවික ක්‍රියාවලිය තමයි අද වෙනකොට අක්‍රිය වෙලා තියෙන්නෙ.

මෙතනදි අපද්‍රව්‍ය බඩේ රැඳුනම අජීර්ණ කරනවයි කියන්නෙ, ඒක දිරවන්න බැරිකම. දිරවන්නෙත් නෑ, පිටකරන්නෙත් නෑ. පිට කරන්න තියෙන නහර වැහෙනකොට බාහිරින් දෙන බේතකින් කරන්නෙ මොකක්ද, නැවතත් ඒ කියන්නා වූ ක්‍රියාවලියම සිද්ධ කර කර ඒ අපද්‍රව්‍ය ටිකෙන් ටික පොඟවනවා. මොකද එක පාරටම ඇදල ගන්න බැරි නිසා. ඒ නිසා දැන් මේ හඳුන්වා දෙන්න යන බේත බොන්න පටන් ගත්තට පස්සෙ, ඒ පෙඟවීම මාස 2 - 3 ක් විතර තියෙන්නත් පුළුවන්. අපද්‍රව්‍ය ශරීර ගත වෙලා තියෙන ප්‍රමාණය අනුව ඒ කාලය වෙනස් වෙනවා. මුලදි ඒක එහෙම හොයන්න බෑ. ඒ නිසා මුලින්ම මේ බේත ගන්නකොට සමහර විට බඩ වේලවනවා. ඒ වෙලාවට බඩ ලිස්සල දියර වගේ යන්නත් පුළුවන්. නමුත් තවමත් නියම තත්ත්වෙට ඇවිත් නෑ. ඒ නිසා ඒ තත්ත්වය ගණන් ගන්නෙ නැතිව මේ බේත දිගටම ගන්න ඕන. එතකොට ක්‍රමයෙන් අර අපද්‍රව්‍ය පොඟවල බඩ වැලේ ගුදිරි තුළින් නැවතත් බඩ වැලට ඇදගන්නවා. ඒ වගේ ශක්තියක් මේ හඳුන්වාදෙන බේතෙ තියෙනවා. ඒ විදිහට ගිහින් අන්තිමට අපද්‍රව්‍ය සියල්ලම දිය වෙලා බඩ වැලට ඇදෙන්න පටන් ගන්නවා. එතකොට ස්වභාවිකවම ශරීරයට උෂ්ණ ගතියක්, පණ නැති ගතියක් වගේ එන්න පුළුවන්. එහෙම වෙලා කලන්ත ගතියක් ඇවිත් අර අපද්‍රව්‍ය 30 - 40 වතාවක් විතර එක දිගට විරේක වෙලා පිට කරන්න පටන් ගන්නවා. තනිකරම කළු පාට කැලි කැදලි ගැලවිලා යන්න පටන් ගන්නවා. සමහරවිට ඒ අපද්‍රව්‍ය කොටස් නරක් වෙලා ගෙඩි ගැහිල එහෙම තිබුණ නම් ලේත් එක්ක බඩ විරේක වෙන්න පුළුවන්.

හැබැයි මේ වෙලාවෙදි හුඟක් අය බය වෙලා බඩේ අජීර්ණයක් හැදිල කියල හිතාගෙන බේත් ගන්න පුළුවන්. බේත් ගත්තොත් මොකද වෙන්නෙ, නැවතත් වේලෙන්න ගන්නවා. එතකොට ඒකට වෙන බේතක් ගත්තොත් මේ සුද්ධ වීමේ ක්‍රියාවලිය කෙරෙන්නෙ නෑ. ඒ නිසා යමෙකුට මේ බේත පාවිච්චි කරල ඒ වගේ විරේක වෙන අවස්ථාවක් උදා වුනොත්, ලෙඩක් කියල හිතල විරේක වීම නවත්ව ගන්නෙ නැතිව, බොහොම පරිස්සම් වෙලා ඒ අවස්ථාවට සංතෝසෙන් මුහුණ දෙන්න ඕන. එක දිගට 30 - 40 වතාවක් විතර බඩ විරේක වෙනකොට සමහරවිට ඒකට දවස් දෙකක් විතර යන්නත් පුළුවන්. ඒ අතර කාලෙදි විජලන තත්ත්වයක් ඇති වෙන්න පුළුවන්. මොකද ශරීරයේ තියෙන ජලය අරගෙන බඩ වැලට ඇවිත් පිටකරන කොට ශරීරයේ ජලය මදි වෙනවා. ඒ වෙලාවට විජලන ගතිය අඩු කරන්න ජීවනී වගේ දෙයක් ගන්න ඕන. ඒ හැර විරේකය නවත්වන කෝපි, දෙහි, දොඩම් ආදී වෙන මොනවත් පාවිච්චි කරන්නෙ නෑ. ඒ වගේම මඳ රස්නෙට උණු වතුර වැඩිපුර බිව්වොත් වඩා හොඳයි. මුලදි ශරීරයට ටිකක් පණ නැති ගතියක් ආවත් ඒ අපද්‍රව්‍ය ශරීරයෙන් ඉවත් වෙලා සුද්ද වෙනකල්ම මේ බේත නවත්වන්න හොඳ නෑ. ඒකට බය වෙන්න දෙයක් නෑ. ඇඟට නිකම් පණ නැති ගතියක් දැනෙන එකයි, වෙහෙස මහන්සියයි විතරයි එන්නෙ. ඊට පස්සෙ සම්පූර්ණයෙන්ම බඩ සුද්ද වෙලා තමයි බඩ විරේක වීම ස්වභාවයෙන්ම නවතින්නෙ. එහෙම නැතිව බඩ විරේක වීම නවත්වන්න බඩ වේලවන මොනවත්

ගන්නෙ නෑ.

මේ විදිහට බඩ සුද්ද වුනාට පස්සෙ බඩ වැල නැවත වාරයක් ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා. ඒ වෙන කොටත් තිබිච්ච තවත් අපද්‍රව්‍ය ඇදල අරගෙන බඩ වැලට අරන් පිට කරනවා. දෙවෙනි වතාවටත් දූන් බඩ වැල ක්‍රියාත්මකයි. හිර වෙලා තිබිච්ච සනීභවන අපද්‍රව්‍ය පිට කරන්න පටන් ගත්තම දූන් ශරීර ඉන්ද්‍රියන්ට පහසුවක් දූනෙනවා. හැබැයි ටික දවසක් යනකල් ඇඟ කැක්කුම් කරන ගතියක් තියෙන්න පුළුවන්. මොකද අර නිලවල හිරවෙලා තියෙන සියුම් අපද්‍රව්‍ය තවමත් දිය කරන නිසා. මේ බේත නහරවලට ගිහින් වැඩ කරන කොට නහරවල තියෙන අපද්‍රව්‍යත් ඒත් එක්කම දිය කරනවා. හැබැයි ඒ වෙලාවට හැදෙන මහන්සිය, තෙහෙට්ටුව අසනීපයක් නෙවෙයි. අර දිය වෙන අපද්‍රව්‍ය සියල්ල දිය කරල ලේවලට ඇදගන්න නිසා දූන් ඒක ලේවල තියා ගන්නෙ නෑ. මොකද ප්‍රධාන සනීභවන අපද්‍රව්‍ය පිටකරන ඉන්ද්‍රිය පද්ධතිය දූන් නැවතත් යථා තත්ත්වයට පත්වෙලා තියෙන නිසා. ඒ නිසා අපද්‍රව්‍ය ඉක්මනට බඩ වැලට ඇදල ගෙනත් දානකොට කළු පාට කැදලිත් එක්ක යන්න පටන් ගන්නවා. ලේවල තියෙන තද කාරම් පවා ඇදල ඇවිත් ක්‍රමයෙන් ඉන්ද්‍රිය පද්ධතිය සුද්ධ වෙන්න පටන් ගන්නවා. එතකොට ඇඟට අමාරුකම් දූනෙනවා. කලින් ක්‍රියැටින් වැඩි වෙලා තිබුණ නම් මේ සිද්ධිය වුනාට පස්සෙ මුත්‍රාවල ක්‍රියැටින් අඩු වෙලා තියෙනව දූනගන්න පුළුවන්. ටික කලක් ගියාම ප්‍රෝටීන් යැමත් අඩු වෙනවා. ඒ සියල්ල අඩු වෙන්න පටන් ගන්න නිසා බඩ සුද්ද වෙලා ඉවර වෙනකල්ම මේ බේත ගන්න ඕන.

මේ විදිහට බඩ සුද්ද වෙලා නැවතුනාට පස්සෙත් අවශ්‍ය නම් ටික දවසක් යනකල් මේ බේත ගන්න පුළුවන්. එහෙම ගත්ත කියල අමතර බඩ විරේක වීමක් වෙන්නෙ නෑ. එහෙම ගන්න පුළුවන් නම් වඩා හොඳයි. ඒ විදිහට තවත් මාසයක් එකහමාරක් විතර යනකල් මේ බේත ගත්තත් කමක් නෑ. ඊට පස්සෙ ඕන නම් ඉඳල හිටල අතරින් පතර ගන්නත් පුළුවන්. මොකද විශේෂයෙන් අද කාලෙ ගන්න ආහාරවල තියෙන වස විස ඇදල ගන්න ඉතා හොඳින් ප්‍රත්‍ය වෙන බේතක් තමයි මේ. විස අපද්‍රව්‍ය විදිහට තියෙන රසායන අංශු අරගෙන සුද්ද කරල ගෙනිහින් දාන්න පුළුවන් බලයක් ආකර්ෂණයක් මේ බේතෙ තියෙනවා. අද කාලෙ නිතර වස විස කැවෙන නිසා, කවුරු වුනත් අතරින් පතර මේ බේත පාවිච්චි කළොත් ශරීරයේ තියෙන වස විස ඉවත් කරන්න පහසුවක් වෙනවා. එහෙම අතරින් පතර ගත්තයි කියල අර මුල් වතාවෙදි වගේ බඩ විරේක වෙන්නෙත් නෑ. ඇඟට කිසි අමාරුවකුත් නෑ. මොකද කාලයක් හිර වෙලා තිබිච්ච අප ද්‍රව්‍ය ගොඩක් එක පාරටම යනකොට තමයි අර විදිහට මුලින්ම අමාරු වෙන්නෙ. නැවත ගන්න කොට තව දුරටත් ශරීරය සුද්ද වෙන්න පටන් ගන්නවා.

සනීභවන අපද්‍රව්‍ය කොටස ශරීරයෙන් ඉවත් වෙන කොට ඇඟ කැක්කුම්, යටිබඩ කැක්කුම්, කොන්දෙ කැක්කුම් ආදිය එන්න පුළුවන්. කාලයක් තිස්සෙ හිර වෙච්ච අපද්‍රව්‍ය සුද්ද වෙලා යනකොට තමයි එහෙම වෙන්නෙ. හැබැයි ඒ වෙලාවෙදි මේ බේත හොඳ නෑ කියල නොගෙන හිටියොත් ශරීරයේ තියෙන රෝග සුවවීම ඇණ හිටිනවා. දිගටම ගත්තොත් බලා ඉඳෙද්දි ශරීරයට ප්‍රබෝධය නැගෙන්න ගන්නවා. මහන්සිය අඩු වෙනවා. රුධිර පීඩනය අඩු වෙනවා. හිර වෙලා තිබිච්ච සෙම පීඩාවන් නැති වෙනවා. ශරීරය මහත් වීම අඩු වෙනවා. ස්වභාවිකවම ශරීරයේ ලේ වැඩෙනවා. ස්වභාවිකව පෝෂණය වන ශරීරයක් හැදෙනවා. ධාරණ ශක්තිය වැඩි වෙනවා. මේ හැම යහපතක්ම වෙනවා. පිළිකා මට්ටමට නොගිහින් තිබුණ නම්, පිළිකා හැදෙන්න තිබිච්ච මූල ලක්ෂණය බිඳ වැටෙනවා. පිළිකා මට්ටමට ගියා නම් ඒකටත් වෙනම බේත් තියෙනවා.

ඒ වගේම කාන්තාවන්ට ඇති වන ගර්භාෂ ගෙඩි, පිළිකාවලට මුල් වෙන්නෙත් මේ කාරණය. මොකද ශරීරයේ පඨවි ධාතුව සම්බන්ධව තියෙන පෝෂණ කොටසක් තමයි මෙතනදි ඌන වෙන්නෙ. විශේෂයෙන් ගර්භාෂයේ සිව්වලට සම්බන්ධ ද්‍රාවණයක් ක්ෂීර ග්‍රන්ථිවලටත් ගමන් කරනවා. ඒ හා සම්බන්ධ කොටස්වලට තමයි මේ සනීභවන අපද්‍රව්‍ය එකතු වෙන්නෙ. ඒවා නහරවල රැඳුනම පියයුරු පිළිකාවලට, ගර්භාෂයේ ගෙඩිවලට මුල් වෙනවා. එහෙම නැත්නම් ගර්භාෂ අමාරුකම්වලට, මාස්ශුද්ධි වේදනා ආදියට හේතු වෙනවා. ඒ වගේම හර්නියා, ගර්භාෂය පහත් වීම් ආදී හුඟක් රෝගවලටත් මුල් වෙනවා. පිරිමින්ට ඇතිවන අණ්ඩවාත රෝගී තත්ත්වයටත් ඒක හේතුවක් වෙනවා. ඒ රෝග තත්ත්වයන් හැදෙන්නෙත් මේ අපද්‍රව්‍ය හිරවීම නිසා. මේ හඳුන්වාදෙන බේත ගත්තම අපද්‍රව්‍ය ක්‍රමයෙන් පිටවෙන කොට, හැදිල තිබිච්ච යම් කිසි රෝග තත්ත්වයක් තිබුණ නම්, 75% කටත් වැඩියෙන් ක්‍රමයෙන් අඩු වෙලා යනවා. ඒ තරම් වටිනා බේතක් තමයි මේ හඳුන්වා දෙන්නෙ. වෙන කිසිම බේතක් පාවිච්චි නොකරත්, මේ බේත විතරක් පාවිච්චි කරගෙන යන කොට සුද්ධ වීමේ ක්‍රියාවලිය සිද්ධ වෙනවා.

ඒ වගේම අර්ශස් ගෙඩිවලටත් මේ අපද්‍රව්‍ය මුලක් වෙනවා. මොකද අපද්‍රව්‍ය පිටකරන්න බැරි වුනාම අධෝ මාර්ගයට යනකල්ම තියෙන ලොකු නහරවලින්ම ඒ අපද්‍රව්‍ය ගෙනත් දානවා. එතනදි සියුම් නහර ක්‍රමයෙන් ලොකු වෙන නිසා අපද්‍රව්‍යත් පිරිල හිර කරනවා. එහෙම හිර වුනාම අර්ශස් ගෙඩි එනවා. ඒ අවස්ථාවෙදිත් මේ අපද්‍රව්‍ය පිට කරන්න බැරි වුනාම ඒව ඉවත් කරන්න අම්ල එවනවා. මොකද අම්ලවලින් තමයි මේ සෙමයි, අජීර්ණ අපද්‍රව්‍යයි දිරවන්නෙ. නමුත් මෙතනදි කෘතීම විසක් එක්ක බැඳිච්ච නිසා තමයි දිරවන්න බැරි. ඒ නිසා ඒව දිරවන්න කොච්චරවත් බඩට අම්ල එවනවා. එතකොට බඩ ඇතුල තුවාල වෙනකල් අම්ල වැඩි වෙනවා. නහරවලත් අම්ල වැඩි කරනවා. දිරවන්න පුළුවන් ප්‍රමාණයට වඩා අම්ල වැඩි වුනාම ඒවා වායු (ගෑස්) බවට පත් කරනවා. ඒක තමයි අම්ල පිත්ත ප්‍රදාහය හෙවත් ගැස්ට්‍රයිටිස් කියල හඳුන්වන්නෙ. ඉස්සර මිනිස්සුන්ට මේ රෝගය තිබුණෙ නැත්තෙ, අර කියපු ස්වභාවික ක්‍රියාවලිය හරියට සිද්ධ වෙච්ච නිසා. නමුත් දූන් ඉන්න පොඩි අයටත් අම්ල පිත්ත ප්‍රදාහය තියෙනවා.

අනික තමයි ඇස් අමාරුව. මොකද ශරීරයේ අති සියුම්ම ලේ නහර තියෙන්නෙ දෘෂ්ටි විතානය කියන පටලයේ. ඒ පටලය මේ අපද්‍රව්‍ය නිසා වැහුණම, කොයි වෙලේ හරි ඇස් පේන්නෙ නැතිව යනවා. ඇසේ සුද එනවා. ඒ කියන්නෙ අර අපද්‍රව්‍ය බැඳිල ලේ නහර අක්‍රිය වෙනවා. ඒ වගේම ග්ලූකෝමාව කියන්නෙ ඇස් අන්ධ වීමට තරම් හේතු වන අන්තිම භයානක රෝගයක්. එතකොට වෛද්‍යවරු කියන්නෙ ස්නායු නරක් වෙලා කියල. නමුත් ස්නායු පද්ධතිය ක්‍රියාත්මක කරන ඉන්ද්‍රියන්ගෙ තියෙන අති සියුම් ලේ නහර වැහෙන්නෙ මේ අපද්‍රව්‍යවලින්. ඒක කොලෙස්ටරෝල් කියන වර්ගයට අයිති එක්තරා අපද්‍රව්‍ය කොටසක්. ඒකෙන් තමයි ඉතාම සියුම් කේශනාලිකා වැහෙන්නෙ. එතකොට දෘෂ්ටි විතානය කියන පටලයට ලේ ගෙනියන්න බැරිව යනවා. ඒකෙන් කඳුළු ග්‍රන්ථි ක්‍රියාත්මක වෙන්නෙ නැතිව යනවා. ඒ වගේම ලේ ගමන් කරන්නෙ නැතිව ගියාම ඒ අපද්‍රව්‍ය එකින් එක බැඳිල සුද එනව කියල තත්ත්වයක් ඇති වෙනවා. ඒ වගේම මොළයට සම්බන්ධ ස්නායු අක්‍රිය වෙනකොට ඒ සම්බන්ධ ඉන්ද්‍රිය පද්ධතියත් අක්‍රිය වෙනවා. එතකොට ඇසට සම්බන්ධ ස්නායු මැරිල පේන්නෙ නෑ කියල කියනවා. මේ ක්‍රියාවලියත් සමග ඇසේ තියෙන තරලය හරියට ක්‍රියාත්මක

නොවීම නිසා එන පීඩන වෙනස් වීමෙන් ඇති වන ඇසේ කාච රසය හීන වීම තමයි ග්ලූකෝමාව කියන්නෙ. දැන් මේ විස්තර කළේ, ඇතිවන රෝගීතාවයන් කිහිපයක් පමණයි. නමුත් මේ විදිහටම තමයි ශරීරයේ හැම තැනම මේ අපද්‍රව්‍ය හිරවෙලා රෝග හටගන්නෙ. ඒක අහක් කරන්න තියෙන වටිනාම බේතක් තමයි අද මේ කුණු කුඩයට දාන පාන් ලෙල්ලෙන් හදන්නෙ.

හැබැයි මේකට පාන් අරගෙන හරියන්නෙ නෑ. පාන් ලෙලිමයි ගන්න ඕන. පාන් ලෙල්ල කියන්නෙ අපි නොදන්නවට වටිනා විශේෂ දෙයක්. ඒ වගේම මේකට හැම පාන් වර්ගයක්ම යොදා ගන්නත් බෑ. ඒ කියන්නෙ පැය ගණනක් තිස්සෙ රසායන වර්ග දාල හදන පාන් වර්ගයක් තියෙනවා. ඒක පාවිච්චි කරන්න බෑ. ඊළඟට යම් කිසි රසායන දාල පොඟවල අඩු පැය ගණනකින් ලොකුවට හදන පාන් වර්ගයක් තියෙනවා. පැය භාගයක් විතර රසායන දැම්මම පිපෙන්න කල් යන්නෙ නෑ. බොහොම ඉක්මනින් පුච්ච ගන්න පුළුවන්. ඒ ජාතියේ පාන් ලොකුවට පිම්බිලා එනවා, බර අඩුයි, ගෙඩිය ලොකුවට පේනවා. ඉතින් මිනිස්සුත් කැමතියි ලොකු ඒවා ගන්න. නමුත් ඒ වගේ හදන පාන්වලින් මනුස්සයින්ට විස තවත් වැඩි වෙනවා. හැබැයි ඒ අය දන්නෙ නෑ ඒ රසායනයෙන් එහෙම දෙයක් වෙනව කියල. ඒ නිසා ඒ රසායනය දැම්මොත් මේ බේතට අවශ්‍ය සංයෝගය හැදෙන්නෙ නෑ. ඒ නිසා ඒ පාන් වර්ගය ගන්නත් බෑ. ඊළඟට සැන්ඩ්විච් පාන් කියන වර්ගයෙත් මේ ඖෂධීය රසායනය හැදෙන්නෙ නෑ. ඒ නිසා ඒක ගන්නත් බෑ.

මේ කියන රසායන සංයෝගය හැදෙන්න නම් අධික තාපයක් ඕන. අර කලින් කියපු පාන් වර්ග හදන කොට, උඩින් වහන ලෝහ කොපුව නිසා ඒ වගේ අධික තාපයක් එන්නෙ නෑ. එතකොට අච්චු පාන් කියන වර්ගය විතරමයි මේකට ගන්න ඕන. ඒ නිසා පැරණි ක්‍රමවලට දර පෝරණුවල පුච්චන අච්චු පාන් තමයි මේ බේතට යොදා ගන්නෙ. ඒ ක්‍රමයෙන් පාන් ගෙඩිය පෝරණුවෙ දාල පුච්චන කොට, පාන් ගෙඩිය ඇතුලෙ තැම්බෙනවත් එක්කම ඒකෙ තියෙන ජල වාෂ්ප උඩට ඇවිත් උඩ මුදුන් පෘෂ්ඨයේ බැඳෙනවා. ඒ විදිහට උඩට එන්නෙ ඒකෙ තියෙන වටිනාම ඖෂධයක් අරගෙන. ඒ ඖෂධය මැලියමක් වගේ. අන්න ඒ මැලියම ඉස්සෙල්ලම කර වෙනවා. ඒක තමයි පාන් ගෙඩියෙ උඩ තියෙන කර වෙච්ච ලෙල්ල. ඒකෙ තමයි මේ ඖෂධීය රසායනය තියෙන්නෙ. අන්න ඒ කර වෙච්ච ලෙල්ල කපල ගන්න ඕන. සාමාන්‍යයෙන් පාන් ගෙඩියක් කෑමට ගන්න කපන කොටත් මේ පිච්චිච්ච ලෙල්ල කොටස රැහැල තමයි ගන්නෙ. ඒ ලෙල්ල කොටස අරගෙන කබලෙ දාල කළු වෙන්න බැද ගන්නවා. ඒ කියන්නෙ අඟුරු වෙන්නම නෙවෙයි සාමාන්‍යයෙන් දුඹුරු පාටට හුරු කළු පාටට එනකල්. දැන් ඒක කුඩු කළාම වතුර ටිකක් ගෑවුණත් හොඳින් ඇලෙන මට්ටමක් එනවා.

ඒ මට්ටමට පාන් ලෙල්ල බැදගෙන කුඩු කරගත්තම ඒකට ගන්න අනිත් බේත තමයි දිය තිප්පිලි. මේ දිය තිප්පිලි අද නිකන් කැලෑවට වැවෙන, බේත් කියල කවුරුවත් දන්නෙ නැති, ඒත් වටිනා දෙයක්. මෙතනදි දිය තිප්පිලි ගහක් ගන්න කොට මුල් ටික කඩල ඉතිරිය ගත්තත් කමක් නෑ. අන්න ඒ ගහක් කොටල වතුර දාන්නෙ නැතිව මිරිකල අරගෙන එන ඉස්මෙන් තමයි අර කර වෙච්ච පාන් ලෙලි කුඩු අනා ගන්නෙ. මේ දිය තිප්පිලි



ගහේ ඉස්ම තමයි අර ද්‍රව්‍ය දිය කරන ප්‍රධානම ඖෂධය. පිළි කියන්නෙ අපද්‍රව්‍ය. තිත් කියන්නෙ ඒව තද කර ගෙන නවත්ව ගෙන ඉන්නවා. ඒ විදිහට තද වෙලා තියෙන අපද්‍රව්‍ය දිය කරන අර්ථයෙන් දියතිප්පිලි කියල කියනවා. ඒ වගේම පාන් ලෙල්ලෙ තියෙන රසායනය කියන්නෙත් ශරීරයේ තියෙන අපද්‍රව්‍ය ඇදල ගන්න ආකර්ෂණයක් තියෙන, ශරීරයේ ස්වභාවික රසායනයන්ට වඩා වැඩි බලයක් තියෙන දෙයක්. මෙන්න මේ ඖෂධීය රසායන දෙකේම ක්‍රියාකාරිත්වයෙන් තමයි ශරීරයේ අපද්‍රව්‍ය ඇදල ගන්නෙ. දිය තිප්පිලිවලින් පාන් කුඩු දිය කළාට පස්සෙ ඒකට අපද්‍රව්‍ය ඇදල ගන්නවා. ඒ මගින් වැඩි ආකර්ෂණයක් බඩ වැලට එනවා. ශරීරය ඇතුලෙ තියෙන අපද්‍රව්‍යත් දිය කරල ඒකට ඇදල ගන්නවා.

ඉතින් මේ බේත හදනකොට දිය තිප්පිලි ගහක් නෙවෙයි, ගස් කිහිපයකම ඉස්ම යොදා ගන්න ඕන. හැබැයි ඒකට වතුර දාන්නෙ නෑ. හරියට ගන්න ඕන අනුපාතයක් කියලත් නෑ. සාමාන්‍යයෙන් ගුලි කර ගන්න පුළුවන් ප්‍රමාණයට අවශ්‍ය ඉස්ම ප්‍රමාණයක් ගත්තම ඇති. ඒ ඉස්ම ටිකෙන්, කර කර ගෙන කුඩු කර ගත්ත පාන් ලෙලි කුඩු අනාගෙන ගුලි හදා ගන්නවා. එක වේලකට අවශ්‍ය වෙන්නෙ මේස හැන්දක විතර ප්‍රමාණයක්. ඒ නිසා මේස හැන්දක විතර ප්‍රමාණයක් අරගෙන ඒක ගුලි කරගත්තම එක වතාවකට ප්‍රමාණවත්. ඒ වගේ ගුලි හදල උදේ, දවල්, රෑ කෑමෙන් පස්සෙ පාවිච්චි කරනවා. ඒ කියන්නෙ දවසකට මේස හැඳි තුනක ගුලි ප්‍රමාණයක් ගන්නවා. ගුලි ලොකු වැඩියි නම් අවශ්‍ය ප්‍රමාණයට පුංචි කරගෙන ගුලි කරගත්තට කමක් නෑ. හැබැයි එක වරකට මාත්‍රාව මේස හැඳි එකම තමයි. ඉක්මන් ක්‍රියාකාරීත්වයක් එන්න ඕන නිසා තමයි මේස හැන්දක ප්‍රමාණයක් ගන්නෙ. ඊට වඩා අඩු කළොත් ක්‍රියාකාරීත්වයත් අඩු වෙනවා.

ඒ වගේ ගුලි හදල අව්වෙ වේලල තියාගත්තම දිගටම පාවිච්චි කරන්න පුළුවන්. බේත පාවිච්චි කරන්න ගුලි වේලගන්න ඕනම නෑ. කල් තියා ගන්න ඕන නිසයි වේලගන්නෙ. ඒ ගුලි යන්තමට හපල ගිලින්න පුළුවන්. පාන් ලෙලි ටිකක් අප්‍රිය නිසා ගුලි කරල වේලල තියාගත්තම යන්තම් හපල ගිලින්න පුළුවන්. සාමාන්‍ය ළමයෙකුට දෙන කොටත් ගුලි ලොකු වැඩිනම් මේස හැන්දක ප්‍රමාණයට අරගෙන අවශ්‍ය ප්‍රමාණයෙන් පුංචියට ගුලි කරල දෙන්න පුළුවන්. ඒ කියන්නෙ ගිලින්න ලේසි වෙන්න. ගුලියක ප්‍රමාණය පුංචි කරගෙන ගුලි සංඛ්‍යාව වැඩි කරගන්නවා. එතකොට ගුලිය ලොකු පුංචි වෙනව මිසක් මාත්‍රාව වෙනස් වෙන්නෙ නෑ. ඒ නිසා පුංචි ගුලි හැදුවොත් ගුලි ගණන වැඩියි. ලොකු ගුලි හැදුවොත් ගුලි ගණන අඩුයි. මේස හැන්දෙ ප්‍රමාණය එකයි. අවුරුදු පහෙන් පහළ කුඩා ළමයෙකුට දෙනව නම් මේ මාත්‍රාව තේ හැඳි එකක් විතර වෙන්න ගත්තම ප්‍රමාණවත්.

එතකොට මේ විදිහට හදාගත්ත බේතෙන් 30 - 40 වතාවක් විතර බඩ විරේක වෙන්න නම් වේල් කීයක් ගන්න ඕනද කියල හරියටම කියන්න බෑ. මොකද ඒ කාරණය එක් එක් පුද්ගලයගෙ ශරීරයේ අපද්‍රව්‍ය බැඳිල තියෙන මට්ටම අනුව වෙනස් වෙනවා. හුඟක් තදේට බැඳිල තිබුණොත් එහෙම ඒකට මාස දෙක තුනක් විතර කල් යන්න පුළුවන්. එහෙම නැතිව මේ බේත ගත්තු හැටියෙ එක පාරටම බඩ විරේක වෙන්නෙ නෑ. සමහරෙකුට මාසයක් එකහමාරකින් වෙන්නත් පුළුවන්. එතකල් සාමාන්‍ය විදියට තමයි යන්නෙ. හැබැයි සමහර කෙනෙකුට සුමානයක් දෙකක් යන කොටත් බඩ විරේක වෙන්න පුළුවන්. ඒ යන කාලය හරියටම ☞

# නිවසකට බලපාන වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය ....

ඕනෑම ඉඩමක හෝ නිවසක පිහිටන බ්‍රහ්ම පාදය, දේව පාදය, මනුස්ස පාදය සහ පෙරේත පාදය ගැන කෙටි විග්‍රහයක් පසුගිය 38 කලාපයෙන් ඉදිරිපත් කළා. ඒ පිළිබඳව හේතුඵල දහමට අනුව කෙරෙන තවත් අමතර කරුණු පැහැදිලි කිරීමක් තමයි මේ.

මේ බ්‍රහ්ම, දේව, මනුස්ස, ප්‍රේත කියන ගති හතරම මනුස්සයින්ට අඩු වැඩි වශයෙන් පිහිටනවා. ඒ නිසා තමයි ඉඩමක, නිවසක ඒ ඒ ගතිවලට සම්බන්ධ පාද 4 ක් පිහිටන්නෙත්. ඒ ගති පිහිටන මට්ටම් අනුව තමයි බ්‍රහ්ම, දේව, මනුස්ස, ප්‍රේත බැල්ම ඒ අයට හිමි තැන්වලට වැටෙන්නෙත්. මේ පාද 4 පිහිටන්නෙ නිවසක හෝ ඒ නිවසත් එක්ක තියෙන ඉඩමක විතරක් නෙවෙයි, යම් කිසි ව්‍යාපාරික ගොඩනැගිල්ලක්, දේවාලයක්, ගල් ගෙයක්, භාවනා කරන කුටියක්, කෙත් වතු කුඹුරු ආදී මේ හැම එකකටමත් පිහිටනවා. ඒ කියන්නෙ සම්මත කරල හදා ගත්තු ඕනම තැනක පිහිටනවා. හැබැයි කෙත් වතු කුඹුරු ආදියේ වගා කටයුතුවලට ඒක බලපාන්නෙ නෑ. ඒකෙ යම් කිසි ඉදිකිරීමක් කරල අවශ්‍ය කරන පසු තලය හැදුනොත් විතරයි ඒ පාද 4 මනුස්ස ජීවිතයට බලපාන්නෙ.

ඒ වගේම යම් කිසි දේවාලයකට ප්‍රේතයෙක් ආවේස වෙච්ච කෙනෙක් ගෙනාවොත්, ඒ ප්‍රේතය ඉන්නව නම් ඉන්නෙ ඒ දේවාලය වටේ තියෙන ප්‍රේත පාදය අල්ල ගෙන. ඒ තමයි උන්ට හිමි තැන. එතනින් එහා ඇතුලට එන්නෙ නෑ. නමුත් කෙනෙක්ගෙ ආධාරයක් තියේ නම් ඇතුළට එන්න පුළුවන්. ඒ වගේම හතරැස්ව හදපු පුංචි භාවනා කුටියක් ගත්තම, ඒකෙත් හරි මැද බ්‍රහ්ම පාදය පිහිටල වටේට අනෙක් පාදත් විහිදෙනවා. නමුත් සාසන මාර්ගයේ කටයුතු කරන කොට ඒ තරම් ඇලීම්, ගැටීම් නැති නිසා භාවනා කුටි වගේ ස්ථානවලටත් මේ පාද 4 ක කාරණය ඒ තරම් බලපාන්නෙ නෑ. සාමාන්‍යයෙන් ඇලීම් ගැටීම් වැඩිපුරම තියෙන ගිහි ගෙවල්වලට, ව්‍යාපාරික ස්ථානවලට තමයි මේ කාරණය විශේෂයෙන් බලපාන්නෙ.

ඒ වගේම මේ පාදවල බලපෑම බොහෝ කොටම එන්නෙ ගෙයක් හැටියට තියෙනව නම් තමයි. පැල්පත්වලට ඒ වගේ බලපෑමක් නෑ. ඒ කියන්නෙ යම් කිසි ගල් ගෙයක්, දේවාලයක්, කෝවිලක් වගේ තනි කාමරයක ස්වරූපයක් තියෙන ඒවා. හැබැයි මේ පැල්පත්වලටත් පාද 4 පිහිටනවා. නමුත් අර වගේ බලපෑමක් නෑ. ගෙයක් (ගෘහයක්) වෙන්න නම් සාලයක්, කාමරයක්, කුස්සියක් වගේ කොටස් 3 ක් වත් අඩු ගණනෙ තියෙන්න ඕන. එහෙම තිබුනොත් තමයි ගෘහයක් වෙන්නෙ. ගෘහයක් නම් ඒක ඇතුළෙ ජීවත් වෙන අයට මේ පාදවල බලපෑම තියෙනවා. මහ ප්‍රධාන ගොඩනැගිල්ලක් වුනත් ලෑලි වගේ දේකින් වෙන් කළාම මේ පාද 4 ඒ තරම් බලපාන්නෙ නෑ. අත්තිවාරමක් දාල ගල් ගඩොල් ආදියෙන් බිත්ති වෙන් කළොත් තමයි මේ කාරණය බොහෝ කොටම බලපාන්නෙ.

යම් කිසි ඉඩමක් දෙකට බෙදල සම්මතයෙන් හිමිකරුවන් දෙන්නෙක් වෙන් කර ගත්තම, ඒ වෙන් කර ගත්තු කොටස් දෙකට වෙන වෙනම පාද 4 ක් පිහිටනවා. මුලින්ම තනි ඉඩමක් විදියට තියෙද්දි තිබිච්ච පාද 4 දැන් ඉඩම් දෙකට වෙන වෙනම පිහිටනවා. මායිම් ගහගෙන වැට කඩොළු ගහගෙන භෞතිකව වෙන් නොකළට, සම්මත කර ගත්තු දා පටන් ඒ පාද වෙන වෙනම පිහිටනවා.

☞

---

කියන්න බෑ. කොච්චර කල් ගියත් කමක් නෑ ඒ තත්ත්වය එනකල්ම බේත ගන්න ඕන. ඊළඟට බඩ විරේක වෙන අතරෙත් බේත ගන්න ඕන. හරියට ඇදෙන්න පටන් ගත්තම තමයි කළු පාට කැදලිත් එක්ක බඩ විරේක වෙලා යන්නෙ. පළවෙනි වතාවට බේත ගන්න කොට මාස ගණනක් යනකල් කෑම ගත්තත් ඒ බේත ශරීරයෙන් පිට වෙන්නෙ නෑ. ඉස්සෙල්ලම ශරීරයේ සිව්වල තියෙන සෙමත් එක්ක බැඳි බැඳී ලාටුවක් වගේ වෙනවා. ලාටුවක් වෙවී බඩ වැල ඇතුලට ඇදල ගන්නවා. එහෙම ඇදල අරන් එක්තරා අවස්ථාවකදි නියම ගානට එනකොට කැක්කුම හැදිල බඩ විරේක වෙන්න පටන් ගන්නවා. හැබැයි මුලදි දරා ගන්න බැරි වෙන විදිහට එහෙම එක පාරටම විරේක වෙන්නෙ නෑ. මුලදි සාමාන්‍ය විදියට ගිහින් ඊට පස්සෙ තමයි එක දිගට 30-40 වතාවක් විතර විරේක වෙන්න පටන් ගන්නෙ. මේ පොඩි බේත් දෙකෙන් තමයි ඔක්කොම වෙන්නෙ.

ඒ විදිහට 30 - 40 වතාවක් විතර බඩ සුද්ද වුනාට පස්සෙත් අමතරව මේ ගුලි ගත්තට කමක් නෑ. ඒ කියන්නෙ බඩ සුද්ද වෙන අතරෙත්, සුද්ද වුනාට පස්සෙත් දිගටම ගන්නවා. බඩ විරේක වුනයි කියල ජීවනී හැර වෙනත් අමුතු දෙයක් ගන්න ඕනත් නෑ. ඒක ගන්නෙත් විජලනය වලක්වන්න. ඒ වගේම තමයි මේ බේත ගන්න අතරෙ කෑම බීමෙන් කිසිම ප්‍රවේසම් වීමක් වෙන්න අවශ්‍යත් නෑ. සාමාන්‍යයෙන් ගමේ ගොඩේ බඩ විරේක වෙන්න බේත් බිව්වම, තෙල් වර්ග කෑමට නොදී මිරිස් හොදියි බතුයි විතරක් දෙනව වගේ, එහෙම කිසිම ප්‍රවේසම් වීමක් අවශ්‍ය නෑ. තමන් සාමාන්‍යයෙන් කන බොන විදිහට ආහාරපාන ගන්න පුළුවන්. මොකද මේ විරේකය අජීර්ණයක් හෝ වෛරස් වගේ විස බීජවලින් හටගන්න දෙයක් නෙවෙයි. ඒ විරේක වීම මේ බේත ගත්තම ඇතිවන ස්වභාවික තත්ත්වයක්. මේ කාරණය කල් තියා කිව්වෙ නැත්නම් සමහරු මේ බේත ගත්තට පස්සෙ බය වෙන්න පුළුවන්. ඉතින් මේ ක්‍රමය හරියට කළොත් අද තියෙන 75% ක් විතර රෝගවලට අමුතුවෙන් බේත් කරන්න යන්න ඕනත් නෑ. සම්පූර්ණයෙන්ම රෝග නිධානයත් එක්කම ගැලවිලා සුද්ද වෙලා යනවා.

ඒ වගේම මනුස්ස වර්ගයාගේ යහපත උදෙසා දයානුකම්පාවෙන් මේ බේත හදල බෙදා දෙන සත් කටයුත්තක් දැනටමත් ක්‍රියාත්මක කරන නිසා, ඒ සඳහා ලෝක සේවයක් වශයෙන් ඊට කරන සහයක් විදියට මේ ජාතියේ අච්චු පාන් ලෙලි ලැබෙන්න සලස්වනව නම්, කිලෝග්‍රෑම් 1 කට රුපියල් 200/- ගණනෙ මිල ගෙවල ඒවා ලබාගන්න සූදානම් පින්වත් පිරිසක් ඉන්නවා. ලෝකයාට කරන යහපතට ඒ විදිහෙ දායකත්වයක් ලබා දෙන්න පුළුවන් නම් ඒකත් ලොකු පිනක්. ඒ නිසා මේ ස්වභාවික අච්චු පාන් ලෙලි සපයන්න පුළුවන් වෙළඳ මහතුන් ඉන්නවනම් 077-3834683 දුරකතන අංකයට දැනුම් දෙන්න පුළුවන්. ඒ පාන් ලෙලි වේලල තිව්වම පුස් කන්නෙ නැතිව තියාගන්න පුළුවන්.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

මනසින් සම්මත කර ගත්තු දවසෙ ඉඳන් තමයි ඒක වෙනස් වෙන්නෙ. දෙන්නෙක් කතා වෙලා, මේ කොටස අහවලාට කියල සම්මත මායිමක් හදා ගත්තම, එතැන් පටන් මේ පාද හතරම ඒ සම්මතය අනුව වෙනස් වෙලා කොටස් දෙකට වෙන වෙනම බලපානවා. භෞතිකව වෙන් නොකළත් ඒ කාරණය එහෙමයි. ඒ නිසා එකම ඉඩමක සම්මත වශයෙන් හිමිකම වෙන් කර ගෙන පවුල් 2 ක් ජීවත් වෙනව නම්, ඒ ඉඩම කොටස් 2 ක් විදියට තමයි ගැනෙන්නෙ. එතකොට අර පාද 4 ඒ දෙගොල්ලන්ට වෙන වෙනම පිහිටනවා. හැබැයි පවුල් 2 ක් ජීවත් වුනත්, ඒ විදියට හිමිකම වෙන් කරල සම්මත කර ගත්තෙ නැත්නම්, ඒ මුළු ඉඩමටම තියෙන්නෙ එකම පාද 4. ඒ නිසා හැම තිස්සෙම මේ පාද 4 වෙනස් වෙන්න බලපාන්නෙ හිමිකම් සම්මතය.

ඒ වගේම මෙතනදි බ්‍රහ්ම පාදය අයිති වෙන්නෙ වීතරාගී, වීතදෝසී, වීතමෝහී කියන ගුණවලට. ඒ බ්‍රහ්ම පාදයේ මධ්‍යය අයිති වෙන්නෙ ලෝකෙ අග්‍රතම උත්තමයට. මේ කාලෙ නම් ලොව්තුරා බුදුන් වහන්සේට. ඒ කියන්නෙ බුද්ධෝත්පාද කාලයක. අබුද්ධෝත්පාද කාලයක නම් පසේ බුදුවරුන්ට හෝ ඍෂිවරු වගේ බ්‍රහ්මචාරීව ඉන්න අයට.

දැන් මේ කාරණය ඔප්පු කරන්න පුළුවන් අත්දැකීම් වහරක අභයරතනාලංකාර හිමියන් සතුව තියෙනවා. ඒ අත්දැකීම් අනුව සර්වඥ ධාතූන් වහන්සේලා, රහත් ධාතූන් වහන්සේලා හෝ වෙනත් ධාතූන් වහන්සේලා යැයි සැක කරන යමක් හොයා ගන්න ක්‍රමයක් තියෙනවා. ඒ අනුව ලොව්තුරා බුදුන් වහන්සේ සංකේතවත් කරන සර්වඥ ධාතු, ඒ වගේම රහතන් වහන්සේලාගේ ධාතු සමන් මලකට, නෙළුම් මලකට, නා මලකට වඩිනවා. ඒ වගේ මලක් අරගෙන, ධාතූන් වහන්සේලා නම් මේ මලට වඩීවා කියල අධිෂ්ඨානයක් එක්ක ඉල්ලීමක් කරල, ඒ මල ළං කළාම නියම ධාතූන් වහන්සේ නමක් නම් ක්ෂණිකවම ඒ මලට වඩිනවා. මලේ කෙණ්ඩියට වැඩම කළා නම් ඒ සර්වඥ ධාතූන් වහන්සේ නමක්. මල් පෙත්තකට වැඩිය නම් රහත් ධාතූන් වහන්සේ නමක්. මොකද සර්වඥ ධාතූන් වහන්සේලා කෙළින්ම එල්ල කරල මලේ කෙණ්ඩියට වඩිනව මිසක් මල් පෙත්තකට වඩින්නෙ නෑ. ඒ වගේම රහත් ධාතූන් වහන්සේලා මල් පෙත්තකට මිසක් මලේ කෙණ්ඩියට වඩින්නෙ නෑ. එහෙම වෙනසක් තියෙනවා. ඒ අනුව නිවසක හෝ ඉඩමක බ්‍රහ්ම පාදයේ මධ්‍යය මලේ කෙණ්ඩියටත්, පාදය වටේ අනෙක් කොටස මල් පෙතිවලටත් උපමා කරන්න පුළුවන්. ඒ නිසා ඉඩමක් ගත්තොත් හරි මැද කොටස තමයි අග්‍රතම උත්තමයට වෙන්වන බ්‍රහ්ම පාදයේ මධ්‍ය කොටස වෙන්නෙ.

හැබැයි මෙතනදි ධාතූන් වහන්සේලා සමන්, නෙළුම්, නා කියන මේ මල් තුනට වඩිනවයි කිව්වෙ අභයරතනාලංකාර හිමියන්ගෙ අත්දැකීමක් අනුව. ඒ අත්දැකීම අනුව නම් මෙච්චර කලකට ධාතූන් වහන්සේලා වැඩල තියෙන්නෙ ඔය මල් වර්ග 3 ට. දවසක් උන් වහන්සේ ගැට පිච්ච මලකට ධාතූන් වහන්සේ නමක් වඩම්මවන්න උත්සාහ කළත් ඒක සාර්ථක වෙලා නෑ. නමුත් මේ වඩින්නෙ නෑ කියන එක නිශ්චිතම දෙයක් නෙවෙයි. මෙතනදි ඔබින්නෙ නැති තැනක තිව්වොත් ඒක ගැලපෙන්නෙ නැති නිසා ඒ අයට එක්තරා ආකාරයකින් සාපයක් වෙන්න පුළුවන්. එහෙම නැත්නම් බුදුන් වහන්සේට හෝ රහතන් වහන්සේට



පැල්පතත් එකයි, මන්දිරෙත් එකයි, ගල් ආසනයත් එකයි, රත්රන් ආසනයත් එකයි. උන් වහන්සේලාට එහෙම වෙනසක් නෑ. නමුත් අපි දැන ගන්න ඕන සුදුස්සාට සුදුසු තැන දෙන්න. ඒ කාලෙ හිටපු නිග්‍රෝධ කියන අවුරුදු 7 ක රහත් හාමුදුරුවන්ට, ධර්මාශෝක රජතුමා සුදුසු ආසනයක වැඩ ඉන්න කිව්වම, උන් වහන්සේ රජතුමාගෙ අතක් අල්ල ගෙන සිංහාසනයක් උඩට වැඩියයි කියනවා. අනික් දවසෙ දානෙකට වැඩම කරල බිම ඉඳ ගත්ත කියනවා. නමුත් උන් වහන්සේට එහෙම වෙනසක් තිබුණෙ නෑ. හැබැයි ඒ අවස්ථාවෙදි ඔබින තැන තමයි ඉන්න ඕන. මෙතනදි ගුණ මහත්වයට හිමි තැන දෙනව මිසක් මමත්වයෙන් හිමි තැන දීමක් නෙවෙයි සිද්ධ වෙන්නෙ. බුදුන් වහන්සේ යම් කිසි ස්ථානයකට ගිහින් වැඩ ඉන්නෙත් ඒ ස්ථානයේ මධ්‍යයේ. ඒ ගුණ මහත්වය නිසා. ගුණ මහත්වයෙන් කොන් කළොත් ඒක අනික් අයට සාපයක් වෙනවා. ඒ නිසා හිතාමතාමයි උන් වහන්සේ එහෙම තැනක වැඩ ඉන්නෙ. උන් වහන්සේ මුල්ලක වැඩ ඉඳල වෙනත් කෙනෙක් මැද හිටියොත්, ඒ මැද හිටපු කෙනාට ඒක දරන්න බැරිව විනාස වෙන්න පුළුවන්. මොකද අර නොගැලපීම නිසා. එතකොට අනික් අයට අනුකම්පා කරල තමයි උන් වහන්සේ ඒ විදියට සුදුසු තැන වැඩ ඉන්නෙ.

ඒ නිසා ඉඩමක හෝ නිවසක බ්‍රහ්ම පාදයේ මධ්‍යය, ලෞකික වූ ගිහි කටයුතුවලට පාවිච්චි කිරීම ගැලපෙන්නෙ නෑ. එහෙම පාවිච්චි කළොත් කාම ලෝකයේ ගිහි වතේ ඉන්න අයට තමන්ගෙ ගිහි කටයුතුවලට පහර වදින්න පුළුවන්, බාධා එල්ල වෙන්න පුළුවන්, ලෞකික ජීවිතය අසාර්ථක වෙන්න පුළුවන්. ඒ නිසා **නිවසක බ්‍රහ්ම පාදයේ මධ්‍යය නොපෑගෙන්න, පිත්තල පහනක් හෝ මල් පෝච්චියක් වගේ දෙයක් තැන්පත් කිරීම තමයි වඩාත් සුදුසු වෙන්නෙ.** ඒ වගේම ඉඩමේ බ්‍රහ්ම පාදයට අහු වෙන්න ගේ හැදුවොත්, ඒ ගෙදර ජීවත් වෙන අයගෙ පවුල් කඩා කප්පල් වෙන්න, නොයෙක් අඩදබර ඇති වෙන්න ඒ කාරණය හේතු වෙන්න පුළුවන්. විශේෂයෙන් ගෙදර ගෘහ මූලිකයාට ඒකෙන් දෝසයක් එන්න පුළුවන්. ඉස්සර වගේ ඉඩම් විසාල නැති නිසා අද කාලෙ විශේෂයෙන් නාගරිකව පර්චස් 5 - 10 ක් වගේ පොඩි ඉඩම්වල හදන ගෙවල්වල මේ බ්‍රහ්ම පාදයට අහුවෙන්න ගේ හැදීමේ දෝසය බොහෝ කොටම එනවා. එතකොට ඉතින් මොනව හරි ප්‍රයෝගයකින් දොස් අරිනව මිසක් ස්වභාවිකව නම් ඒකට කරන්න දෙයක් නෑ. ඒ වගේ ගෙදරක සාර්ථකත්වය බොහොම අඩුයි.

ඒ වගේම ඉඩමක බ්‍රහ්ම පාදයට අහුවෙන්න නොදැනුවත්කමින් හෝ වැසිකිලියක්, කුණු වළක් එහෙම හැදුවොත් මහ විනාසයක් වෙන්න පුළුවන්. එතකොට ගෙදර මනුස්සයින්ට විශේෂයෙන් මූල වාත, බගන්දර, පිළිකා වගේ රෝග තත්ත්වයන්ට හේතු වෙන්න පුළුවන්. ඒ නිසා **ඉඩමෙ බ්‍රහ්ම පාදය මධ්‍යයේ සඳුන් පැළයක් හෝ මොනව හරි ගැලපෙන මල් පැළයක් හිටවීම වඩා හොඳයි.** එහෙම නැත්නම් බුද්ධ ප්‍රතිමා වහන්සේ නමක් තැන්පත් කරනව නම් ඒකට සුදුසුම තැන තමයි මේ බ්‍රහ්ම පාදයේ මධ්‍යය.

ඒ වගේම ඉඩමෙ බ්‍රහ්ම පාදයේ මැදයි, නිවසෙ බ්‍රහ්ම පාදයේ මැදයි දෙකම එකට අහු වුනොත් හරි භයානකයි. ඒ නිසා ඉඩමෙ බ්‍රහ්ම පාදය අහු වෙන තැන, සැලැස්මේ කතිරයක් ලකුණු කරල කුඤ්ඤයක් ගහල අනික් බ්‍රහ්ම පාදයට

අහු නොවෙන විදියට ගන්න ඕන. ඒ කියන්නෙ නිවසේ කතිරයකට හෝ මූට්ටුවකට හෝ බිත්තියකට හෝ අහු නොවෙන්න, නිතර පෑගෙන තැනකට අහු නොවෙන්න, ගැලපෙන විදියට එහා මෙහා කරල නිවසේ සැලැස්ම හදා ගන්න ඕන. බැරි වෙලා හරි ඒ දෙක එකතු වෙලා ගෙයි කුරුසයක ලකුණක් (ගිනි කතුරු 2 ක්) ආවොත් එහෙම ඒ ගෙදර ගිනි ගන්න පුළුවන්, විනාස වෙන්න පුළුවන්. එහෙම වෙච්ච අවස්ථා තියෙනවා.

ඊළඟට දේව, මනුස්ස ගති ලක්‍ෂණ දෙකම කාම ලෝකයට අයිති නිසා දේව පාදය සහ මනුස්ස පාදය ඕනෑම ගිහි කටයුත්තකට යොදා ගන්න පුළුවන්. හැබැයි ඉඩමෙ පෙරේත පාදය ගත්තම පසුගිය 38 කලාපයෙන් විස්තර කළා වගේ, ගෙදර සැලැස්මට අහු නොවෙන්න පුළුවන් තරම් වගබලා ගන්න ඕන. ඒ පෙරේත පාදයේ නිවස හැදීම විතරයි නුසුදුසු. වෙනත් වගා කටයුතු, වළවල්, වැසිකිළි ආදියට යොදා ගත්තට කිසි ගැටළුවක් නෑ. ඒ වගේම නිවස ඇතුළ ගත්තත්, පිටත බිත්තියේ ඇතුල් මායිම අයිති වෙන්නෙ පෙරේත පාදයට. ඒ නිසා ඒ පෙරේත පාදයට අහු වෙන බිත්තිය වුනත් පාවිච්චි කරන්න සුදුසු වෙන්නෙ කිළිටි ඇඳුම්, සපත්තු සෙරෙප්පු, මොනව හරි අපද්‍රව්‍ය වගේ දේවල් තැන්පත් කරන්න. නිවසක කාමරයක් ගත්තමත් ඒ කාමරයේ පිටතින් ආලෝකය එන්න දොර ජනෙල් ආදියක් සවි කරල තියෙන පිට බිත්තියක් අහුවෙනව නම්, ඒ බිත්තිය අයින පෙරේත පාදයට තමයි අහු වෙන්නෙ. ආලෝකය එන්න හදපු බිත්තියක් නම් ඒක පිටට තියෙන්නෙ. ඒ කියන්නෙ ගෙදරක හතර පැත්තෙ බිත්ති හතර. දොර ජනෙල් තිබුණත් නැතත් ඒ බිත්ති හතරෙන් යම් කිසි කාමරයකට අහු වෙන ප්‍රමාණයක් තියේ නම්, ඒ කොටසත් පෙරේත පාදයට අයිති වෙන්නෙ. එහෙම නැතුව කාමරවල ඇතුල් බිත්ති පෙරේත පාදයට අහු වෙන්නෙ නෑ. ඒ අහුවෙන අයින තමයි අර වගේ දේවල් තැන්පත් කරන්න පාවිච්චි කරන්නෙ.

ඊළඟට ගෙදරක තියෙන රන් රිදී මුතු මැණික් ආභරණ, මුදල් ආදිය තැන්පත් කරල තියෙන අල්මාරි, සේප්පු, පෙට්ටගම් ආදිය ප්‍රේත පාදවල බිත්ති අයිනට අහු වෙන්න තියන්න සුදුසු නෑ. නමුත් අද මේ කාරණය හුඟ දෙනෙක් දන්නෙ නෑ. ඒ කියන්නෙ ගෙට පිටින් ආලෝකය එන්න හදල තියෙන දොරවල්, ජනෙල් ආදිය තියෙන පිට බිත්ති අයිනට අහුවෙන්න තැබීම නුසුදුසුයි. ඒ නිසා ඒ වගේ දෙයක් තියන්න ඕන, ගෙයි මැද බිත්තියක් අල්ලල අයිනකට වෙන්න. පිට බිත්තියක් අයිනට අහු වෙන්න තිව්වොත් ඒක ප්‍රේත පාදයට තමයි අහු වෙන්නෙ. එතකොට ඒ ගෙදර පිරිහෙන්න ගන්නවා. මුදල් රැඳෙන්නෙ නෑ. කන කරාබු ආදිය උකස් කරන්න වෙනවා. ඒවා ළඟ තියාගන්න ලැබෙන්නෙ නෑ. මේ වගේ විවිධ බාධක එන්න පුළුවන්. මොකද හේතුව පෙරේත පාදයට අහුවෙන්න තැන්පත් කළාම පෙරේත බැල්ම තමයි වැටෙන්නෙ. එතකොට ඒ ස්ථානය ස්වභාවයෙන්ම උරුම වෙන්නෙ ප්‍රේතයින්ට. නමුත් රන්, රිදී, මුතු මැණික්, මුදල් කියන්නෙ ප්‍රේත ගතියට දරන්න පුළුවන් දේවල් නෙවෙයි, ඒව දේව මනුස්ස දෙකට තමයි අයිති වෙන්නෙ. ප්‍රේත පාදය අයිති වෙන්නෙ ලෝභකමින් අල්ල ගෙන, දෙන්නෙ නැති අයට. ඒ වගේම කර්ම විපාකයෙන් පහත් පැත්තට අයිති නිසා ප්‍රේතයින්ට ඒ වගේ දේවල් කැප නෑ. ඉතින් කැප නැති දේ තිව්වම නරකක්මයි වෙන්නෙ. අන්තිමට ඒක තමන්ටත් හිමි නැතිව යනවා. ඒ වගේම බ්‍රහ්ම පාදයත් තමන් පරිහරණය කරන රන්, රිදී, මුතු, මැණික් මුදල් ආදිය තැන්පත් කරන්න ගැලපෙන්නෙ නෑ. මොකද බ්‍රහ්ම ගුණ වඩපු උතුමන් කියන්නෙ ඒව අත් හැරපු උදවිය. ඒ නිසා ගේ මැද බ්‍රහ්ම පාදයේ ඒ වගේ දේවල් තැන්පත් කිරීමෙන් වැළකීම සුදුසුයි. දේව, මනුස්ස පාද දෙකට අහු වෙන බිත්තියක් අයිනෙ ඒ වගේ දේවල් තියනව නම් වඩා හොඳයි.

ඒ වගේම විශේෂයෙන් නිදා ගන්න කොට, හිස පෙරේත පාදය පැත්තට හිටින්න සුදුසුත් නෑ. සාමාන්‍යයෙන් බ්‍රහ්ම පාදය, දේව පාදය හෝ මනුස්ස පාදය පැත්තට හිස හිටින්නත්, පෙරේත පාදය පැත්තට කකුල් දෙක හිටින්නත් නිදා ගැනීම තමයි වඩා සුදුසු. ඒකටත් හේතුවක් තියෙනවා. මොකද අපට නොපෙනෙන පැත්තකින් මහ සොහොන් අමනුස්ස කියල කොටසක් ඉන්නවා. මළ මිනියක් හැම වෙලේම බටහිරට හිස දාල තියන නිසා, කවුරු හරි ජීවත් වෙලා ඉන්න පුද්ගලයෙකුත් ඒ විදියට බටහිරට හිස හිටින්න නිදා ගත්තොත්, අර අමනුස්ස කොටස් රැවටිලා මැරිලද කියල බලන්න එනවා. මොකද මැරිල නම් ඒ අයට හිමිකමක් ඒ මළමිනිය සම්බන්ධයෙන් තියෙනවා. ඒ නිසා මේ වගේ අවස්ථාවක ඒ අය බොහොම පහසුවෙන් රැවටෙනවා. ලේ කියල බුලත් කෙළවලටත් රැවටෙනවා. පෙරේත පාදය පැත්තට හිස තියල නිදා ගත්තමත් ඒ වගේ රැවටිලා, මොකද වෙලා තියෙන්නෙ මැරිලද කියල බලන්න ඒ අය එනවා. එහෙම ආවොත් සමහර විට හේතු සම්බන්ධතා තියෙන අයට විවිධ දෝස එන්න පුළුවන්.

ඒ වගේම යම් කිසි වර්ග දෝස එන්නත් ඒ ස්ථානයට සම්බන්ධව කුස්සියක්, කාමරයක්, සාලයක්, නාන කාමරයක් වගේ යාබදව තියෙන මොනව හරි කොටස් 3 ක් වත් පිහිටල තියෙන්න ඕන. එහෙම නැත්නම් ඒක අයිති වෙන්නෙ පැල්පත්වලට. ඒ නිසා ගල් ගෙයක්, දේවාලයක්, භාවනා කුටියක් වගේ තනි කොටසක් අයිති වෙන්නෙ පැල්පත්වලට. සමහර විට ඒ වගේ කොටසක් වුනත් ඇතුළ මහ මන්දිර වගේ ලොකුවට තනි කොටසක් විදියට හදල තියෙන්න පුළුවන්. හැබැයි අර වගේ යාබද කොටස් 3 ක් වත් නැත්නම්, කොච්චර ලොකුවට තිබුණත් ඒව අයිති වෙන්නෙ පැල්පත්වලට. ඒ නිසා අනික් ගෙවල්වලට එන වර්ග දෝස ඒවට බලපාන්නෙ නෑ. නමුත් ඉඩම හෝ ඉදිකිරීම පොඩි වුනත්, අර වගේ යාබද කොටස් 3 ක් හෝ ඊට වැඩියෙන් පිහිටල තියේ නම් ඒකට වර්ග දෝස බලපානවා.

පැළක් හෙවත් පැල්පතක් කියන්නෙ පැළයක ස්වභාවයක්. ඒ කියන්නෙ මුල් ඇදපු එකක් නෙවෙයි. මහ ගහක් නම් මුල් ඇදල හොඳට හිර වෙලා තද වෙලා ස්ථිරව තියෙන ස්වභාවයක් තියෙන්නෙ. ගෘහයක් ඒ වගෙයි. නමුත් පැල්පතක තියෙන තාවකාලික ස්වභාවය නිසා ඒකෙ ඉන්න කෙනෙකුට ඒක මහ ලොකු දෙයක් කියල හිතෙන්නෙ නෑ. ගෙදරක ඉන්නව කිව්වොත් ඇති වන හැඟීම පැල්පතක ඉන්න කොට නෑ. නිකං පැළයක් වගේ මුල් ඇදගෙන නෑ, කොයි වෙලේ ගැලවිලා යයිද දන්නෙ නෑ. ඒ කියන්නෙ ඉන්නවට ඉන්නව මිසක් මුල් බැහැ ගත්තෙ නෑ කියන එක. අපේ ගේ කියන්නවත් කැමති නෑ. හාමුදුරු නමක් කුටියක හිටියත් මුල් බැහැගෙන නෑ. ඒ නිසා ඒකත් පැල්පතක්. නමුත් අද පැල්පතක් කිව්වම ලෝක සම්මතයෙ හිතාගෙන ඉන්නෙ, නිකං පොල් අතු හෙවිල්ලක් තියෙන කටු මැටි ගහපු පුංචි ගෙයක් විතරයි කියල. බාහිර පෙනුම අල්ලල තමයි එහෙම කියන්නෙ. නමුත් පරමාර්ථ වශයෙන් පැල්පත කියන්න හේතුව දන්නෙ නෑ.

කෙනෙක් පැල්පතක ඉඳගෙන තමන්ට ඉන්න කියල ගෙයක් හදනවා. ගෙයක් තිබුණ නම් තවත් ගෙයක් හදන්න බලාපොරොත්තුවක් නෑ. වැඩිපුර ගෙයක් හදා ගන්න එක වෙනම කතාවක්. නමුත් මේ කියන්නෙ සාමාන්‍ය තත්ත්වය. අපිට ඉන්න ගෙයක් හැදුව නම් .... කියන කොට, ඇයි ඉන්න ගේ ... කියල කෙනෙක් අහන්න පුළුවන්. මේක ගෙයක්ද ... ? එතකොට ඒ පුද්ගලය එහෙම කියනවා. මොකද පැල්පතක් නිසා. එතකොට පොඩි කටුමැටි ගහපු පැල්පතක ඉඳගෙන ගෙයක් හදන්න පුළුවන්. මොකද මේකෙ අපිට ඉන්න

බෑ කියල පැල්පතක ඉන්න කොට අදහසක් එනවා. ඒ අදහස එන්න හේතුව මොකද, ඒක පැළයට පත් තැනක් නිසා. පැලපදියම් කියන වචනය හැදුනෙත් ඒකෙන්. ඒ කියන්නෙ පැල පත්තියම් වුනා කියන එක. මහ හෙවණක් නෑ, ඒත් කරන්න දේකුත් නෑ. මෙන්න මේ හේතුව නිසා තමයි පැල්පත්වලට මේ දෝසවල බලපෑමක් නැත්තෙ. ඒ කියන්නෙ මේ කාරණය හිතත් එක්ක කෙළින්ම සම්බන්ධයි. ඒ නිසා විශේෂයෙන් රහතන් වහන්සේට කොතනත් පැල්පතක්. අනෙක් ආර්ය උත්තමයන්ටත් ඒ වගෙයි. ඒ අයට මහ ලොකු ගෙයක් වුනත් ඉන්නවට ඉන්නව මිසක් අල්ල ගෙන නෑ. ඒ නිසා රහතන් වහන්සේට හෝ අනෙක් ආර්ය උතුමන්ට මහ මන්දිරයක් වුනත් පැල්පතක්. ඒ කාරණය දැන ගන්න නම් පැල්පත කියන එකේ අදහස දැන ගන්න ඕන. එහෙම නැතිව නිකම්ම පොල් අතු, පිදුරු සෙවිලි කරපු පැල්පතක් කිව්වොත් අර ලෝක සම්මත අදහස තමයි එන්නෙ.

ඊළඟට මේ වර්ග දෝස කියන්නෙ, ගෙදරක ඇතුලෙ තියෙන බිත්ති වෙන් කරල ඇතුල් කාමර හැදුවම T මුට්ටු, මුලු ආදිය අතරින් විහිදෙන කිරණ නිසා එන දෝස. එතකොට ගේ ඇතුළෙ කිරණ වැඩ කරනවා. ඒ මූට්ටුවලින් බිත්ති වෙන් කළාම, ගේ වටේ බිත්තිවලින් විහිදෙන ශක්තිය ගේ ඇතුළට වදින කොට ඒ බිත්තිවලත් වදින තැන් තියෙනවා. උදාහරණයක් විදියට බිත්තියක් හරහට තවත් බිත්තියක් වැදුනොත්, ඒ බිත්තිවලින් එන කිරණ අනිත් බිත්තියට වැදිල එතන කිරණ බිඳීමක් වෙනවා. එහෙම බිඳිල භ්‍රමණය වෙන්න පටන් ගන්නවා. එතකොට ඒ ශක්තිය හැම තැනම වැඩ කරනවා. එහෙම වැඩ කරන කොට ගේ වටේ තියෙන මහ බිත්තියේ මට්ටමට තමයි ඒකට බාහිර ලෝකෙන් කිරණ ඇදල ගන්නෙ. එතකොට ගේ ඇතුලෙ ක්‍රියාත්මක වෙන්නෙත් ඒ ඇදල ගන්න මට්ටමේ කිරණ. දැන් වර්ග දෝසයක් හිටියොත් එහෙම, ඒ ඒ මට්ටමට අනුව තමයි අර බිත්තිවලින් විහිදිච්ච කිරණවලින් දෝස හෝ හොඳ ඇදෙන්නෙ. ඒ කියන්නෙ ගෙහිමියාට ගැලපෙන විදියට වර්ග ඵලය ගත්තොත් හොඳ කිරණ ඇදෙනවා. නොගැලපෙන විදියට ඒ දිග පළල ආදිය ගත්තොත් නරක පැත්ත ඇදෙනවා. ඒ නිසා අපිට නොපෙනෙන කිරණක් ගේ ඇතුලෙ වැඩ කරනවා. බිත්ති නොගැලපෙන විදියට වෙන් වුනාම තමයි ඒ දෝස එන්නෙ. හැබැයි ඇතුලෙ බිත්ති බෙදල වෙන් කරන කොට සිමෙන්ති ගඩොල් ආදිය නොගෙන, ලෑලි, කාඩ්බෝඩ්, ප්ලාස්ටික් ආදිය පාවිච්චි කරනව නම් ඒ වගේ වර්ග දෝස එන්නෙ නෑ. මොකද එතනදි බිත්තියක් කියල අදහස් කරන්නෙ ගල්, ගඩොල් වගේ දේකින් බැන්දොත් තමයි. හැබැයි ගෙයක් කොච්චර ලොකුවට හැදුවත් තනි කාමරයක් විදියට නම් හැදුවෙ ඒ වගේ වර්ග දෝස එන්නෙත් නෑ.

මේ වර්ග දෝස කියන ඒවා එන්නෙ අංශක 90 හෙවත් චතුරස්‍ර කෝණ තියෙන කොට. ඒ වගේ කෝණයක් අර වගේ තැනක වැදුනොත් ඒ ස්ථානයේ විස කිරණක් පිට වෙනවා. අංශක 45 කෝණවලින් නම් හොඳ කිරණ පිට වෙන්නෙ. මේ විදියට කෝණවලින් කිරණ විහිදෙන ක්‍රමයක් තියෙනවා. T මූට්ටුවක් කිව්වම බිත්තියේ ඉඳල දෙපැත්තට අංශක 90 කෝණ 2 ක් වැටෙනවා. අංශක 90 කෝණ 2 ක් තමයි T මූට්ටුවේ ඉඳන් ඇවිත් මැද බිත්තියේ හැපෙන්නෙ. එතකොට එතන කිරණ පිපිරීමක් වෙලා විස කිරණක් නිකුත් වෙනවා. හැබැයි කාඩ් බෝඩ්, ලී වගේ දේකින් වෙන් කරපු බිත්තිවල මේ අංශක 90 කෝණය තිබුණත් ඒ වගේ විස කිරණ නිකුත් වීමක් සිද්ධ වෙන්නෙ නෑ.



මෙතනදි මේ ලී, ප්ලාස්ටික්, කාඩ් බෝඩ් ආදිය නිසා වර්ග දෝස එන්නෙ නැති හේතුව දැන ගැනීමත් වැදගත්. මේවා විදුලි සන්නයන ද්‍රව්‍ය නෙවෙයි. සාමාන්‍යයෙන් පොළව කොච්චර වේළිලා තිබුණත් පොළවට ගඩොල්, ගල්, කොන්ක්‍රීට් ආදිය සම්බන්ධ කරල ඒ හරහා විදුලිය සපයල ශරීරයට ස්පර්ශ කළොත් එක්තරා මට්ටමකට කිරණ වශයෙන් හෝ විදුලිය සන්නයනයක් වෙනවා. නමුත් රබර්, ප්ලාස්ටික් හෝ ලී සෙරෙප්පු දාගෙන ස්පර්ශ කළොත් එහෙම වෙන්නෙ නෑ. ඒ නිසා ගල්, ගඩොල්, සිමෙන්ති කියන පඨවි ධාතුවල සම්බන්ධයට සියුම් විදුලි කිරණක් හෝ අහු වෙනවා. නමුත් ලී, කාඩ් බෝඩ්, ප්ලාස්ටික් ආදියෙන් එහෙම සන්නයනය වීමක් වෙන්නෙ නෑ. ඒ නිසා ඒ වගේ ද්‍රව්‍යවලින් හදපු බිත්තිවලින් විස කිරණ හැදීමක් වෙන්නෙත් නෑ.

හැබැයි ගල් ගඩොල් ආදියෙන් හදපු බිත්තිවලත් වර්ගය හරියට ගැලපෙන්න තියේ නම් අංශක 90 කෝණ තිබුණත් විස කිරණ වදින්නෙ නෑ. මොකද එතකොට අදින්න විස කිරණක් නිපදවෙන්නෙ නෑ. නිවසක තියෙන කිරණවල ශක්තියෙන් තමයි ඒක සිද්ධ වෙන්නෙ. ඒ නිසා ගෙදරක වර්ගඵලය ගන්න කොට, ඒ ගේ හිමියගෙ හෙවත් ගෘහ මූලිකයගෙ නමින් ගන්න ඕන. ඒකට සම්මත චක්‍රයක් තියෙනවා. යම් කිසි කෙනෙක් ගෘහ මූලිකයා විදියට සම්මත කර ගත්තම ඒ පුද්ගලයගෙ මූලිකත්වය තමයි ඒ ගෙදරට බලපාන්නෙ. රටක රජ්ජුරුවන්ගෙ සම්මතය ඒ රටට මූලික වෙලා බලපානවා. ඒ වගේ, ගෙදරක ගෙහිමියාගෙ සම්මතය මූලික වෙලා ඒ ගෙදරට බලපානවා. මෙතනදි අද කාලෙ නොසලකා හැරපු නොදන්න කාරණාවකුත් තියෙනවා.

ඒ තමයි සමහර ගෙවල්වල මූලිකත්වය ප්‍රධානියාට නොදී, වාසනාවන්තයි කියල කියන කෙනෙක්ගෙ නමට වර්ග ඵලය අරගෙන ගේ හදනවා. ඒ කියන්නෙ ඒ ප්‍රධානියට මුල් තැන දෙන්නෙ නැතිව කොන් කරල වෙනත් කෙනෙකුට මූලිකත්වය දෙනවා. **මූලිකයාට හිමි සුදුසු තැන නැති කළාම ඒ ගෙදර පිරිහෙනවා.** ඒ නිසා තමයි පෙර කාලෙ සාමාන්‍යයෙන් ප්‍රධානියාට මිසක් හේතු වාසනා තියෙන වෙන කෙනෙකුට ගෙදරක මූලිකත්වය දුන්නෙ නැත්තෙ. එතනදි මූලිකත්වයට සුදුසු වෙන්නෙ ගෙදර ඉන්න පිරිමි කෙනෙක්. ස්ත්‍රියක් මූලික කරගත්තට ඒ ගෙදරට යා දෙන්නෙ නෑ. පෙර කාලෙ ඉඳන් එන සිරිතක් තමයි, මව් කෙනෙක් හිටියත් ස්වාමි පුරුෂයා තමයි මූලිකයා වෙන්නෙ. ස්වාමියා මළාට පස්සෙ දරුවො ඉන්නව නම් ඒ වැඩිමහල් පිරිමි දරුවෙක් මූලිකයා වෙනව මිසක් අම්මා මූලික වෙන්නෙ නෑ. නමුත් අද වෙන කොට ඒ සම්මතය අත හැරල, දැනට හදාගත්තු ක්‍රමය අනුව පියාගෙන් පස්සෙ ඊළඟට මූලිකයා වෙන්නෙ මව. සමහර ගෙවල්වල පියා ඉදෙද්දිත් මව මූලික වෙනවා. නමුත් මවට මව් පදවිය තිබුනට මූලිකත්වය දෙන්න සුදුසු නෑ. නමුත් අද වෙන කොට මේ කාරණයත් ගණන් ගන්නෙ නෑ. හැබැයි ගණන් නොගත්තට මේ කියන හේතු ඵල බලපානවා. නමුත් ඒ හේතුව නිසා විපත් වුනායි කියන කාරණය තේරෙන්නෙ නෑ. ඒ නිසා **ගෘහ මූලිකයා ස්ත්‍රියක් වුනොත් මේ හේතු ඵල අනුව හරියට යා දෙන්නෙ නැතිව ප්‍රශ්න එනවා.** ඒ වගේම සමහර ගෙවල්වල පිරිමියෙක් ඉඳලත් පිරිමියා කොන් කරල ස්ත්‍රියක් මූලිකත්වය ගත්තොත් ඒත් යා දෙන්නෙ නෑ. යම් කිසි විදියකින් ගෙදර පිරිමි අය ඔක්කොම මිය ගිහින්, ඒ ගෙදර විවාහ වෙච්ච ගෑණු ළමයෙක් ඉන්නව නම් ඒ බෑණා තමයි ගෘහ මූලිකයා වෙන්න ඕන. එහෙමත් නැතිව ස්ත්‍රීන් විතරක්ම ඉන්නව නම් එතකොට

අම්ම හෝ වෙනත් කාන්තාවක් ගෘහ මූලිකය විදියට කටයුතු කළත් ඒ ගෙදර කණවැන්දුම් ගෙදරක් වෙනවා. **කණවැන්දුම් කියන්නෙ කෙනෙක් නෑ කියන අදහස. කරන්න දෙයක් නැති නිසා මූලිකත්වය ගත්තට අර හේතු ඵල බලපෑම ඒකෙන් නැති වෙන්නෙ නෑ. ඒක ඉතින් කර්ම විපාකයක්.**

**එතකොට ස්ත්‍රියක් මූලික කරන්න බෑ කියන කාරණය එන්නෙ උප්පත්තියෙන්ම, ස්ත්‍රී භාව රූපයෙන්ම අදාල ඒ ලක්ෂණයේ තියෙන අඩු පාඩුවක් නිසා. මෙකට ගැලපෙන කාරණයක් බුදුන් වහන්සේ පෙන්වා තියෙනවා. ඒ තමයි කෙනෙක් ස්ත්‍රී අත්බැවක ඉන්න තාක් කවදාවත් යම රජ, සක්‍ර දේවේන්ද්‍ර, මහා බ්‍රහ්ම, ලොව්තුරා බුදු කියන තත්ත්වයන්ට පත් වෙන්නෙ නැති බව. ඒ වගේ තත්ත්වයන්ට පත් වෙන්න නම් ස්ත්‍රී අත් බැවෙන් මිදෙන්න ඕන.**

ඒ වගේම ගෙදර සීය කෙනෙක් ඉන්නව නම්, ඒ සීය තමයි ගෘහ මූලිකය වෙන්න ඕන. සීය නැති වුනාට පස්සෙ තමයි තාත්තට ගෘහ මූලිකත්වය ලැබෙන්නෙ. ඒක තමයි ක්‍රමය. නමුත් ඒ කාරණයත් අද දන්නෙ නැතිව පුතාගෙ නමින් හෝ මුණුබුරාගෙ නමින් ගේ හදනවා. පුතාට කියල ගෙයක් හදනව නම් ඒක පුතාගෙ නමින් වෙනම හදන්න ඕන. එතකොට ඒ ගෙදර මූලිකය වෙන්නෙ පුතා. එහෙම නැතිව සීය ඉන්න තැන, සීය ඉඳෙද්දි වෙනත් කෙනෙකුට ගෘහ මූලිකය වෙන්න බෑ. ඒක තමයි මහ ගෙදර කියන්නෙ. මහ අය ඉන්න නිසා මහ ගෙදර කිව්ව මිසක්, ගේ ලොකු නිසා නෙවෙයි එහෙම කියන්නෙ. ඒ වගේම සමහර අය කේන්දර බලන කොට කියනවා, මේ වාසනාව තියෙන්නෙ නෝන මහත්තයට, ඒ නිසා නෝන මහත්තයගෙ නමින් ගේ හදන්න කියල. නමුත් හැදුවට පස්සෙ ඵල දෙන්නෙ නෑ. ඒ නිසා ගෘහ මූලිකයට එන්න ඕන සුදුසු කෙනාගෙ නමින් තමයි ගේ හදන්න ඕන. අනික් අය ඒ ගෘහ මූලිකයගෙ යටතෙ ඉන්න කොට තමයි යා දෙන්නෙ. ගෘහ මූලිකත්වය නියම විදියට හිමි කෙනාගෙ වාසනාව තමයි අනිත් අයට බලපාන්නෙ. මේ නිසා ඉන්න ගෘහ මූලිකයා මළොත්, ඊට පස්සෙ ගෘහ මූලිකත්වයට පත් වෙන සුදුසු කෙනාගෙ නමට ගැලපෙන විදියට ඒ ගෙදර වර්ගයත් වෙනස් කරන්න ඕන. එහෙම නැතිව දිගටම එකම ගෙදර පරම්පරාවෙන් පරම්පරාවට ගියොත් හරි යන්නෙ නෑ, ප්‍රශ්න එනවා. පරම්පරා 2 - 3 ක් යන කොට ගෙයක් නරක් වෙන්න හේතුවත් ඒකයි. ඊට පස්සෙ හිමිකමක් නැතිව යනවා. හිටියත් නිකං පුස්ස බින්ද වගේ. හුඟක් අය කතාවටත් කියනවා, ගෙහිමියා මළාට පස්සෙ ඒ ස්ථානය පාළු වෙලා කියල. ඒ කියන්නෙ අර වර්ගය දැන් ගැලපෙන්නෙ නෑ. හැබැයි එතකොට ඒ අවස්ථාවෙදි ඒ ගෙදර සම්පූර්ණයෙන්ම කඩන්න ඕන නෑ. මොනව හරි ප්‍රයෝග සම්පත්තියක් යොදල ඊළඟට එන්න ඉන්න ගෘහ මූලිකයගෙ නමට ගැලපෙන වෙනසක් කළාම ප්‍රමාණවත්.

මෙතනදි ඒ පුද්ගලයගෙ දකුණු අතේ අත් රියන අරගෙන, ඒ අත් රියනට ගැළපෙන්න තමයි දිග පළල මැනල වර්ගය ගැලපෙනවද නැද්ද කියල හොයා ගන්නෙ. ගැලපෙන්නෙ නැත්නම් යම් කිසි වෙනසක් කරල ගැලපෙන විදියට හදා ගන්න ඕන. ඒ කියන්නෙ ගැලපෙන විදියට ඒකට කොටසක් එකතු කළාමත් හරි. එහෙම නැතිව මුල ඉඳලම කඩල හදන්න ඕන නෑ. ඒ ක්‍රමයට ව්‍යූහාත්මක වෙනස්කමක් කරන්න බැරි නම්, යම් කිසි ආකාරයකට සෙත් කරල රන් රිදී මුතු මැණික් ආදියෙන් හදා ගත්තු කට්ටල් දානව කියන, පෙර කාලෙ තිබිල වැහිල ගිය යම් කිසි ගුප්ත ක්‍රමයකට ඒ දෝසය ඇර ගන්න පුළුවන්.



නමුත් මේ කාලෙ වෙනකොට ඒ ක්‍රමය සැඟවිලා. ඒ නිසා හරියටම දන්න කෙනෙක් හිටියොත් විතරයි ඒක කරගන්න පුළුවන් වෙන්නෙ. නැත්නම් මිනිස්සු රවට්ටල මුදල් ගරාගන්න වංචනිකයන්ට අහුවෙන්න පුළුවන්.

දැන් එතකොට මේ විදියට ගෘහ මූලිකයගෙ නමින් වර්ගය බලන්නෙ නැතිව අද කාලෙ ව්‍යාපාර වශයෙන් ගෙවල් හදල විකුණන අවස්ථා තියෙනවා. එහෙම නැත්නම් හදිසියට කවුරු හරි කෙනෙකුට අයිති ගෙයක් මිලදී ගන්නවා. නමුත් එතකොට අර දෝසය බලපානවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවකදි ගෙයක් ගන්නව නම් අර වර්ග දෝස අරින්න ඕන. එහෙම නැත්නම් වර්ග දෝස එන්නෙ නැති වෙන්න ගැලපෙන විදියට හදන්න ඕන. එහෙමත් නැත්නම් අර කට්ටල් දානව වගේ මොනව හරි ප්‍රයෝග සම්පත්තියක් යොදන්න ඕන. එහෙම නොකර මහ කෝටි ගණන් වියදම් කරල ගෙවල් ගත්තට, වර්ගය ගැලපෙන්නෙ නැත්නම් මොනව හරි පැතිවලින් දෝස එනවා. මේ කාරණය හරියට වාස්තු විද්‍යාව දන්න අය නම් දන්නවා. නමුත් හුඟක් අය දන්නෙ නෑ.

දැන් මේ අත් රියන කියන එකත් ගන්න ක්‍රමයක් තියෙනවා. ස්වාමි හස්ත ප්‍රමාණේන ගෘහම් කුර්යොත් වරාණතේ සේකාධි හස්ත පර්යන්ත මව්ජ සංඛ්‍යා ප්‍රසස්‍යතේ කියල එක්තරා ශ්ලෝකයක් තියෙනවා. ඒකෙන් පෙන්වන්නෙ, ගෙයක් හදන කොට ස්වාමියාගෙ අතේ ප්‍රමාණය හෙවත් අත් රියන අරගෙන හස්ත පර්යාවෙන් ඒ සීමාව ගන්න කියන එක. මව්ජ සංඛ්‍යා කිව්වෙ ඒ පුද්ගලයට ප්‍රශස්ත වන ගැලපෙන ඔත්තෙ සංඛ්‍යාවක්. එහෙම ගන්න චක්‍රයක් තියෙනවා.

ඒ චක්‍රයට අනුව ගෘහ, අය, ධන, වංශ, දින, නැකැත්, තිථී, යෝග, රාශිය, අංශක, ආයු, දේව, යෝනි, භූත, මර, විනාස කියල කාරණා 16 ක් තියෙනවා. ඒ 16 බලන්න ඕන. ඒක යම් කිසි ගණිත ක්‍රමයක්. ඒ ක්‍රමයට ගෘහ මූලිකයාට සුදුසු අංක තියෙනවා. මේ කාරණා 16 බලන්නෙ ඒ අනුව. ඒක සියුම් චක්‍රයක්. උදාහරණ විදියට වර්ග අත් රියන් 10 ක් තිබුණොත්, ගෙට එන වර්ග අංකය 10. මේ වර්ග අංකය සියුම්ව හොයනව නම්, ගේ මුළු අත්තිවාරමේ වර්ග අඟල් ගණන හොයල, ඒක ගෘහ මූලිකයගෙ වර්ග අත් රියනේ වර්ග අඟල් ගණනින් බෙදුවම එන අංකය තමයි වර්ග අංකය කියන්නෙ. ගෘහ මූලිකයගෙ අත් රියන අඟල් 18 ක් නම්, වර්ග අත් රියන 18 x 18 = 324 යි. ගේ මුළු අත්තිවාරමේ වර්ග ප්‍රමාණය වර්ග අඟල් 3240 ක් නම් වර්ග අංකය වෙන්නෙ. 3240/324 = 10 යි. අන්න ඊට අනුකූලව තමයි මේ කාරණා 16 තෝර ගන්න ඕන. ඒ කාරණා 16 ම බලපාන්නෙ අත්තිවාරම සකස් කරන කොට විතරයි.

දැන් මේ කාරණා 16 බලන කොට ගෘහ කිව්වම අජ ගෘහ, ද්වජ ගෘහ, සිංහ ගෘහ, කාක ගෘහ, හස්ථි ගෘහ, කොටළු ගෘහ .... ආදී වශයෙන් තියෙනවා. මේ කියන්නෙ ඒ කිරණ වළල්ලට ඇදෙන ගති ලක්ෂණය. ඒක ගෙයක් පිටින් බලල කියන්න බෑ. ඒ අත්තිවාරම තමයි මේ කාරණයට සම්බන්ධ වෙන්නෙ. එතනදි කාරණා 2 ක් තියෙනවා. එකක් ගතිය. අනික ඒ ගතියට අනුකූලව තියෙන අත්තිවාරමේ ප්‍රමාණය. ඒ නිසා මෙතනදි අත්තිවාරමේ ලොකු කුඩා බව අනුව තමයි ඒ ගෘහ වර්ගය වෙනස් වෙන්නෙ. එතනදි අජ කියල පෙන්වන්නෙ හරක, එළුව ආදී සත්තු. ඒ කියන්නෙ ගොවිතැන් බත් ආදිය කරන අයට ගැළපෙන්නෙ අජ ගෘහයක්. ගෘහ

මූලිකයගෙ ප්‍රධාන රැකියාව ගොවිතැන නම් ඒ පුද්ගලයට අජ ගෘහයක් තමයි ගැලපෙන්නෙ. රජයේ හමුදා නිලධාරීන් වගේ අයට සිංහ ගෘහය තමයි ගැලපෙන්නෙ. විසාල ධනස්කන්ධයක් තියෙන ගමේ වළව් පැළැන්තියේ අයට හස්ථි ගෘහය ගැලපෙන්නෙ. හස්ථි ගෘහයක් නම්, ඇත් බානක් ගේ වටේ නොගැවෙන්න ගෙනියන්න ගෙපල ඉඩ තියෙන්න ඕන. ඒ වගේම අජ ගෘහයක් නම්, හරක් බානක් ගේ වටේ ගැවෙන්නෙ නැතිව ගෙනියන්න ඉඩ තියෙන්න ඕන. ඒකත් එක්තරා මූල ධර්මයක්. නමුත් දැන් ඒ කාරණා ගණන් ගන්නෙ නෑ. ඉවුරට අල්ලලම ගේ හදනවා. නමුත් ඒක දෝසයක්.

ඊළඟට මොනව හරි ඔට්ටු සූදු ආදිය රැකියාව කරගත් අයට කාක ගෘහය තමයි ගැලපෙන්නෙ. අනුන්ගෙ බැල මෙහෙවරකම්, බර වැඩ කරන අයට කොටළු ගෘහය ගැලපෙන්නෙ. ඒ වගේ කෙනෙකුට සිංහ ගෘහයක් ගත්තොත් ඒ බැල මෙහෙවරකම් කරන කෙනා තමන්ගෙ තේජස පෙන්වන්න ගිහින් නොයෙක් ප්‍රශ්න ඇති වෙන්න පුළුවන්. ඒ කියන්නෙ ගෘහ වර්ගයට අදාල පරිසරයට හිමි ගතිය තමයි ඒ ස්ථානයෙ ඉන්න පුද්ගලයටත් එන්නෙ. ඒ විදියට නොගැලපෙන ගෘහයක් ගත්තම ගති විපර්යාසයක් වෙනවා. එතකොට අනුන්ගෙ යටතෙ සේවය කරන කෙනෙක් සිංහයෙක් වගේ වැඩ කටයුතු කරන්න ගියොත් ගුටිකන්න වෙනවා. ඒ නිසා ඒ ගෘහය ගැලපෙන්නෙ නෑ. ඒ පරිසරයෙ තියෙන ගතිය මිනිස් ගතියට සමාන වෙලා ඒකෙන් තමයි ඒ සම්බන්ධය එන්නෙ. ඒ වගේම හමුදා නිලධාරියෙක් කොටළු ගෘහයක ඉන්න ගියොත් ඒ පුද්ගලයට අනික් අය සියල්ලම එකතු වෙලා බර පටවන්න පුළුවන්. එතකොට අනුන්ගෙ බරත් ඒ පුද්ගලයට අදින්න වෙනවා. හමුදා ගතිය යටපත් වෙනවා. ඊළඟට ද්වජ ගෘහය යම් කිසි විශේෂිත පුද්ගලයින්ට, ජයග්‍රාහී පුද්ගලයින්ට ගැලපෙනවා. ඒ කියන්නෙ යුග පුරුෂයො කියන අය. ගමක ඉන්නවා යම් කිසි වැදගත් අය කියල කොටසක්. ඒ අය ගෞරව නම්බු නාම ලබන්න සුදුසු අය. ඒ අයට මේ ද්වජ ගෘහයක් තමයි ගැලපෙන්නෙ. ඒ වගේ කෙනෙක් කොටළු ගෘහයක හිටියොත් කොච්චර ගරු කටයුතු වුනත් ඒ සැලකීම් ලැබෙන්නෙ නෑ. ගෘහයේ ස්වභාවය ඒ අයටත් එනවා.

ඒ වගේම මෙතනදි ගෘහය කියල **කියන්නෙ ග්‍රහණය කරනවයි කියන එක. ඒ නිසා ග්‍රහණය නොකරන කෙනාට මේ ප්‍රශ්න එන්නෙ නෑ. මොකද මේ දෝස එන්නෙ සම්මතයත් එක්කමයි. යමෙක් මගේ තැන ... කියල අල්ල ගත්තොත් ඒක දෝසවලට විශේෂයෙන් බලපානවා. අපි ඉන්න ගේ ... කියල කිව්වොත් ඒකෙන් දෝසයක් එන්නෙ නෑ.** නමුත් සාමාන්‍ය පෘතජ්ජනයාට මම, මගේ කියන අදහස ඉවත් කර ගන්න බෑ. මම, මගේ කියන අදහසේම ලොකුවට බැඳිල ඉන්නවා. නමුත් ආර්ය භාවයට පත් වෙච්ච කෙනෙක් එහෙම නෑ. මම ඉන්න ගේ ... කියනව මිසක් මගේ ගේ ... කියන අදහසේ නෑ. ඒ නිසා ආර්යයන්ට ඔය ගෙවල්වල දෝස හුඟක් අඩුයි. මොකද ඒ අය ''මම'' කියන දෘෂ්ටිය අත හැරල ඉන්නෙ. එතකොට අත හැරිය තරමට තමයි සුව. හැබැයි ඒ ගතින් නෙවෙයි, සිතින් තමයි අත හරින්න ඕන.

ඒ නිසා ආර්ය භාවයට පත් අය තමන් ඉන්න ඇඳ, ඉඳගන්න පුටුව, ඉන්න ගේ, අපි පරිහරණය කරන වත්ත .... ආදී වශයෙන් කියනව මිසක් මම, මගේ කියන අදහසින් ගන්නෙ නෑ. මොකද සෝවාන්



වෙන කොට මසුරු 5 ක් නැති වෙනවා. ආවාස මසුරුකම, ධන මසුරුකම, කුල මසුරුකම, වර්ණ මසුරුකම, ධර්ම මසුරුකම කියන මේවා නෑ. කුල මසුරුකම කිව්වම තමන්ගෙ කුලය ලොකුයි කියල අනික් අයට පෙන්වන්නෙ නෑ. ඒ වගේම තමන්ගෙ තත්ත්වය මේකයි, මං මෙහෙම කෙනෙක් කියල වර්ණ මසුරුකම පෙන්වන්න යන්නෙත් නෑ. ඊළඟට මම මෙච්චර දන්නව කියල තමන්ගෙ දැන උගත්කම් නිසා එන ධර්ම මසුරුකම පෙන්වන්නෙත් නෑ. ඒ අය මේ මසුරුකම් අත් හරිනවා. ඒ නිසා මසුරු 5 ක් නැති කෙනාට මම, මගේ කියන හැඟීම බොහොම අඩුයි. අල්ල ගෙන හංග ගෙන ඉන්න ඒවා බොහොම අඩුයි. ඒ නිසා ඒ වගේ කෙනෙක් මේක මගේ පුටුව, මගේ ගෙදර, මේක මට ඕන හැටියට .... ආදී වශයෙන් අදහස් අරගෙන කතා කරන්නෙ නෑ. එහෙම අදහස් අරගෙන කටයුතු කරන අයට තමයි මේ ඔක්කොම ප්‍රශ්න ඒ විදියටම බලපාන්නෙ.

අමනුස්ස බලපෑම් එන්නෙත් එහෙමයි. මගේ ගේ ... මගේ ගේ ... කියල මැරිච්ච අය, මැරිල ගිහිල්ලත් අමනුස්ස ලෝකවල ඉඳන් මගේ ගේ ... මගේ ගේ ... කියන අදහසේම ඉන්නවා. ඒකට තවත් කෙනෙක් අයිතිවාසිකම් කිව්වොත්, උඹේ වෙන්නෙ කොහොමද ඕක මගේනෙ කියල අමනුස්සය ඒ ලෝකෙ ඉඳන් කෑ ගහනවා, සාප කරනවා. එතකොට ඒ වගේ තැන්වල කෙනෙකුට ඉන්න හරි අමාරුයි. ඒ නිසා අපි ඉන්න ගේ මිසක්, මගේ ගේ කියල ඉන්නෙ නැති කෙනාට මේ ගෙවල් දෝසවලින් එන ප්‍රශ්න හුඟක් අඩුයි. මමත්වයෙන් අරගෙන කතා කරන කොට ගුප්ත ලෝකවල ඉන්න අයට ඒක කරදරයක්. එතකොට තමන්ට අයිතියක් නෑ කියල ඒ අය බය වෙනවා. උදාහරණයකින් පැහැදිලි කළොත්, කවුරු හරි තවත් කෙනෙක්ගෙ ගෙදරක කුළියට ඉන්නවා. දැන් අපි අහවලාගෙ ගෙදරනෙ ඉන්නෙ කිව්වොත් ගෙහිමියාට ඒකෙන් කිසි ප්‍රශ්නයක් නෑ. හැබැයි මේක මගේ ගෙදර කියල කිව්වොත් එහෙම දැන් ගෙහිමියා කුපිත වෙනවා. උඹේ වෙන්නෙ කොහොමද මගේනෙ කියල රණ්ඩු වෙනවා. ඒ නිසා මේ කාරණය සමාජයේ දැන් ජීවත් වෙන අයටත් ප්‍රායෝගිකව අත් හදා බලන්න පුළුවන්. විශේෂයෙන් සඳහන් නොකළත්, වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි කාලෙ මේ වගේ අත්දැකීම් අනන්තවත් ලබල තියෙනවා. ඒ නිසා අනිත් අයත් මේ ගැන විමර්ශනය කරල බැලීම වටිනවා.

ඉතින් මේ වගේ දේවල් එකින් එකට බැලුවොත් කෙළවරක් නෑ. ඒව නැති වෙන්නෙ නෑ. මොනව හරි දෝසයක් තියෙනවා. හැබැයි **ඒ මොන දෝස ආවත්, ඒවා එල දෙන්න නම් ඒකට හේතු යෙදෙන්න ඕන. සමනන්තර - අනන්තර ප්‍රත්‍යය තමයි මෙතනදි ප්‍රධාන වශයෙන් බලපාන්නෙ. මේ වගේ ඇති වන දෝස තමයි සමනන්තරය කියන්නෙ. ඒ කියන්නෙ දෝස එල දෙන්න සකස් වෙලා තියෙන පරිසරය. නමුත් ඒක විපාක දෙන්න නම් සංසාරෙ පෙර කරපු, ඊට ගැලපෙන අකුසල කර්මයක් හෙවත් දැන් තියෙන කුසල විපාකය යටපත් කරන මට්ටමේ අනන්තරයක් ඇඳිල එන්න ඕන.** ඒ වගේ අනන්තරයක් නොතිබුනොත්, මේ සමනන්තරය කොච්චර තිබුනත් ඒව එල දෙන්නෙ නෑ. ඉතින් මේ කාරණා ටික සටහන් කළේ, මේ වගේ දේවල් දැන ගෙන ලෞකිකව සුව පහසු ජීවිතයක් ගත කරල නිකං හිස් අතින් මැරෙන්න නෙවෙයි. මේ ඉන්න ටිකට හෝ නිවන් මාර්ගය වඩා ගැනීමේදී ලෞකික වශයෙන් හෝ බාධාවක් තියේ නම්, යම් පමණකට හෝ ඒ බාධාව ඉවත් කර ගෙන විමුක්තිය සලස ගන්න උපනිශ්‍රයක් වේවා කියන අදහසින්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කේන්දරයෙන් පෙන්වන හේතු ඵල දහම ....

ජන්ම පත්‍ර, ලග්න ඵලාපල ආදිය සම්බන්ධයෙන් කියවෙන ජ්‍යොතිෂ විද්‍යාව ගැන මේ වෙන කොට ජන සමාජයේ යම් කිසි ආන්දෝලනාත්මක තත්ත්වයක් ඇති වෙලා තියෙනවා. ඒකට හේතුව තමයි ඒ සම්බන්ධව කටයුතු කරන අය අතර තියෙන විවිධාකාරයේ පරස්පර මත. ඒ වගේම තමන්ගෙ පුද්ගලික මතිමතාන්තර, ඕනෑ එපාකම්වලට වගේම මුදලට වහල් වෙලා විවිධාකාර අනාවැකි කියන්න යෑම නිසාත් ඒ පිළිබඳව විස්වාසය බිඳ වැටිල තියෙනවා. පොත්පත් බලල හදාරල යම් කිසි සීමා සහිත කරුණු ටිකක් කියනව හැරෙන්න, මේ සම්බන්ධයෙන් විද්‍යානුකූල හෝ ධර්මානුකූල පැත්ත පැහැදිලි කරන්න අසමත්වීම නිසාත්, ජන සමාජයේ යම් කිසි ආකාරයක උගත් බුද්ධිමත් පිරිස් ඒ ගැන ප්‍රතික්ෂේප කරන තත්ත්වයකුත් දකින්න තියෙනවා. හැබැයි අනික් ඕනෑම විද්‍යාවක් වගේම මේ ජ්‍යොතිෂ විද්‍යාවත් පොත පතේ තිබුණ පළියටම කියන්නෙ නැතිව, හේතු ඵල දහමට අනුකූලව විද්‍යානුකූල ක්‍රමයකට පහදන්න පුළුවන්. අන්න ඒ වගේ කෙරෙන එක්තරා ආකාරයක පැහැදිලි කිරීමක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. හැබැයි මේ තුළ සැඟවිලා තියෙන පටිච්ච සමුප්පාද දහම සහ විද්‍යාව මතු කරල පෙන්වනව මිසක් ජ්‍යොතිෂය ඉගැන්වීම මේ ලිපි පෙලේ අරමුණ නෙවෙයි.

අනෙක් පැරණි විද්‍යාවන් වගේම මේ ජ්‍යොතිෂ විද්‍යාවත් මුලින්ම ලෝකයට හඳුන්වා දුන්නෙ පැරණි සෘෂිවරු. සෘෂිවරු කියන්නෙ පෙරුම් පුරන බෝසත්වරු. ඒ කියන්නෙ බුදු, පසේ බුදු, මහ රහත් කියන තුන්තරා බෝධියටම අයත් උත්තමයො. ලොව්තුරා බුදුන් වහන්සේ ලෝකයට පහළ වෙන්න පෙර මනුස්සයින්ට යහපත් ගුණ ධර්ම, බේත් හේත් ආදී එදිනෙදා යහපතින් ජීවත් වෙන්න අවශ්‍ය කරන දේ හඳුන්වා දුන්නෙත් මේ සෘෂිවරු. නමුත් පසු කාලයක ඒ සෘෂිවරු දීපු සාස්ත්‍ර කටයුතු පරම්පරා ගණනාවක් තිස්සෙ ගේන කොට, ගුරු මුෂ්ටි වශයෙන් තියාගෙන හංග ගත්තු නිසා තමයි අද මේ සාස්ත්‍රයේ නෂ්ඨාවශේෂ විතරක් ඉතිරි වෙලා ප්‍රයෝජනයක් ගන්න බැරි තත්ත්වයට පත් වෙලා තියෙන්නෙ. ඒ කාරණය දන්නෙ නැතිව තමයි මේවායින් වැඩ කරගන්න ගිහින් වැරදුනාම මිනිස්සු ඒවාට බනින්නෙ දොස් කියන්නෙ. ඒ වගේම මේ ජ්‍යොතිෂය සත්‍යතාවයක් නැති තිරස්චීන විද්‍යාවක් හැටියට පෙන්වල, බුදුන් වහන්සේ ඊට නිගරු කළායි කියලත් සමහරු කියනවා. නමුත් උන් වහන්සේ නිගරු කළේ ඒ සාස්ත්‍රයට නෙවෙයි, ජ්‍යොතිෂ විද්‍යාවට නෙවෙයි. මේ වගේ නක්ෂත්‍ර වැඩ කටයුතු කරල පුද්ගලික ලාභ ප්‍රයෝජන කීර්ති, ප්‍රසංසාවලින් මත් වෙච්ච බමුණන්ගෙ නීච වැඩවලට තමයි උන් වහන්සේ නිගරු කළේ. සැදැහැවතුන් දෙන බොජුන් වළඳල භික්ෂූන් වහන්සේ නමක් හෝ ඒ වගේ දේවල් කරනව නම් ඒව නොගැලපෙන



තිරස්චීන දේවල් හැටියට පෙන්වා දීල ඒකටයි නිගරු කළේ. එහෙම නැතිව සෘෂි භාෂිතයන්ට උන් වහන්සේ නිගරු කළේ නෑ.

ජ්‍යොතිෂ කියන්නෙ යම් කිසි ආකාරයකට ජනිත වෙලා ආශ්‍රය කරනව කියන එක. එහෙම නැත්නම් ජෝති කියන ආලෝකය ආශ්‍රය කරන අර්ථයෙනුත් ජ්‍යොතිෂ කියල කියනවා. එතකොට පටිච්ච සමුප්පාදය අනුව ගත්තමත්, අද කේන්දරයක් කියන වචනයේ අර්ථය නොදැන ගත්තට ඒක හැදිල තියෙන ක්‍රමයක් තියෙනවා. කේ + අන් + දර කිව්වම, කේ කියන වචනයෙන් පෙන්වන්නෙ කරන දේවල්. ඒ කියන්නෙ ක්‍ෂය කරන දේවල් හෙවත් ගෙවා හරින දේවල්. බය ධම්ම කියන්නෙත් ඒකයි. ක්‍ෂය වෙන ධර්ම. අන් කියන්නෙ ආහාරය. දර කියන්නෙ දරා හිටිනවා, උපාදනය කර ගෙන ඉන්නවා. එතකොට **තමන් පෙර කරපු දේවල්වලට අවශ්‍ය ආහාර දරා ගෙන හිටින ආකාරය තමයි කේන්දරයකින් පෙන්වන්නෙ. වෙනත් විදියකින් කියනව නම් පෙර කරපු කර්ම ආහාරය දරාගෙන ගෙවා හරින ආකාරය.** සසර ගමන් කරන කොට කරපු දේවල් තමයි දරා හිටින්නෙ. ඒ නිසා සසර සැරි සරන තාක් කල් හැමෝටම කේන්දරයක් තියෙනවා. ලියවිල්ලකින් පෙන්නුම් කළත්, නැතත් ඒක එහෙමයි. දන් එතකොට සමහරු කියනවා, නිවන් දකින්න නම් කවද හරි මේ කේන්දරය පුච්චන්න ඕන කියල. හැබැයි ඒකට කේන්දර කොළේ පුච්චල හරි යන්නෙ නෑ. සසර ගමනට හේතු වෙන වැඩ පිළිවෙල හෙවත් ඊට හේතු වන ආහාරය දරන්නෙ නැතිව පුච්චපු දාට නම් කේන්දරය පිච්චෙනවා, නිවන් දකිනවා. ඒ නිසා අරිහත් ඵලයට පත් වුනාම තමයි නියම විදියට කේන්දරය පිච්චුවා වෙන්නෙ.

හඳහන කිව්වත් ඒ අර්ථයම තමයි එන්නෙ. හන කියන්නෙ විනාසයට හේතු වෙන දේවල්. හදපු දේ හන වෙනවා. ඒ වගේ දේවල් හද හදා හැඳින ගෙන ආවා කියන එක තමයි මේ කියන්නෙ. ඒ ක්‍රමවේදය තමයි හඳහනින් පෙන්වන්නෙ. අද බව්න් **හා වුනා නම් හඳහනක් තියෙනවා. රාග, ද්වේශ, මෝහ තුන තමයි අද භාවයට මුල් වෙන්නෙ.** තවත් විදියකින් කියනව නම් හිතටත් හඳ කියල කියනවා. එතකොට හිතේ අන්ධයෙන් හා වුන න්‍යායටත් හඳහන කියනවා. මනුස්සයො හොඳ නරක දෙකම කරන්නෙ හිතින් කැමැත්තෙන්. ඒ කියන්නෙ අවිද්‍යාවෙන්. ඒ විදියට විනාස වෙන දෙයක්ම තමයි අන්තිමට ගොඩ නගන්නෙ. ලෝක සම්මතයෙ කතාවට හොඳයි කියල කිව්වත්, කැමැත්තෙන් කරන ඒ හැම දෙයක්ම අන්තිමට වැනසෙනවා. ඒකයි අවිද්‍යාවෙන් ගත්තයි කිව්වෙ.

**ඒ වගේම ලග්නය කියල කියන්නෙ ලැගපු න්‍යාය. සත්වයා පෙර අත් බැවේ යම් තැනක ලැග්ගද, ඒ ලැගපු තැන දක්වෙන න්‍යාය ධර්මය තමයි ලග්නයෙන් පෙන්වන්නෙ.** ලැගපු තැනට අනුකූලව, ලැගපු දේවල් ලග්නය කර ගෙන සත්වයෝ උපදිනවා. මේ ලග්නයට රාශිය කියලත් කියනවා. රා කියන්නෙ අග්‍ර කර ගෙන සැරි සරනවා කියන අදහස. ආශිය කියන්නෙ ආශ්‍රය කරපු තැන්. ඒ කියන්නෙ සැරි සරමින් යම් තැනක් ආශ්‍රය කළා නම් ඒක තමයි රා + ආශි - රාශි වෙන්නෙ. සැරි සැරීම සඳහා යමක් ඇසුරට ගත්තද ඒක රාශියක් වෙනවා. ඒ විදිහට නොයෙක් තැන්වල සැරි සරල අන්තිමට තමන්ගෙ හිත ගියපු තැනක ලගිනවා.

ඊළඟට **සත්වයින් පෙර අත් බැව්වල ග්‍රහණය කර ගෙන හිටපු දේවල් එල දෙන්න හැදිච්ච වස්තු තමයි ග්‍රහ වස්තු කියන්නෙ.** ඒ ග්‍රහ වස්තු මුල් වෙලා තමයි විපාක දෙන්නෙ. එතකොට කෙනෙක් උපන් වෙලාවෙ යම් ග්‍රහ චාරයක් පිහිටල තිබුණ නම් ඒ ග්‍රහ චාරයෙන් පෙන්වන ගති ලක්ෂණය තුළ තමයි ඒ පුද්ගලය ලැගල තියෙන්නෙ. ඒ ගති ලක්ෂණ තුළින් මොන වගේ දේවල්ද ග්‍රහණය කරල තිබුණෙ, ඊට අනුව අදාල ග්‍රහයින් පිහිටනවා. එතකොට කෙනෙක් යමක් ග්‍රහණය කරගෙන යම් ගති ලක්ෂණයකින් ලැගල හිටිය නම්, ඒ ගති ලක්ෂණයට අදාල ස්වභාවය ලග්නය සහ ග්‍රහයින් තුළින් පෙන්නුම් කරනවා. ඒ නිසා මේ ලග්නයට යම් කිසි නමක් දාල තියෙන්නෙත් ග්‍රහ තාරකාවල තියෙන හැඩ තලයක් අනුව. ඒ කාරණය මේ විදිහට විග්‍රහ කරන්න පුළුවන්.

දස දහසක් සක්වල සහ අපි ඉන්න මේ මඟුල් සක්වල අතර යම් කිසි වෙනසක් තියෙනවා. අපි ඉන්න මේ සක්වලේ ඉඳගෙන බලන කොට තමයි ඔය දස දහසක් සක්වල ග්‍රහ මණ්ඩල ආදිය අහසෙ පේන්නෙ. නමුත් ඊට හුඟක් ඈතින් තියෙන තවත් සක්වල පොදි පිහිටල තියෙන ක්‍රම රටාව අපිට පේන්නෙ නෑ. මේ දස දහසක් සක්වල ග්‍රහයින්ගෙන් එන කිරණ, දස දහසක් සක්වලටම අන්‍යෝන්‍ය වශයෙන් විහිදිලා පැතිරෙනවා. එතකොට අපි ඉන්න මේ මනුස්ස ලෝකෙටත් ඒ කිරණ එන්න යම් කිසි කාලයක් ගත වෙනවා. ඒ කිරණ ඇවිත් ආකාසෙ තියෙන වායු ගෝලයට වදින කොට වායු ගෝලය ආලෝක වෙනවා. ඒ වදින කොට ඇති වන ආලෝක පුල්ලි තමයි මේ ග්‍රහ මණ්ඩල කියන්නෙ. ඒ කියන්නෙ ආලෝක වෙච්ච ස්ථාන. ඒව තමයි රෑට අහසෙ තරු විදියට පේන්නෙ. මේ ග්‍රහ මණ්ඩලවල තමයි ග්‍රහ දේවතාවො ඉන්නෙ. ග්‍රහ දේවතාවන්ගෙ විමාන පිහිටන්නෙ ඒ ආලෝක පුල්ලිවල. මේ ග්‍රහයින්ගෙ ගති ලක්ෂණ තියෙන දේවතාවො එතනත් ඉන්නවා. එතකොට **ග්‍රහය කියන්නෙ දෙවියෙක් නෙවෙයි. ග්‍රහ මණ්ඩලවල තමයි ආකාස දේවතාවන්ගෙ දිව්‍ය විමන් තියෙන්නෙ. මේවා පෘථිවියේ සිට බලද්දී හැතැප්ම 10 කට වඩා ඈතින් නෙවෙයි පිහිටන්නෙ. ඒ කියන්නෙ ඕසෝන් කියන ඝනීභවන ස්ථරය තියෙන ස්ථානයේ.** එතකොට මේ කියන ග්‍රහ මණ්ඩල හෙවත් තරු යම් කිසි හැඩ තලයකට සකස් වෙලා පේන්නෙ. ඒ කියන්නෙ අර කිරණ ඇවිත් වැදිල පිහිටන ආකාරය. යම් කිසි ගති ගුණයකට අනුරූප ගති රුවකින් තමයි ඒවා පිහිටන්නෙ. පෘථිවියේ ඉඳන් අහස දිහා බලන කොට පේන්නෙ ඒ පිහිටපු රටාව. අන්න ඒ පිහිටි හැඩතල රටා 12 ක් තමයි මේ ලග්න හෙවත් රාශි කියල කියන්නෙ. ඒ කිරණ කොහොම ආවත් මේ ලෝකෙ යම් කිසි ක්‍රමයකට කටයුතු කරන ආකාරය අනුව තමයි හැඩතල සකස් වෙන්නෙ. මොකද මිනිස්සු ග්‍රහණය කරගත්තු ඒව තමයි ග්‍රහ කියන්නෙ.

උදාහරණ විදියට අපි යමකට ආලෝකයක් ඇල්ලුවොත් ඒ ආලෝකයට අනුව නෙවෙයි ඒක අපිට පේන්නෙ, ඒ වස්තුව පිහිටපු හැඩතලය අනුව. එතැන යම් කිසි හැඩතලයක් තියේ නම් ආලෝකය ආධාර කර ගෙන ඒ හැඩතලය අපිට පෙන්නුම් කරනවා. ඒ වගේ මෙතනත් ඕසෝන් ස්ථරය කිව්වම, ඒක හැදිල තියෙන්නෙත් සත්වයින්ගෙ කර්ම විපාකයෙන්. ඒ හැදිල තියෙන්නෙත් යම් කිසි හැඩතලයකට අනුව. හැබැයි ඒ හැඩ තලය හැදෙන්නෙ භෞතික ඝනීභවන පඨවි ධාතුවෙන් නෙවෙයි. අර එන කිරණ, වායු ධාතුවත් එක්ක සම්බන්ධ වෙලා එක්තරා සියුම් ධාතුවකින්. නමුත් ඒ හැඩය අපිට ලේසියෙන් හොයන්න බෑ. හැබැයි ඕසෝන් ස්ථරයේ සමහර තැන්වල තුනියි, සමහර තැන්වල ඝනකමයි. ඒ කියන්නෙ තැනින් තැන වළ ගොඩැලි සහිතයි. ඕසෝන් කියන්නෙ ඝනීභවන වායුවක්. වායුමය ලෝකයක්. ඒක තමයි ආකාස දේවතාවන්ගෙ බිම. ඒ බිම හැදිල තියෙන්නෙත් ඒ අයගෙ ස්වභාවයට අනුව. ඒ නිසා ඕසෝන් ස්ථරයේ හැම තැනම සමාන ගති ස්වභාවයක් නෑ. තැනින් තැන විවිධාකාරයි. සමහර තැන් රස්නෙයි, සමහර තැන් සීතලයි. ඝනීභවන තැන්වල රස්නෙ වැඩියි, තුනී තැන්වල හීතල වැඩියි. මේ වගේ විවිධාකාර තැන් පිහිටනවා. ඒ පිහිටපු ආකාරයට තමයි අර කිරණ ඇවිත් ග්‍රහ මණ්ඩලයක් විදියට පිහිටල පේන්නෙ. ඒ කිරණ අනුවම තමයි ගති ලක්ෂණ එන්නෙත්.

එතකොට මේ රටාව මස් ලේ ඇහින් එක්තරා මට්ටමකින් දකල, ඒක තවත් තීක්ෂණ කරල දිවැසකින් බලල තමයි පෙර ඍෂිවරු ප්‍රකාශ කළේ. ඒ කාලෙ පයින් ගමන් බිමන් යන කොට වෙලාව කීයද කියල බලා ගත්තෙත් ඔය ක්‍රමයට. ආකාසෙ ග්‍රහ මණ්ඩලයෙ පායල තියෙන්නෙ මොන ග්‍රහ රාශියද කියල බැලුවම තරු පෙළක් පේනවා. ඒ තාරකා රාශිය තියෙන තැන අනුව වෙලාව කීයද කියල බලා ගන්නවා. විශේෂයෙන් ඒ කාලෙ රාත්‍රියේ කාන්තාරවල ගමන් කරන කොට වෙන මුකුත්ම පේන්නෙ නෑ, සම්පූර්ණ තැනිතලාව. එතකොට අහස බලල මේ චක්‍රය අනුව තමයි වෙලාව හොයා ගත්තෙ. (මේෂ, වෘෂභ, මිථුන, කටක, සිංහ, කන්‍යා, තුලා, වෘශ්චික, ධනු, මකර, කුම්භ, මීන) උදාහරණ විදියට හවස 6 ට පායල තිබුනෙ කටක රාශිය නම්, එතකොට කටක තමයි මුදුන් වෙලා තියෙන්නෙ. ඊළඟට පැය 6 ක් ගියාම රෑ 12 යි. පිළිවෙලට රාශි චක්‍රය ගැනගෙන ගියාම කන්‍යා රාශිය ඒ වෙලාවෙ මුදුනෙ පායලා. ඒ කියන්නෙ රාශි චක්‍රයේ 6 වැන්නට ආවා. එහෙනම් රාශි චක්‍රයේ 6 වැන්නට ආවම වෙලාව රෑ 12 යි. එතකොට බස්නාහිර ක්ෂිතිජයට කිට්ටු වෙන්න පාන්දර, රාශි චක්‍රයේ කටක රාශිය පේනවා. ඔය විදියට පායල බහින ක්‍රමයට තමයි මේ රාශි ගමන් කරන්නෙ. චක්‍රය හුරු වුනා නම් වෙලාව හරියටම අංශකයටත් කියන්න පුළුවන්. ඒ කාලෙ බට කුඹලක් අස්සෙන් තමයි ආකාසය බැලුවෙ. එතකොට හරියටම විනාඩි ගණනටම එල්ල වෙලා පේනවා. රාශිය කොච්චර දුරකින්ද ගිහින් තියෙන්නෙ කියල ඒ ක්‍රමයට රාශියේ අග මුල බලන්න පුළුවන්.

දැන් එතකොට මේ ග්‍රහ මණ්ඩල පිහිටල තියෙන යම් කිසි ක්‍රම රටාවක් තියෙනවා. හොඳින් අහස දිහා විමර්ශනාත්මකව බලා ගෙන ඉන්න කොට ඒ රටාවේ හැඩය යම් කිසි ආකාරයකට බලාගන්න පුළුවන්. හැබැයි ඒක හරියටම බලා ගන්න නම් නිරවුල් මනසකින් බොහොම තීක්ෂණව බලන්න ඕන. එහෙම නැත්නම් එක් එක් කෙනාට එක එක විදියට තමයි පේන්නෙ. උදාහරණයක් විදියට මොනව හරි අක්‍රමවත්ව ඇඳපු අවුල් රූපයක් දිහා බලන් ඉන්න පිරිසකගෙන් ඇහුවොත් මොනවද පේන්නෙ කියල, එක් එක්කෙනා තම තමන් දකින දේ එක එක විදියට කියනවා. තම තමන් හිතන හිතන විදියට ඒවාට විවිධ අර්ථ නිරූපනයන් දෙනවා. තමන්ගෙ තියෙන ගතියට අනුව ඊට අනුකූල දෙයක් ඒ ඒ පුද්ගලයන්ට මැවිල පේනවා. නමුත් ඍෂිවරු කියන්නෙ එහෙම ව්‍යාකූල මනසක් තියෙන අය නෙවෙයි. යම් කිසි ආකාරයකට හිත දියුණු කරල, තැන්පත් කරල මධ්‍යස්ථ හිතකින්

බලන්න පුළුවන් අය. එතකොට පේන්නෙ ඒකට හිමි නියම ගති රුව, ඒක පිහිටපු නියම ආකාරය.

**කෙනෙක් උපදින කොට ඒ උපදින වෙලාවට මේ ආකාසයේ යම් කිසි චාරයක් පිහිටනවා. ලෝකෙ ක්‍රියාත්මක වෙන කොට, මනුස්ස ලෝකෙත් හැම තැනම ක්‍ෂණයක් ගානෙ ඒ ග්‍රහචාරය වටා කැරකිලා යනවා.** ලෝකෙ කැර කෙන කොට අපි ඉන්න හැම තැනටමත් ග්‍රහ චාරය වටේට කැරකිලා යනවා. ඒ නිසා අපි දැන් ඉන්න තැන තියෙන ග්‍රහ චාරය නෙවෙයි, තව මොහොතකින් තියෙන්නෙ. එතකොට ලග්නයත් වෙනස් වෙනවා. උදාහරණ විදියට මේ මොහොතෙ තියෙන්නෙ මේෂ ලග්නය නම්, ඊළඟට පැය 2 කින් එන්නෙ වෘෂභ ලග්නය. තවත් පැය 2 කින් මිථුන. ඒ ක්‍රමයට මේ ලග්න 12 ම පැය 2 න් 2 ට කැරකෙනවා. එතකොට දවසට පැය 24 යි. උදේ 6 ට පැයුවෙ මේෂ රාශිය නම්, උදේ 8 ට පායන්න තියෙන්නෙ වෘෂභ. මේ ලෝකෙ අපි දකුණට කැර කෙන කොට මේ ලග්න (රාශි) උඩින් වමට කැරකිලා මුදුනෙන් පායල තියෙනව වගේ පේනවා. එතකොට ක්ෂිතිජයේ පැය 2 න් 2 ට පිළිවෙලට මේ ලග්න හෙවත් රාශි විද්‍යාමාන වෙනවා. එතකොටත් ලග්නය වෙනස් වෙනවා. ඒ විදියට පැය 24 ක් යන කොට ලග්න 12 ම පායනවා. එක ලග්නයකට හිමි කාලය පැය 2 යි. ඒ කියන්නෙ විනාඩි 120 යි. අංශක 360, 12 ට බෙදුවම එන්නෙ අංශක 30 යි. ඒකත් කාල වකවානු 5 කට බෙදෙනවා. ඒ අනුව එක කාලයකට හිමි අංශක ගණන ලැබෙනවා. එතකොට මේෂ ලග්නය උදේ 6 ට ආරම්භ වෙනව නම්, ඒ ආරම්භ වෙන්නෙ පළවෙනි අංශකයෙන්. අන්න ඒ වෙලාවෙ උපන් කෙනෙක් මේෂ ලග්නයේ පළවෙනි අංශකයෙන් තමයි උපදින්නෙ. ලග්නයකට අයිති විනාඩි 120 අංශක 30 ට බෙදිල යන කොට විනාඩි 4 කට එක අංශකයක් තමයි යන්නෙ. එතකොට පළවෙනි විනාඩි 4 ගියොත් මේෂ රාශියේ පළවෙනි අංශකය ඉවරයි. විනාඩි 8 කින් උපන්නොත් මේෂ රාශියේ දෙවෙනි අංශකයත් ඉවරයි. එතකොට අංශක 1 යි 2 යි අතර මැද තමයි උපන්නෙ. මේ ක්‍රමයට තමයි උපන් අංශකය හොයන්නෙ.

මේ විදියට එදා හිටපු ඍෂිවරු අහස දිහා නිරවුල් මනසකින් මධ්‍යස්ථව බලන කොට, ඒ අය දකපු ග්‍රහ තාරකා පිහිටල තියෙන රටාවල් 12 ක් තමයි මේ ලග්න 12 ට දාල තියෙන හැඩතලවලින් පෙන්වන්නෙ. එහෙම බලන කොට එළුවෙක්ගෙ හැඩය පිහිටපු කොටසක් අහු වුනාම ඒකට මේෂ කියල කිව්වා. ඊළඟට ගවයෙක්ගෙ හැඩයට පිහිටපු ග්‍රහ තාරකා කොටසක් අහු වුනාම ඒකට වෘෂභ කියල කිව්වා. කාන්තාවකුයි පිරිමියෙකුයි ඉඳගෙන ඉන්න ලාංඡනයක් පිහිටියම ඒකට මිථුන කිව්වා. මිථුන කියන්නෙ මෛථුන කියන එක. ඒ කියන්නෙ කාන්තාවක් සමග පිරිමියෙක් ආදරයෙන් වෙළිල ඉන්න ආකාරය. ඊළඟට කක්කුට්ටෙකුගෙ හැඩයට පිහිටපු රටාවක් අහු වුනාම ඒකට කටක කියල නම දැම්මා. සිංහයෙක්ගෙ මුහුණ වගේ පිහිටපු හැඩතලයට සිංහ කිව්වා. ස්ත්‍රියකගෙ රූපයක ආකාරයට පිහිටල තියෙන හැඩයක් අහු වුනාම කන්‍යා කිව්වා. තරාදියක හැඩයට පිහිටපු කොටසට තුලා කිව්වා. ගෝනුස්සෙකුගෙ හැඩයට පිහිටපු රටාවට වෘශ්චික කිව්වා. දුන්නක හැඩයට සකස් වුනාම ඒ පේන හැඩතලයට ධනු කිව්වා. මකරගෙ හැඩයට පිහිටියම ඒකට මකර කියල කිව්වා. කල ගෙඩියක හැඩයට පිහිටපු රටාව දැකල කුම්භ කිව්වා. ඒ විදියට මාළුවෙක්ගෙ හැඩයට පිහිටපු රටාවට මීන කිව්වා. මේ ලග්න 12 හෙවත් රාශි 12 ට ඒ




නම් දාල තියෙන්නෙ ඒ ඒ හැඩතලයන් අනුව. ඒ පේන විදිය වගේ තමයි ඒවාට හිමි ගති රුවත්. එතකොට ගති රුවයි, ගති ගුණයි, ගති හඬයි එකිනෙකට සම්බන්ධයි. ඒ ගති රුවෙන් පෙන්වන ස්වභාවයට අදාලව තමයි ඒවායේ ගති ගුණත් පිහිටන්නෙ.

එතකොට මේ සියලු හැඩතල එන්නෙ පටිච්ච සමුප්පන්නව දියත් කරපු වැඩ පිළිවෙල අනුව. ලෝකය සියල්ලන්ටම අයිති නිසා, සියල්ලන්ගේම කර්ම වේගය නිසා එක කොටසකට විතරක් මේ රාශි චක්‍රය නතර වෙලා තියෙන්න බෑ. ඒ නිසා මේ චක්‍රය පොදුවේ බෙදෙන්න ඕන. එහෙම බෙදිල ලෝකයේ හැම කෙනෙකුටම මේ චක්‍රය කැරකෙන්නත් ඕන. උදාහරණ විදියට දහ දෙනෙක් එක්ක ගමනක් ගිහින් කෑමට යමක් අහු වුනා නම්, ඒක දහ දෙනාටම බෙදල සමව ගන්න ඕන. ඒ වගේ ක්‍රමයක් තමයි මෙතන තියෙන්නෙ. ලෝකය හදා ගත්තෙ කවුරුත් පොදුවෙ නම් භුක්තිය කාටත් පොදු වෙන්න ඕන. ඒ සඳහා එක තැන තිබිල හරි යන්නෙ නෑ. ඒ නිසා රවුමට කරකව කව දෙන්න ඕන. ඒ හේතුවෙන් මේ ග්‍රහ රාශිවල කැරකීමක් හට ගන්නවා. ඒ විදියට කර කැවෙන්නෙ පොදුවේ සියලු සත්වයින්ටම තම තමන් කරගත්තු හොඳ නරකට අදාල විපාක බෙදෙන්න ඕන නිසා.

එතකොට මේෂ කියන රාශියට එන්නෙ හරියට එළුවගෙ ගති ස්වභාවය. එළුව කියන්නෙ ගල්, හෙල්, කඳු වගේ ඕනෑම කර්කෂ තැනක යන්න එන්න පුළුවන්, ජීවත් වෙන්න පුළුවන් සතෙක්. පුංචි ඉඩකඩක් වුනත් ඌට ජීවත් වෙන්න සෑහෙනවා. ඒ නිසා මේෂ ලග්නය තියෙන පුද්ගලයෙක් ඇසුරු කරල තියෙන්නෙත් ඒ වගේ වැඩ පිළිවෙලක්. ඒ කියන්නෙ ලෝකෙ ඕනෑම තැනක ගිහින් කඳු, හෙල්, කාන්තාර වගේ ලෞකික දේවල් පිළිබඳව විවිධ පර්යේෂණ කර කර හිටපු පිරිසකගෙ වැඩ පිළිවෙලක්. කල්පනා කරල බැලුවොත්, ඒ වගේ පර්යේෂණයකින් සිද්ධ වෙන්නෙ තවත් කෙනෙක් හොයා ගත්තු යමක් පැත්තකට දාල, තමන් පළවෙනි වෙන්න කටයුතු කරන එක. මේ බොහොමයක් ලෞකික පර්යේෂණවල මුල බැලුවොත්, ලෝකෙ අනෙකෙකුට වඩා තමන් යමක් හොයා ගත්ත කියල පෙන්වන්න දඟලන ගති ලක්ෂණයක් තමයි තියෙන්නෙ. ඒ වගේ අවස්ථාවලදී අනුන් හෙළා දකින අවස්ථාත් මේ පර්යේෂණවල තියෙනවා. ඒ නිසාම ඒ වෙනුවෙන් මාන්නයක් හදා ගන්නවා. ඒ තමයි එළු මානය. අනුන් හෙළා දැමීම නිසා තමයි එළු කියන්නෙ. අන්න ඒ එළු ගතියට අනුව කටයුතු කරන ලෞකිකත්වය තුළ තියෙන රාග, ද්වේශ, මෝහවලට කොටු වෙලා ඊට අනුකූලව වැඩ කරපු පිරිසකගෙ වැඩ පිළිවෙල තමයි මේෂ ලග්නයෙන් කියන්නෙ.

ඒ වගේම මේෂ රාශියට අධිපති වෙන්නෙත් කුජ ග්‍රහයා. දූෂ්‍ය මනසකින් කු කියන පහත් දේවල් ජනිත කරන නිසා කුජ කියනවා. කුජ කියන්නෙ තරඟකාරී ස්වභාවය. ඒ නිසා ඕනෑම කර්කෂ තැනක වුනත් ගිහින් තරඟකාරී වැඩ පිළිවෙලක් දියත් කරන්න පුළුවන්. උදාහරණයක් විදියට හමුදාවෙ ඉන්න කෙනෙක් ඕනෑම කර්කෂ තැනක ඉඳගෙන මොනව හරි කාල බීල සටන් කරන්න සූදානම්. බොහෝ කොටම ඒ අයගෙ ලග්නයත් මේෂ. එහෙම නැත්නම් කුජ බලවත්. ඒ වගේ ගති

ලක්‍ෂණයක් තමයි මෙතනදි එන්නෙ.

ඊළඟට වෘෂභ කිව්වම කිරි ගවයට තමයි සම්බන්ධ වෙන්නෙ. ඒ ගති ලක්‍ෂණය පිරිසකට පිහිටියාම ගොවිතැන් බත් ආදී සශ්‍රීකත්වයට සම්බන්ධ වෙනවා. වෘෂභ රාශියට අධිපති වෙන්නෙ සිකුරු ග්‍රහයා. සිකුරු කියන්නෙ සශ්‍රීකත්වය පෙන්වන ලක්‍ෂණයක්. පෙර වැඩ පිළිවෙල ගත්තොත්, සශ්‍රීකත්වය බලාගෙන ගොවිතැන් බත් ආදියෙන් දියුණු වෙලා ලෞකික සැප සම්පත් ලබා ගෙන සුබෝපභෝගී වෙන්න කටයුතු කරපු පිරිසකගෙ ගති ලක්‍ෂණ තමයි පෙන්වන්නෙ. ඒ සැප සම්පත් තමයි සිකුරුගෙන් පෙන්වන්නෙ. ඊළඟට මිථුන කිව්වම මෛථුන හෙවත් කාමයට සම්බන්ධ ගති ලක්‍ෂණය තමයි තියෙන්නෙ. මෛථුනයට අදාල වැඩ පිළිවෙල දියත් කළාම ඊළඟට ඇති වෙන්නෙ දරුවො. ඒ නිසා දරුවන් සහ දරු පරපුර සමග සම්බන්ධ වෙනවා. දාරක ප්‍රේමයත්, මෛථුන සේවනයත් කියන්නෙ දරු ගති ලක්‍ෂණයට සම්බන්ධ හැඟීම් බර පැත්තක්. එතකොට බුධ ග්‍රහය තමයි මිථුනට අධිපති වෙන්නෙ. බුධගෙ ස්වභාවය තමයි ඉගෙනීම හෙවත් දරු ගති ලක්‍ෂණය.

ඊළඟට කටක ලග්නයට සම්බන්ධ වෙන්නෙ කක්කුට්ටෙකුගෙ ගති ස්වභාවය. උගේ ගමන ඉස්සරහට නෙවෙයි, හැම තිස්සෙම හරහට. කවුරු මොනව කිව්වත් තමන්ගෙ ගමන තමන්ට ඕන විදියට යන, නමුත් හරහට යන ගති ලක්‍ෂණයක තමයි පෙර ලැගල තියෙන්නෙ. ඒ කියන්නෙ තමන්ගෙ හැඟීම්වලට වහල් වෙලා හරහටම යන ගති ස්වභාවයක්. හැඟීමට සම්බන්ධ වෙන්නෙ සඳු. හඳ එළිය පෙන්වන්නෙත් හැඟීම් අවුස්සන ස්වභාවයක්. හිතට තැන දීල හැඟීම්බරව කටයුතු කරපු ගතියක් තමයි තියෙන්නෙ. ඒ නිසා සඳු ග්‍රහය තමයි කටක ලග්නයට අධිපති වෙන්නෙ. හැබැයි මේක හොඳ නරක දෙපැත්තටම තියෙනවා.

දූන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මේ කාලෙ කරන සමහර විග්‍රහයන්ට අනුව බුදුන් වහන්සේත් කටක ලග්නයෙන් ඉපදුනා කියනවා, එතකොට ඒ ගති ලක්‍ෂණ උන් වහන්සේට සම්බන්ධ කරන්නෙ කොහොමද කියල. මෙතනදි බුදුන් වහන්සේගෙ ලග්නය කටක කියල කියන්නෙ, සාමාන්‍යයෙන් දළ වශයෙන් මෑත කාලයේ හදාගත්තු කේන්දරයකට අනුව. ඒ කියන්නෙ උපන් වෙලාව අල්ල ගෙන මෑත කාලයේ කියන කතාවක්. නමුත් එදා හදපු කේන්දරය මොකක්ද කියල අපි අද හරියටම දන්නෙ නෑ. දූන් තියෙන එක කොයි ක්‍රමයට ගත්තද කියන්න දන්නෙත් නෑ. උන් වහන්සේ ඉපදිච්ච වෙලාවෙ තිබිච්ච මොනව හරි සටහනක් අල්ල ගෙන එදා තිබිච්ච ග්‍රහචාරය අනුව අද තියෙන විදියට කේන්දරය හදල විග්‍රහ කරනවා. ඒ කොහොම වුනත් උන් වහන්සේ බුදු වුනාට පස්සෙ ඔය ලග්නයෙන් කියන පෙර කතන්දර මුකුත් අදාල වෙන්නෙ නෑ. බුදු වුනාට පස්සෙ ඒව පහු කරල ඉවරයි. නමුත් ප්‍රවෘත්ති විපාක ආදිය එන්න තියෙන ඒවා ඒකෙ සටහන් වෙලා තියෙනවා.

ඒ වගේම උන් වහන්සේ සිදුහත් කුමාරය විදිහට ඉපදුනාට පස්සෙ මොනවද කළේ, අන්තිමට වැයස්ථානයට යන කොට හිස් වෙලා සසර කෙළවර කරපු හැටි .... මේ ආදී වශයෙන් කාරණා කේන්දරයෙන් දූන ගන්න පුළුවන්. එතකොට කටක ලග්නයේ එන කක්කුට්ටගෙ ස්වභාවය උන් වහන්සේගෙ බෝධි සත්ව කාලෙට කොහොමද ගලපන්නෙ? නිකන් මතුපිටින් බලල ඒක හොයන්න බෑ, නමුත් දහමින් පැහැදිලි කරන්න පුළුවන්. කටක සඳුට අයිතියි. ඒ කියන්නෙ හැඟීම්වලට තමයි මුල් තැන දෙන්නෙ. උන් වහන්සේට ආපු හැඟීම් නිසා හැම වෙලේම යන්න තිබිච්ච ලෞකික ගමන් මාර්ගය හරස් කරල හරහටමයි ගියේ. ඒ නිසා තමයි උන් වහන්සේට ලැබෙන්න තිබිච්ච ලෞකික වූ සක්විති රජකමටත් හරස් කැපුවෙ. වෙනත් විදියකින් කියනව නම් ලෞකික මාර්ගයට, ලෞකික වැඩවලට හරස් කපල ලෝකෝත්තර මාර්ගයට ගමන් කළා. ඒ නිසා මේ ලග්නයෙන් කියවෙන දේ හොඳ නරක දෙකටම තියෙනවා. කටක ලග්නය වෙලා හරස් අතට වැඩ කළයි කියන්නෙ මොන අර්ථයෙන්ද කියල බලන්න ඕන. ඒ නිසා උන් වහන්සේ ලෞකික මාර්ගයෙන් හරහට ගියා මිසක් අනික් අයට වගේ පෘතජ්ජන ගමන් මාර්ගයක් නෙවෙයි උන් වහන්සේට තිබුණෙ. ඒ නිසා ලැගපු තැන කියල ලග්නයෙන් කිව්වට, මේ හැම එකකටම හොඳ නරක දෙපැත්තක් තියෙනවා. හැම ලග්නයකටම නීච, සම, සස්තෘ, උච්ච කියල කොටස් 4 ක් තියෙනවා. නීච කියන්නෙ නරක පැත්තක්. සම කියන්නෙ සමාන තත්ත්වයක්. සස්තෘ කියන්නෙ සතුරු වෙනවා. උච්ච කියන්නෙ ඉතා උසස් කියන අදහස. ඒ නිසා පහත් පැත්තට, මැදට, සතුරු පැත්තට, උසස් පැත්තට කියන මේ හතරටම තියෙනවා. ඒ සඳහා ඒ පිහිටපු ආකාරය බලන්න ඕන.

ඒ වගේම තවත් පිරිසක් තමන්ට නායකත්වය ගැනීම හොඳයි කියල ඒක බලාපොරොත්තුවෙන් කීර්ති ප්‍රසංසා ලබන්න වැඩ කරනවා. සිංහයෙක් වගේ නැගී ඉඳල සූර්යා වගේ කටයුතු කරනවා. සූර්යෙක් වගේ ග්‍රහණය කර ගෙන සිංහයෙක් වගේ හිටියම සිංහ ලග්නය ලැගපු තැන වෙනවා. රවි හෙවත් සූර්යා තමයි අධිපති ග්‍රහය වෙන්නෙ. තේජස් බව තමයි සිංහ ගතියෙන් පෙන්වන්නෙ. ඊළඟට කන්‍යා කියන්නෙ ස්ත්‍රී ගති ලක්‍ෂණය. ඒ ගති ලක්‍ෂණය ඇසුරු කරන්න කැමති ළදරු ස්වභාවයක් තමයි ඒකෙන් පෙන්නුම් කරන්නෙ. ඒ විදියෙ ළදරු සුන්දර ලෝකයක් මවා ගෙන කටයුතු කරන නිසා බුධ ග්‍රහය තමයි අධිපති වෙන්නෙ. හැබැයි ඒකත් දෙයාකාරයි. ළයාන්විත බවත්, යටහත් පහත් ගතියත් මේකෙන් පෙන්වනවා. ඒකත් හොඳ නරක දෙකටම තියෙනවා. ඊළඟට නිතරම සන්සන්දනාත්මකව හොයල බලල තමන්ට අවශ්‍ය විදියට, පාඩු නොවන විදියට කටයුතු කරන්න ගියාම ඊට අදාලව දියත් කරපු වැඩ පිළිවෙල තමයි තුලා ලග්නයෙන් පෙන්වන්නෙ. තමන්ගෙ වාසියට මෙහෙම කළොත් ලාභයි, මෙහෙම කළොත් පාඩුයි කියල තමන්ම තීරණය කරල තුලනය කරමින් කටයුතු කරපු ගති ලක්‍ෂණය තමයි තුලා ලග්නයෙන් පෙන්වන්නෙ. ඒ ගති ලක්‍ෂණයෙන් තමන්ට යස ඉසුරු ගේන නිසා අධිපති වෙන්නෙ සිකුරු ග්‍රහය.

ඊළඟට වෘශ්චික ලග්නයෙන් පෙන්වන්නෙ ගෝනුස්සෙකුගෙ ස්වභාවය. ගෝනුස්සට තරහ ගියාම තමන්ගෙ නැට්ටෙන් තමන්ටම ගහ ගන්න ස්වභාවයක් තමයි තියෙන්නෙ. අන්තිමට තමන්ගෙ තරහින් තමන්ම මැරෙනවා. සැඩ පරුෂ ගති ලක්‍ෂණ තමයි තියෙන්නෙ. ඒ ගති ලක්‍ෂණ මිනිස්සුන්ට පිහිටියම නුසුදුසු තැන්වල තමයි ගවේශනය කරන්නෙ. ලෞකිකත්වය තුළ හොඳයි කියල අල්ල ගත්තු යම් කිසි දෙයක් ලබා ගන්න චණ්ඩිකම් කරනවා, සටන් කරනවා. එහෙම ලොකුකම් කරල තමන්ගෙ අවශ්‍යතාවය සපුර ගන්න බලනවා. ඒ විදියට නුසුදුසු ගවේශනවල යෙදුන නිසා තමයි ගෝනුසු කියන්නෙ. ඒ නිසා අධිපති ග්‍රහය වෙන්න කුජ. තරඟකාරීත්වය වගේම සැඩ පරුෂ ගතියත් කුජගෙන් පෙන්වනවා.

ඊළඟට සියුම්ව හිතල බලල යමක් කරන ගති ලක්‍ෂණයක් තමයි ධනු ලග්නයෙන් පෙන්වන්නෙ. දුන්න තමයි ලාංඡනය. ඒ කියන්නෙ යමකට විදිනව නම් විදින්නෙත් සියුම්ව හොඳට හිතල බලල. යමකට විද්දොත් තමයි ඇතුලෙ තියෙන්නෙ මොනවද කියල දකින්නෙ. ඒක විද්‍යාවෙන් බැලුවොත් තමයි හොඳ නරක තෝර ගන්න පුළුවන් වෙන්නෙ. ඒ විදියට හොඳ නරක තෝර ගත්ත ගති ලක්‍ෂණයට අදාල වැඩ පිළිවෙල ක්‍රියාත්මක කිරීම තමයි ධනු ලග්නයෙන් පෙන්වන්නෙ. එතකොට අධිපති ග්‍රහය වෙන්නෙ ගුරු. ඒ සඳහා ගුරු හරුකම් දෙන ස්වභාවය තමයි ☞

ගුරුට තියෙන්නෙ.

ඊළඟට තව පිරිසක් ඒ විදියට හොඳ නරක තෝර ගෙන තමන්ට වාසි වෙන විදියට ලෞකිකත්වය තුළ ඉඳගෙන පිං කිරීමත්, උපක්‍රම කිරීමත් මමත්වයෙන් දියත් කරපු නිසා ඒ හැම දෙයක්ම, මා කරා හෙවත් තමා කරාම එන වැඩ පිළිවෙලක් හදා ගන්නවා. ඒ ගති ලක්ෂණය තමයි මකර ලග්නයෙන් පෙන්නුම් කරන්නෙ. මකර ලග්නයට අධිපති වෙන්නෙ ශනි ග්‍රහය. ඒ කියන්නෙ අනුන්ට හෙණ ගැහිල ගියත් කමක් නෑ, තමන්ට වාසි වෙන විදියට තමයි ග්‍රහණය කර ගන්නෙ. හැබැයි මේ එක පැත්තක් විතරයි. ඒකම හොඳ පැත්තටත් තියෙන්න පුළුවන්. ඒ කියන්නෙ නරක පැත්තට හෙණ ගැහිල ගියත් කමක් නෑ කියල, තමන් විශේෂ යහපතක් කරන පුද්ගලයෙක් වෙන්න ඕන කියන අදහසින් තමා කරා එන වැඩපිළිවෙලක් හදා ගන්න පුළුවන්.

ඊළඟට මමත්වයෙන් ගත්තු දේවල් එකතු කරල රැස් කරල තියා ගෙන වත්කම් ඇති කර ගන්න ස්වභාවය තමයි කලගෙඩියට සම්බන්ධ කරල කුම්භ ලග්නයෙන් පෙන්වන්නෙ. කල ගෙඩියක් වගේ පුරව ගෙන ඉන්නවා. ඒකෙත් ලග්නාධිපති වෙන්නෙ ශනි. සෙනසුරුගෙ ඇතුලෙ මුකුත් ගුණයක් නෑ. ඒකත් නිකං හිස් කලයක් වගේ. මොනවත් හරයක් ගන්න නැති නිසා හිස් කළ ගෙඩියක් වගේ වෙනවා. එතකොට පුහු පුද්ගලයටත් හිස් බවක් පෙන්වන්න යොදා ගන්නවා. ඒ වගේම ලෝකය අත හැරපු ලෝකෝත්තර කෙනාටත් හිස් බවක් තියෙනවා. ඒ අර්ථයත් මෙතනදි එනවා. ඒ නිසා මේ හිස් බව කියන වචනය පොදු වචනයක්.

දැන් මේ විදියට කොච්චර රැස් කර ගෙන තියා ගත්තත් කවද හරි ඒ සියල්ලම දාල යන්න සිද්ධ වෙන දවසක් එනවා. ඊළඟට මේ සංසාර සාගරයේ පිහිනන්න වෙනවා. ඒ සඳහා තවත් එකක් අල්ල ගන්න වෙනවා. මීන ලග්නයේ මාළුවගෙන් පෙන්නුම් කරන්නෙ අන්න ඒ ගති ලක්ෂණය. මොනව කළත් මේ චක්‍රය හේතුඵල අනුව කැරකිලා උපක්‍රමයෙන් කපටිකමින් ගහ මරාගෙන හෝ හරි හම්බ කර ගෙන ලාභ කීර්ති ප්‍රසංසා ලබාගෙන ඒවා භුක්ති විඳ ගෙන හිටියට, අන්තිමට කවුරුත් ඒ සේරම දාල මැරිල යනවා. හැබැයි මැරිල ගිහින් එතනින් නතර වෙන්නෙ නෑ. නැවතත් ඒ ජාතියේම වැඩ පිළිවෙලක් හදාගන්න සංසාර සාගරයෙ පිහිනන එකමයි කරන්නෙ. එතකොට සංසාර සාගරයේ පිහිනල අලුත් භවයක් හදා ගන්න නම් ඒකට ගුරු හරුකම් ඕන. ඒ නිසා ගුරු තමයි මීන ලග්නයට අධිපති වෙන්නෙ.

දැන් මේ පෙන්වපු චක්‍රය නිවන් දැකල පිරිනිවන් පාන කල් හැම සත්වයෙකුටම අඛණ්ඩව සිද්ධ වෙනවා. එතකොට මේ කේන්ද්‍රයක් කියන එක දැනට හදල තියෙන්නෙ අවුරුදු 120 ක පරමායුස විදියට අරගෙන මනුස්සයින් මුල් කර ගෙන. නමුත් මේක මනුස්සයින්ට විතරක් නෙවෙයි දෙවි, බඹ, තිරිසන් ආදී හැම සත්වයෙකුටම තියෙනවා. නමුත් ඒ අනික් සතුන්ට කවුරුවත් කේන්දර හදල නෑ. සතෙකුට වුනත් මහ දසා අතුරු දසා ගන්න ඕන. උදාහරණයක් විදියට බල්ලෙක් නම්, ඌ අවුරුදු 12 ක් පරමායුස විඳිනව නම්, ඌට හිමි ආයුස අරගෙන තමයි කේන්දරය හදන්න ඕන. එතකොට දැන් ඉන්න මනුස්සයින්ට අවුරුදු 120 ට තමයි මහ දසා හදල තියෙන්නෙ. ඒ අවුරුදු 120 ගන්න චක්‍රයක් තියෙනවා. රවිට අවුරුදු 6 යි, සඳුට අවුරුදු 10 යි, කුජට අවුරුදු 7 යි, බුධට අවුරුදු 17 යි, ගුරුට අවුරුදු 16 යි, සිකුරුට අවුරුදු 21 යි, ශනිට අවුරුදු 19 යි, රාහුට අවුරුදු 18 යි, කේතුට අවුරුදු 6 යි. මේ ටික එකතු කළාම අවුරුදු 120 යි. මේ පරමායුස අවුරුදු 120 ඇතුලෙ තමයි මේ



ග්‍රහයො 9 දෙනා ඊට හිමි කාලයන් ගත කරන්නෙ. එදා හිටපු ඍෂිවරු ග්‍රහයගෙන් ග්‍රහයට ඒ යන කාල සීමාව දැන ගෙන තමයි ඒක හදල තියෙන්නෙ. එතකොට ඒ කාල සීමාවෙ ඒ පුද්ගලයා කරපු හොඳ හෝ නරක අනුව තමයි ඒකට හිමි ග්‍රහය ගිහින් තැන්පත් වෙන්නෙ. ඒ සඳහා අර 1, 2, 3, 4.... ආදී වශයෙන් ඒ ග්‍රහය ඉන්න කොටුව බලන්න ඕන. එතකොට ඒ පුද්ගලයට හිමි ලග්නයේ ඉඳන් 1, 2, 3 .... වශයෙන් ගැන්නම මොන රාශියට අදාල කොටුවෙද ග්‍රහය ඉන්නෙ කියල බලාගන්න පුළුවන්.

රාශි 12 ගත්තම වත්තක අයිතිකාරය තමයි ඒ කොටුවෙ ඉන්නෙ. උදාහරණ විදියට ලග්නය කන්‍යා නම්, එතන ඉඳල රාශි චක්‍රය ගැනගෙන යන කොට 2 වැන්න අයිති තුලාවට. තුලාවට අධිපති වෙන්නෙ සිකුරු. ඒ නිසා ඒ අවස්ථාවෙදි 2 වැන්න කියන්නෙ සිකුරුගෙ ඉඩමක්. ඊළඟට වෘශ්චික, ධනු, මකර, කුම්භ, මීන විදියට 3, 4, 5, 6, 7 වශයෙන් ගිහින් නැවතත් 8 වැන්නෙදී මේෂ රාශියට එනවා. ඒ විදියට තමයි රවුමට මේ රාශි 12 යන්නෙ. කොහොම හරි ලග්නෙ ඉඳල යන තැන රවුමට ගනින්න ඕන. ඒ විදියට 12 ට ගනින කොට ඒ ඒ රාශියට හිමි ග්‍රහයෙක් එනවා. ඉහත උදාහරණය ගත්තොත් 3 වැන්න එන්නෙ වෘශ්චිකට. ඒක කුජට අයිතියි. ඒ නිසා එතනදි 3 වැන්න කුජගෙ ඉඩමක්. ඊළඟට 4 වැන්න ධනු. ඒක ගුරුට අයිතියි. 5 වැන්න මකරට. ඒක ශනිට අයිතියි. 6 වැන්න කුම්භ. ඒකත් ශනිට අයිතියි. 7 වැන්න මීන. ඒක ගුරුට අයිතියි. මේ විදියට නැවත වරක් මේෂයෙන් පටන් ගන්නවා. එතකොට 8 වැන්න මේෂ. ඒක කුජට අයිතියි. 9 වැන්න වෘෂභ. ඒක සිකුරුට අයිතියි. 10 වැන්න මිථුන. ඒක බුධට අයිතියි. 11 වැන්න කටක. ඒක සඳුට අයිතියි. 12 වැන්න සිංහ. ඒක රවිට අයිතියි. ඒ විදියට තමයි රවුම යන්නෙ. මේ කාරණයත් ඍෂිවරු දැකල පෙන්වපු දෙයක්.

ඒ ඒ ඉඩම් කෑල්ල (රාශිය) අයිති ග්‍රහයගෙ ස්වභාවය තමයි ඒ කොටුවට ග්‍රහය ආවම ඒ පුද්ගලයට තියෙන්නෙ. එතනදි බලන්න ඕන ඒ ග්‍රහය ඉන්නෙ ඒ පුද්ගලයගෙ ජන්ම පත්‍රයේ කොටුවෙ හොඳ තැනකද නරක තැනකද කියල. ඒක බලන්නත් ක්‍රමයක් තියෙනවා. ඒකට ඒ ග්‍රහය කොටුව තුළ පිහිටපු අංශක ගණන ගන්න ඕන. එක කොටුවකට අංශක 30 යි. ඒ වගේ කොටු 12 ට අංශක 360 යි. මේ චක්‍රය අංශක 360 ට බෙදල තමයි අංශකයක් කියන්නෙ. එතකොට එක කොටුවකට අයිති වෙන අංශක 30 න් අංශක 1 - 5 දක්වා කාලය කියන්නෙ ඒ ග්‍රහයගෙ ළදරු කාලය. 5 - 10 දක්වා ළමා කාලය. මේ විදියට අංශක 5 බැගින් කාල වකවානු 6 කට බෙදෙනවා. එයින් අවසාන කාලය මහළු කාලය. ඒ නිසා නියම තත්ත්වය බලා ගන්න ඕන නම් මේ විදියට පිහිටල තියෙන අංශක ගණන බලන්න ඕන. ඕනෑම ග්‍රහයෙක් ගිහින් කොටුව තුළ පිහිටල තියෙන්නෙ අංශක 5 න් මෙහා නම්, ඒ ග්‍රහය ළදරු විදියෙ ප්‍රතිඵල තමයි දෙන්නෙ. ළදරු ස්වභාවයට ලොකු ප්‍රතිඵලයක් අත් කරල දෙන්න හැකියාවක් නෑ. ඒ නිසා ග්‍රහය රාශියේ (කොටුවේ) හිටිය පළියට ප්‍රතිඵලවල තත්ත්වය කියන්න බෑ. ඒ රාශිය තුළත් ඉන්න අංශක ගණන බලන්න ඕන.

ඊළඟට 5 - 10 දක්වා ළමා කාලය

කියන්නෙත් එච්චර තදබල ප්‍රතිඵල දෙන කාලයක් නෙවෙයි. ඊළඟට 10 - 15 දක්වා එන තරුණ කාලය බලවත්. ඊට පස්සෙ 15 - 20 දක්වා එන මැදි කාලයත් බලවත්. ග්‍රහය බලවත් වෙන්න නම් මේ අවස්ථා 2 තුළ තියෙන අංශක ගණන ඇතුලෙ තමයි ඉන්න ඕන. ඒ කියන්නෙ අංශක 10 - 15, 15 - 20 දක්වා කාලයන් බලවත්. 25 ට යන කොට සාමාන්‍යයි. 30 ට යන කොට මහළුයි. ඒ කියන්නෙ රාශිය අවසන් වෙන්න ග්‍රහය පිහිටියොත්. ඒ විදියට අනික් කොටුවලටත් යනවා. මේ විදියට මේ සම්පූර්ණ අංශක 360 තුළ තමයි ග්‍රහයො කැර කෙන්නෙ. ඒ නිසා කෙනෙක්ගෙ ලග්නය නිකම්ම බලල හොඳද නරකද කියල කියන්න බෑ. මේ මොන අංශක පරතරයෙද ග්‍රහය තැන්පත් වෙලා ඉන්නෙ කියලත් බලන්න ඕන. ඒකෙන් තමයි ඒ පුද්ගලයා කරපු වැඩ පිළිවෙල මොන වගේද කියල හරියටම කියන්න පුළුවන් වෙන්නෙ. එතනදිත් දෙපැත්තක් තියෙනවා. උදාහරණ විදියට උසස් වැඩ කරල තිබුණොත් සුභ ග්‍රහයින්ගෙ තැන්පත්වීම උච්චයි. ඒ වගේම දරුණු විදියට නරක පැත්තක් දියත් කරල තිබුණොත්, ඒ හේතුව නිසා නරක ග්‍රහයෙක් නරකටත් උච්ච වෙන්න පුළුවන්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ද සමඟින් සටහන් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 41 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - මගලෙගොඩ - රු. 5,000/- ♦කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු.4,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව - රු.3,000/- ♦ රංජනී ජයසූරිය මහත්මිය - මීරිගම - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩබ්.ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්.කේ. නලින සේකර මහතා - වළල්ලාවිට - රු. 2,500/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා - මාරවිල - රු. 2,000/- ♦ ශිරෝමි අත්තනායක මහත්මිය - කිරින්ද - රු. 2,000/- ♦ එම්. ඩී. නිහාල් මහතා - පැලියගොඩ - රු. 2,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල - රු. 2,000/- ♦ එම්. ඒ. චම්පා එරන්දතී මහත්මිය - හැටන් - රු. 2,000/- ♦ ඩබ්.ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 2,000/- ♦ ඉන්ද්‍රානි විසාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ♦ වයලට් වික්‍රමආරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ ප්‍රේමා ගීකියනගේ මහත්මිය සහ නිශාන්ත තිලකරත්න පුතා - හොරණ - රු. 1,500/- ♦ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,500/- ♦ ඉරේෂා ඇන්ඩෘ මහත්මිය, ප්‍රනීෂා නයෝමි මහත්මිය සහ සරත් චන්ද්‍රසිරි ඇන්ඩෘ මහතා - හෝමාගම - රු. 1,500/- ♦ ජයනාත් සුභසිංහ මහතා - හෝමාගම - රු. 1,500/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු.1,000/- ♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ චන්ද්‍රානි පෙරේරා මහත්මිය සහ ඉසුරු උදාන මහතා - පානදුර - රු.1,000/- ♦ කසුන් තාරක වික්‍රමසූරිය මහතා සහ සිතුමිණි ප්‍රබෝධා මහත්මිය - පානදුර- රු.1,000/- ♦ පී.ඩී. සෂිකලා නිරෝෂනී මෙනවිය - මීගොඩ - රු.1,000/- ♦ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු.1,000/- ♦ ගයාන් ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු.1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු.1,000/- ♦ ශශිකා කරවිට මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම- රු.1,000/- ♦ සිසිර චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පිළියන්දල - රු.1,000/- ♦ මහින්ද්‍ර ජයතිලක මහතා - වෙල්ලපල්ල - රු.1,000/- ♦ එස්. පද්මලතා මහත්මිය - යටවක - රු.1,000/- ♦ ඊ. රොසලින් උපාසිකා මාතාව- ජාඇල - රු.1,000/- ♦ නිරෝෂ් සපරමාදු මහතා - කොච්චිකඩේ - රු.1,000/- ♦ කුසුම් වික්‍රමසිංහ සහ නන්දනී කරස්නාගොඩ යන මහත්මීන් - රදාවාන - රු.1,000/- ♦ චන්දිම ජයසංඛ දාස්වත්ත මහතා - දාම්පේ - රු.1,000/- ♦ ඩී.කේ. එම්.ආර්. ප්‍රියදර්ශනී මහත්මිය ඇතුලු පවුලේ සැම - බේරුවල - රු.1,000/- ♦ ජීවනී මධුරාවල මහත්මිය - ඒකල - රු.1,000/- ♦ සුරේෂ් චින්තක මහතා - නුවරඑළිය - රු.1,000/- ♦ කිවිනි කියාරා ගාර්දිහේවා දියණිය - පිළියන්දල - රු.1,000/- ♦ ප්‍රේමා අබේරත්න මහත්මිය - පේරාදෙණිය - රු.1,000/- ☞

♦ නයෝමි ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ♦ ඩබ්.ජී. සුනීතා මහත්මිය සහ ජේ.ඩබ්.කේ. ජයතිලක මහතා - යටත්තාවල - රු.1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, උවිදි වික්‍රමසිංහ මෙනවිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, හෙසඳ සත්කුමාර පුතා - කුරුණෑගල, ශ්‍රී රංජිත් සිංහ මහතා - කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, එච්.ඩබ්. කුසුමාවතී මහත්මිය - තෙබුවන, සරත් විමලවීර මහතා - යෝගියාන, අසංක ජයවර්ධන මහතා - කැස්බෑව, රුවන් පතිරණ මහතා - සඳලංකාව, සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල, තිස්ස අතාවුද මහතා - ජාඇල, පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ, බී.ජී. කීර්ති ප්‍රසාද් නන්දජීව මහතා - ගොඩගම, නිර්මාල් සංකල්ප බණ්ඩාර පුතා ඇතුළු පවුලේ සැම, රංජිත් මහතා - හෙට්ටිපොළ, කසුන් එරංග මහතා - සීදූව, ජී.ඩී. සුදත් ප්‍රේමලාල් මහතා - කැස්බෑව - රු. 10,900/-♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 142,900/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 12,790/- ♦ සම්පූර්ණ වියදම - රු. 245,290/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
14. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
15. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0713228571

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# අද අම්මා...



මුදු ගුණ මව්ට උරුමවු කිසි නොකර පෙමා
සුදු බව පෙනෙන්නට පිට හම ඔපය දමා
වැදු දරුවන්ද ලොව පොර පිටියකට යොමා
නිදුකින් ඉන්න හදනව ගිලගෙනම ඇමා

වයසට නොගැලපෙන ලෙස හැඩ කරන ගත
නිවසට නොහොබිනා ලෙස උපකරණ ඇත
ණයකට වුවද ගැනුමට පොළඹවන හිත
ලොවකට බැඳ තබයි දරුවොද නොමග යත



ලොව අල්ලන්ට තරඟෙට දරු දුක දීලා
දිව යන අවිදුවක හිර කොට පැටලීලා
දවසම බිය සැකෙන් සිතිවිලි බර වීලා
තව තව සොයයි සහතිකයට රැවටීලා

ගොම මැටි පිඬක් බිම ගා පිරි මදින හැටී
නොම දැන ගෙනත් රථ වාහන වැඩිය වටී
උම ගුණ නෙළන ගති විසි කර ලොවට ගැටී
පමණට වැඩිය ගිය මව් ඇත නමට වැටී






නැලවිලි ගීතයක ගුණ නොහඳුනන ලෙස
රැවටිලි සමග බොළඳ වු පද වැලක බැස
නොම එළි කරන් නිවසට සිරි ගෙනෙන බස
සිතිවිලි නගයි ලොව නටවන විරිත දෙස

දිව සුරැකුම් හළක දරුවන් හැර යන්නේ
නිවසින් පිටව මිල මුදලට පොර කන්නේ
දවසින් දෙකෙන් ගේ දොර උකසට දෙන්නේ
මුවගින් සිනහ මුත් මනසින් ගිනි ගන්නේ

සංකර වැඩද දෙයි නම් කම් සැපය නිතී
ලං කර දරුවනද මව් පිය එකට වෙතී
කොන් කර සුමුදු ගුණ මවකට උරුම ගතී
පින් කර ඇතත් පෙර මතු නිවනකට නැතී

දිරව ගත නොහී ලොව දම් අද අම්මා
සරල දිවිය ඉවතට විසි කර දැම්මා
කරන කෙළි නැටුම් තරඟෙට ගෙන ගැම්මා
මරණ මොහොත ආවත් කරනව පෙම්මා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# පිළිකුල අසුභය

## මේ ලෙස වේ...



සම්මත වී ඇති පිළිකුලයේ
දම් නැත නිවනට කිසි කලයේ
නිම් නැති කුණු ඇති ලොව තලයේ
කම් ඇත පිළිකුල් අකුසලයේ

ලොව පිළිකුල් කරනා නෙක දේ
අවබෝධෙන් ඉවතට ලන දේ
නිවනට සහයක් ගෙන දෙන දේ
නුවණින් ගත යුතුමය හැම දේ





බය ලැජ්ජා විය යුතු දේට
විය යුතු පිළිකුල හැම දාට
කය නොව සිත නම් කළු පාට
එය අසුබය හිමි වුව කාට

මළ මූ කෙළ සොටු යන මේවා
බලවයි සත පිළිකුල නාවා
හළ කෙලෙසුන් අරී සිත ගාවා
තිලකුණ නම් පිළිකුල ආවා





හර නැති දේ ලොව පිළිකුල් වේ
සරනට නුසුදුසු මැයි බොල් වේ
දුරලන්නට හැකි හැම කල් වේ
අරගත යුතු අරී දම මුල් වේ

පිටතින් ඇති පිළිකුල බලලා
කෙලෙසුන් ගත නොහැකිය වළලා
සැනසෙන්නට පිළිකුල හළලා
නුවණින් ගත යුතුමය පොළලා





වලකා පිළිකුල පිටත ඇතී
නොලබයි අවබෝධයක පැතී
තිලකුණ දැක පිළිකුලක සිතී
ගැලවෙයි කුණු නිවනටම වෙතී

සතර මහා ධාතුවෙහි වෙනා
නොතිර බවද අසුබයම ගෙනා
අතර තියෙන දුක සැපද දැනා
නිතර සිහි කළොත් නිවන දෙනා





පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.